## රටක් හෙල්ලූ පොතක්



ලෝකය හෙල්ලූ පොත් හෙවත් ලෝකය වෙනස් කළ පොත් හැටියට හැඳින්වෙන කෘතීන් ගැන අපි අසා ඇත්තෙමු. කාල් මාක්ස්ගේ Das Kapital, චාල්ස් ඩාවින්ගේ Origin of Species සහ මැකියවැලීගේ The Prince ඊට නිදසුන් කීපයකි. එපමණක් නොව ප්‍රංස මහා විප්ලවයේ ගිනිපුපුර අවුළුවාලීමට මුල්වූයේද පොතකි. එනම් රූසෝගේ The Social Contract නමැති කෘතියයි.

අපේ පැත්තෙන් බලන විට, ලංකාව වෙනස් කළ - නැත්නම් ලංකාව හෙල්ලූ පොත් අතර ප්‍රමුඛස්ථානය මහාචාර්ය වල්පොළ රාහුල ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ 'භික්ෂුවගේ උරුමය'ට හිමි විය යුතු බව බුද්ධිමතුන්ගේ මතයයි. හතළිහේ දසකයේ දේශපාලකයන් බෞද්ධ භික්ෂුව පන්සල තුළ කොටුකර තැබීමට දැරූ ප්‍රයත්නය ලත් තැනම ලොප් කරමින් භික්ෂුව පන්සලෙන් එළියට ගෙන ජාතික සේවයට යොමු කළේ 'භික්ෂුවගේ උරුමය' පොතය. ශ්‍රී ලංකාවේ භික්ෂු සමාජය පමණක් නොව, ආගමික, දේශපාලන සංස්කෘතික සහ සාමාජික යන අංශවල නව පිබිදීමට මුල් වූයේ 'භික්ෂුවගේ උරුමය'යි.

1946 දී 'භික්ෂුවගේ උරුමය' මුලින්ම පිටවූ අවස්ථාවේ එය කියවූ විද්‍යාලංකාර බලවේගයේ ජීවනාලිය වූ යක්කඩුවේ ප්‍රඥාරාම නාහිමියෝ මෙසේ කීහ. ''රාහුල ස්ථවිරයෝ මින්පස්සෙ වෙන කිසිම පොතක් නොලිව්වට කමක් නෑ. ඔබ වහන්සේ අමරණීය වීමට 'භික්ෂුවගේ උරුමය' නමැති මේ එක පොත විතරක් හොඳටම ඇති.''

ඊට අවුරුදු විසි අටකට පසු 1974 දී භික්ෂුවගේ උරුමය ඉංගිරිසි පරිවර්තනය ගැන අදහස් දක්වමින් ඇමෙරිකාවේ නෝර්ත් වෙස්ටර්න් විශ්වවිද්‍යාලයේ මහාචාර්ය (ක්‍රිස්තු භක්තික) එඩ්මන්ඩ් ඇෆ්. පෙරි මහතා මෙසේ කීවේය. ''රාහුල හිමියන් 'භික්ෂුවගේ උරුමය' ලියා ඇත්තේ උන්වහන්සේ එක් රැස් කරගත් මහා ඥාන සම්භාරයෙන් පිටාර ගලා ගිය කොටස උපයෝගී කරගනිමිනි.

එසේ වුවද, රාහුල හිමියන් සිය පාණ්ඩිත්‍යයේ ලක්ෂණ සියල්ල ප්‍රදර්ශනය කරමින්, ඉතා පහසුවෙන් ලියා ඇති 'භික්ෂුවගේ උරුමය' ඉදිරියේදී, බුද්ධාගම හා සමාජය සම්බන්ධයෙන් යුරෝපීය, බ්‍රිතාන්‍ය සහ ඇමෙරිකානු පර්යේෂකයන් විසින් ලියා පළකොට ඇති පොත් බොහොමයක් හාස්‍යයට ලක්වී තිබේ.

**ගුණදාස ලියනගේ**

300/-

සී/[illegible] සහ සහෝදරයෝ (පුද්.) සමාගම
[illegible]ප්‍රකාශකයෝ
[illegible] මාවත, කොළඹ 10.
[illegible]5 ෆැක්ස්: 2674187
[illegible]ageem@slt.lk
පිටු[illegible]

ISBN 955-20-0773-9



9789552007736





භික්ෂුවගේ උරුමය

වල්පොල රාහුල

# භික්ෂුවගේ උරුමය

## වල්පොළ රාහුල

# භික්ෂුවගේ උරුමය

මුල්කාලයේ පටන් අද දක්වා
භික්ෂූන්ගෙන් සමාජයට සිදුවූ
සේවය පිළිබඳ
ලුහුඬු ඉතිහාසයක්


කැලණිය විශ්වවිද්‍යාලයේ කුලපති, අග්ගමහාපණ්ඩිත,
ධර්මශාස්ත්‍ර ශිරෝමණී, ත්‍රිපිටක වාගීශ්වරාචාර්ය

## පූජ්‍ය වල්පොළ ශ්‍රී රාහුල

මහාචාර්යපාදයන් වහන්සේ විසිනි.





**සීමාසහිත**
**ඇස්. ගොඩගේ සහ සහෝදරයෝ (පුද්.) සමාගම**

පළමුවැනි මුද්‍රණය 1946
දෙවැනි මුද්‍රණය 1948
තුන්වැනි මුද්‍රණය 1992
හතරවැනි මුද්‍රණය 1999
පස්වැනි මුද්‍රණය 2008
සවැනි මුද්‍රණය 2012

**භික්ෂුවගේ උරුමය**



ISBN 955-20-0773-9

පිටුවැසුම් නිමැවුම:
ජයසිරි සේමගේ

පරිගණක අක්ෂර සංයෝජනය:
තුල්සි ප්‍රියශාන්ති ඉලංගකෝන්

ප්‍රකාශනය:
**සී/ස ඇස්. ගොඩගේ සහ සහෝදරයෝ (පුද්.) සමාගම**
675, පී. ද ඇස්. කුලරත්න මාවත, කොළඹ 10.

මුද්‍රණය:
**චතුර මුද්‍රණාලය**
69, කුමාරදාස පෙදෙස, වැල්ලම්පිටිය.

R- 607/ 1253 / 2000

# පටුන

පිට

පරිච්ඡේද



උප ග්‍රන්ථය

# සිතුවම්

පළමුවැනි මුද්‍රණයේ

# මතක් කිරීම

නොඑක් කටයුතු මධ්‍යයේ කිසිත් විවේකයක් නැති අවස්ථාවක හදිසියේ මේ පොත ලියන්නට සිදුවිය. එහෙයින් මෙහි බොහෝ අඩුපාඩුකම් ඇති බැව් දනිමි. නැවත මුද්‍රණයක දී ඒවා සම්පූර්ණ කරන්නට ලැබේ යයි සිතමි. එසේ සකස් කළ යුතු තැන් කරුණාවෙන් මා වෙත දන්වා එවන භවතුන්ට මගේ කෘතඥතාව හිමි වෙයි.

ලංකා විශ්වවිද්‍යාලයෙහි මාගේ ශාස්ත්‍රීය පර්යේෂණයන් පිළිබඳ ආචාර්ය වූ මහාචාර්ය ගුණපාල මලලසේකර මහතා සමග මෙහි දැක්වෙන සමහර කරුණු ගැන සාකච්ඡා කරන්නට ලැබීම ඉතා ප්‍රයෝජනවත් වූ බැව් ස්තුතිපූර්වකව සඳහන් කරමි.

මෙය පිළියෙල කිරීමේ දී නොඑක් විනය ප්‍රශ්නයන් ගැන සාකච්ඡා කිරීමෙන් මට උපකාර කළ විද්‍යාලංකාර පිරිවෙන්හි විද්‍යාලයාධිපති විනය පිළිබඳ විශේෂඥයකු වූ ත්‍රිපිටකාචාර්ය හැඩිපන්නල ප්‍රඥාලෝක ස්ථවිරයන් වහන්සේට මාගේ කෘතඥතාව පිරිනැමෙයි. මහනුවර මල්වත්තෙන් නායකකම් ලබන ස්ථවිරවරුන් ඉංග්‍රීසි ආණ්ඩුවට සුපක්ෂව සුවචව වෙසෙමින් ආණ්ඩුවට විරුද්ධව කරන කියන දේ ගැන ආණ්ඩුවට ඔත්තු කිය යුතු යැයි ඒ නායකකම් පවරන ඔප්පුවේ (සන්නස් පත්‍රයේ) සඳහන් බැව් මට පෙන්වා දෙන ලද්දේ ද ප්‍රඥාලෝක ස්ථවිරයන් වහන්සේ විසින් බැව් මෙහි විශේෂයෙන් සඳහන් කරනු කැමැත්තෙමි.

එසේ ම යම් යම් කරුණු සපයා දීමෙන් හා සාකච්ඡා කිරීමෙන් මට ආධාර දුන් විද්‍යාලංකාර පිරිවෙන්හි අධ්‍යක්ෂ තැන්පත් ආචාර්ය යක්කඩුවේ ශ්‍රී ප්‍රඥාරාම ස්ථවිරයන් වහන්සේට ද, ත්‍රිපිටකාචාර්ය කොටහේනේ ප්‍රඥාකීර්ති ස්ථවිරයන් වහන්සේට ද, කැලණියේ ශ්‍රී ධර්මාලෝක විද්‍යාලයාධිපති ඩී. බී. ධනපාල මහත්මයාට ද මගේ

හෘදයංගම ස්තුතිය හිමිවෙයි. විද්‍යාලංකාර පිරිවෙන්හි මහා විද්‍යාලයාධිපති ගෞර්වාර්හ පණ්ඩිත මාදෝවිට ශ්‍රී ඥානානන්ද මහාස්ථවිරයන් වහන්සේ මේ ගැන නොඑක් විට සාකච්ඡා කිරීමෙන් මට ධෛර්ය දුන් බැව් ගෞරවයෙන් සිහිකරමි.

මේ පොත නොපමාව ලියා අවසන් කිරීමට දිවා රෑ දෙක්හි මා මෙහෙයවූ මා හිතවත් විනයාචාර්ය නාත්තන්ඩියේ පඤ්ඤාකර ස්වාමීන්වහන්සේට ද, මෙය ඉතා ඉක්මනින් මුද්‍රණය කොට ප්‍රකාශ කරවූ ස්වස්තික යන්ත්‍රාලය අයිතිකාර සිරිසෝම රණසිංහ මහතාට ද මාගේ මෙන් ම මෙය කියවන්නන්ගේ ද ස්තුතිය පිරිනැමිය යුතුයි.

රාහුල

1946 ජුනි 25 වැනි දින
විද්‍යාලංකාර පිරිවෙනේ දී ය.

# ප්‍රස්තාවනා

## දෙවැනි සංස්කරණය

1946 වර්ෂය, ලංකා ඉතිහාසය පිළිබඳ වර්තමාන යුගයේ ඉතා සැලකිය යුතු කාලපරිච්ඡේදයක ආරම්භය විය. ලංකාවේ බුද්ධාගමත්, සිංහල ජාතියත්, සමාජයත්, දේශපාලනයත් පිළිබඳව කිසිකලක මේ රටේ ඉතිහාසයෙන් නොමැකිය හැකි බරපතළ වැදගත් සිද්ධීන් කීපයක් මේ කාලයේ සිදුවිය.

1946 ජනවාරි මාසයේ මුල දී ගරුකටයුතු ඩී. ඇස්. සේනානායක මහතා සහ තවත් අය, භික්ෂූන් වහන්සේලා මහජන කටයුතුවල යෙදීම අයෝග්‍යය යන අදහසක් ප්‍රසිද්ධ සභාවල ප්‍රකාශ කරන්නට පටන් ගත්හ. මුල් කාලයේ පටන් ම මේ රටේ සියලු ම වැදගත් කටයුතුවලට භික්ෂූන්ගේ සම්බන්ධය පැවතුණාක් මෙන් ම අදත් භික්ෂූන් ඒ කටයුතුවලට සහභාගී විය යුතු යයි දුරදිග පෙනෙන උගත් භික්ෂූන් වහන්සේලාගේ අදහස විය.

1946 ජනවාරි 26 දා කොටහේනේ කුමාර විද්‍යාලයේ පැවැත්වූ රැස්වීමක දී මම, සේනානායක මහතා සහ උන්නැහේගේ අනුගාමිකයන් ගත් මතයේ වරද පැහැදිලි කොට ප්‍රසිද්ධ පිළිතුරක් දුනිමි. මේ ගැන පක්ෂවත් විපක්ෂවත් සිංහල සහ ඉංග්‍රීසි පත්‍රවල කර්තෘ වාක්‍ය සහ ලියුම් මහත් රාශියක් පළවිය. ධනවත් බලවත් පක්ෂයට අවනත වූ සමහර නායක ස්ථවිරයන් වහන්සේලා, භික්ෂූන් දේශපාලන කටයුතුවලට සහභාගී නොවිය යුතු යයි සංඝාඥා පවා පත්‍රවල පළකර වූහ.

රටේ පැවැති මතභේදය බලවත් වූ හෙයින් මේ පිළිබඳව තීරණයක් ප්‍රකාශ කිරීම යුතුකමකැයි සැලකූ පැලියගොඩ විද්‍යාලංකාර පිරිවෙන 1946 පෙබරවාරි 13 දා 'භික්ෂූන් හා දේශපාලනය' යන මාතෘකාවෙන් ප්‍රකාශයක් නිකුත් කෙළේ ය. භික්ෂු ජීවිතයට කැළැල් නොවන පරිද්දෙන් අපේ රටවැසියාගේ යහපතට හේතුවන යම්

වැඩපිළිවෙළක් වේ නම්, එහි නම දේශපාලනය හෝ වේවා කුමක් හෝ වේවා, එහි යෙදීම භික්ෂූන්ට සුදුසු ම යයි ඒ ප්‍රකාශයේ සඳහන් විය. (*II උපග්‍රන්ථය බලනු.*)

මෙයින් දවස් 4 කට පසු, පෙබරවාරි 17 දා, සමස්ත ලංකා භික්ෂු සම්මේලනයේ මෙහෙයවීමෙන් විද්‍යෝදය පිරිවෙන්හි ආචාර්ය පණ්ඩිත පළන්නොරුවේ විමලධර්ම නායක ස්ථවිරයන් වහන්සේගේ ප්‍රධානත්වයෙන් කොළඹ බෞද්ධ මන්දිරයේ දී ප්‍රසිද්ධ මහා සංඝ සභාවක් පවත්වා, භික්ෂූන්ගේ ක්‍රියාමාර්ග භික්ෂූන් විසින් ම තීරණය කරගත යුතු බවත්, ඒ ගැන ගිහියන් අතගසන්නට යෑම වැරදි බවත් ප්‍රකාශ කරන ලදී.

මීට පසු මේ ප්‍රශ්නය පිළිබඳ තත්ත්වය තව තවත් උග්‍ර විය. ශතවර්ෂයකින් මෙපිට මේ රටේ ඇති නොවූ තරම් මහජන උද්‍යෝගයක් හා උද්ඝෝෂණයක් ඇති විය. පත්‍ර, සඟරාවල ලියුම් පළවීම වැඩි විය. ලක්දිව නොඑක් පළාත්වල රැස්වීම් පැවැත්වීම වැඩි විය. ප්‍රගතිශීලී අදහස් ඇති ගිහිපැවිදි අය එක පැත්තකටත් ප්‍රතිගාමී අදහස් ඇති ගිහිපැවිදි අය අනිත් පැත්තටත් බෙදී ගියහ. වෙන මොන ම ප්‍රශ්නයක් ගැනවත් පත්‍ර, සඟරාවල මෙතරම් ලියුම් ලිවීමක් හෝ නොඑක් පළාත්වල සාකච්ඡා සභා හා ප්‍රසිද්ධ රැස්වීම් පැවැත්වීමක් හෝ නොකරන ලදි. පෙර පටන් ම මේ රටේ භික්ෂූන් සතුව පැවති අයිතිවාසිකම් හා නිදහසත් නැති කිරීමට ප්‍රතිගාමී බලවත් අය පුද්ගලික අදහස් මුල් කරගෙන නොඑක් උත්සාහ කරන්නට පටන් ගත්හ.

1946 මාර්තු 9 වැනි සෙනසුරාදා මහනුවර බෞද්ධ මහා ජනයාගේ මෙහෙයීමෙන් එහි නගරශාලාවේ දී ආචාර්ය ඒ. පී. ද සොයිසා මහතාගේ ප්‍රධානත්වයෙන් පැවැත්වූ ප්‍රසිද්ධ ගිහිපැවිදි මහාසභාවේ දී මේ ප්‍රශ්නය පිළිබඳව ම විසින් පැය එකහමාරක දීර්ඝ ශාස්ත්‍රීය කථාවක් පවත්වන ලදි. එදා ඒ කථාව ඇසූ බොහෝ දෙන, එය කුඩා පොතක් වශයෙන් ලියා ප්‍රසිද්ධ කරන මෙන් නැවත නැවතත් මගෙන් ඉල්ලා සිටියහ.

කටයුතු බහුලව පැවැති ඒ දවස්වල එබන්දක් ලිවීමට අවකාශ ලබාගැනීම ඉතා අපහසු කාරණයක් විය. කථාව පැවැත්වීමට පිළියෙල කරන ලද සටහන් ළඟ තබාගෙන, ඉඩ ලැබුණු ලැබුණු හැටියට, එය ලියන්නට පටන්ගතිමි. යථාවකාශ පරිදි එහි සමහර තැන් ගැන යම් යම් අය සමග සාකච්ඡා ද පැවැත්වීමි. ලියා

අවසන් කොට බැලූ විට, බලාපොරොත්තු වූවාට වඩා එය දික්වී තිබෙන බැව් පෙනී ගියේ ය. එහෙත් කුමක් කරන්ට ද? එය ලියවී තිබුණු අන්දමට "භික්ෂුවගේ උරුමය" නමින් 1946 ජූනි මාසයේ දී පළමුවන වර මුද්‍රණය කරන ලදි.

මේ ප්‍රශ්නය පිළිබඳව රටේ පැවති උද්‍යෝගය කොතරම් බලවත් වී ද යත්, පළමුවන මුද්‍රණය සති තුනක් ඇතුළත විකිණී අවසන් විය. දෙවන මුද්‍රණයක් ඉතා ම අවශ්‍ය විය. පොතේ යම් යම් තැන් සකස් නොකොට, අඩුපාඩුකම් නොපුරවා, දෙවන වර මුද්‍රණය කිරීමට මගේ කැමැත්තක් නොවීය. එහෙත් ඒ සකස්කිරීම්වලට අවකාශයක් ලබා ගැනීම ඉතා අපහසු විය. දෙවන මුද්‍රණය මේ වන තුරු දවසින් දවස ම කල්දමන්ට සිදු වූයේ එහෙයිනි.

ගත වූ කාලය තුළ ලංකා එක්සත් භික්ෂු මණ්ඩලය මගින් අනුගමනය කරන ලද ඍජු ක්‍රියාමාර්ග නිසා මේ රටේ ඇති වූ වෙනස ඉතා විශාලය, ආගමික, සාමාජික, ආර්ථික හා දේශපාලන ප්‍රශ්නයන් පිළිබඳව ගිහිපැවිදි දෙපක්ෂය තුළ ම විශාල ඉගෙනීමක්, අවබෝධයක් හා හැඟීමක් ඇති විය. ධනයට බලයට වහල් නොවී, නිර්භීතව ඇත්ත ප්‍රකාශ කිරීමට ගිහිපැවිදි බොහෝ දෙනා පුරුදු විය. "භික්ෂු දේශපාලන" ප්‍රශ්නය තරම් මහජනයා අතර උද්‍යෝගය ඇති කළ වෙන කිසි ම ප්‍රශ්නයක් මෑත කාලයේ මේ රටේ ඇති නොවීය.

මේ ව්‍යාපාරය ගැන මේ රටේ පමණක් නොව ඉන්දියාව ආදී ආසියාවේ නොඑක් රටවලත්, යුරෝපයේ පවා සමහර රටවලත් සැලකිල්ලක් ඇති වූ බැව් ඒ රටවල පත්‍ර, සඟරාවන්හි පළ වූ ලියවිලිවලින් හෙළි විය. ලක්දිව භික්ෂූන්ගේ මේ ක්‍රියාමාර්ගය යුරෝපයේ ක්‍රිස්තියානි පූජකවරුන් විසින් ද ගුරුකමට ගත යුතු යයි හන්ගේරියාවේ පළකරන "ජොවෙන්ඩෝ" නම් සතිපතා සඟරාවේ සඳහන් විය.

මේ ව්‍යාපාරය නිසා ගැඹුරු අර්ථයක් හා ඓතිහාසික වටිනාකමක් ඇති "භික්ෂුදේශපාලනය" හා "දේශපාලනභික්ෂු" යන අලුත් වචන දෙකක් ද බෞද්ධ සාහිත්‍යයට එක්විය. භික්ෂුදේශපාලනය ද ග්‍රන්ථධුරය මෙන් ම ශාසනික සම්ප්‍රදායක් වෙනවා ඇත. එසේ ම කුහක වංක ප්‍රතිපත්තිවලින් තොර වූ, පිරිසිදු චරිතයෙන් යුත්, කාලෝචිත උසස් ඉගෙනීමක් ඇති, ධනයට බලයට වහල් නොවන, පොදු ජනයාගේ යහපත සඳහා වැඩ කරන,

පරාර්ථගරුක, අභීත, අදීන, අවංක බුද්ධ පුත්‍රයන් දේශපාලන භික්ෂූන් හැටියට සලකනවා ඇත.

භික්ෂූන් දේශපාලන කටයුතුවල යෙදෙනවාට මුල දී විරුද්ධව සිටි ඩී. ඇස්. සේනානායක මහතා සහ උන්නැහේගේ අනුගාමිකයනුත් මෑතක දී තමන්ගේ ඒ අදහස වැරදි බව තේරුම් ගෙන, අපේ අදහස් පිළිගෙන ඊට අනුව ක්‍රියාකරන බව දැක්ම ප්‍රීතියකි. ලංකාවෙන් සිංගප්පූරුවට යවා සිටින ලාංකික හමුදාවේ භටයන්ට නිසි පරිදි නොසැලකීම නිසා ඔවුන් අතර ඇති වූ වැඩ නැවැත්වීම් ආදි නොසන්සුන්කම් සන්සිඳවීම සඳහා බම්බලපිටියේ වජිරාරාමවාසී නාරද ස්ථවිරයන් වහන්සේ යවන ලදහ. එයින් සතුටුදායක ප්‍රතිඵල නොලැබුණු බැව් පෙනිණි. එන්ට එන්ට ම තත්ත්වය නරක් වූ නිසා සිංගප්පූරුවේ ලාංකික භටයෝ කැරලි ගැසූහ. මේ ගැන පරීක්ෂා කිරීම සඳහා යුද්ධ නිලධාරියකුත් සමග බම්බලපිටියේ වජිරාරාමවාසී කාශ්‍යප ස්වාමීන් වහන්සේ (ගිහිකාලයේ කැෂියස් ඒ. පෙරෙයිරා දොස්තර මහතා) කොමිටියක් හැටියට පත් කොට අග්‍රාමාත්‍ය සේනානායක මහතා විසින් විශේෂ අහස්යාත්‍රාවකින් සිංගප්පූරුවට යවන ලදහ. සිංහල රජකාලයෙන් මෙපිට මෙබඳු කටයුත්තකට භික්ෂූන් වහන්සේ නමක් ඉදිරිපත් කළ පළමුවන වතාව මෙය වෙයි. නිසැකව ම මේවා දේශපාලන කටයුතු බැව් කාට වුවත් වැටහෙනවා ඇත. දේශපාලන කටයුතුවලට භික්ෂූන් සහභාගී වෙනවාට විරුද්ධව සිටි නායක ස්ථවිරයන් වහන්සේලා ද දැන් මේ කටයුතුවලට ආශිර්වාද කරන බැව් පෙනේ. ප්‍රමාද වී නමුත් මේ පින්වතුන් සත්‍යය වටහා ගැනීම ගැන අපි සතුටු වෙමු.

මේ දෙවැනි සංස්කරණය පිළියෙල කිරීමේදී බොහෝ තැන් වෙනස්කොට, යම් යම් අඩුපාඩුකම් පුරවා, අලුතෙන් පරිච්ඡේද කීපයක් ද එක්කරන ලදී. වකවානු පිළිබඳ සටහන ද, උපග්‍රන්ථ ද විශේෂයෙන් සැලකිය යුතුයි. උපුටා ගන්නා ලද ඉංග්‍රීසි වාක්‍ය ඒ ඒ පිටුවල ම අධොලිපි වශයෙන් යොදා ඇත. එසේ යෙදීමට දිග වැඩි වාක්‍ය IV උපග්‍රන්ථයෙහි ඇත. 19 වැනි ශතවර්ෂයේ මුලදී ලංකාව පිළිබඳව ඉංග්‍රීසීන් ගනුදෙනු කළ වැදගත් ලියුම් කීපයක් ඒ උපග්‍රන්ථයට ම ඇතුළත් කරන ලදී.

පළමුවන මුද්‍රණයේ දී මතක් කළ පරිදි, එය කියවූ බොහෝ දෙනෙක් ඉතා කරුණාවෙන් තමතමන්ගේ අදහස් දන්වා මා වෙත ලියුම් එවූහ. ඒ සියලු දෙනාගේ ම නම් වෙන වෙන ම සඳහන්

කොට ස්තුති කරන්නට මෙහි අවකාශයක් නැතිවීම ගැන කනගාටු වෙමි. එහෙත් ගෞරවාර්හ භදන්ත තෙල්වත්තේ ශ්‍රී අමරවංශ මහාස්ථවිරපාදයන් වහන්සේ ද, කෝදාගොඩ විජයසේන ස්ථවිරපාදයන් වහන්සේ ද මෙහිදී විශේෂයෙන් සිහිපත් කරමි.

මේ සංස්කරණයේ දක්නට ලැබෙන වෙනස්කිරීම් හා සකස්කිරීම් රාශියක් ම ඩී. බී. ධනපාල මහතාගේ යෝජනා පරිදි කරන ලදී. සමහර කරුණු සපයාදීමෙන් ඒ මහතා විසින් කරන ලද ආධාරය ඉතා අගයකොට සලකමි.

ලංකා විශ්වවිද්‍යාලයේ ආචාර්ය ජී. සී. මැන්දිස් මහතා විසින් ලියන ලද ලංකාඉතිහාසයේ දැක්වෙන මධ්‍යකාලික ලංකාවේ සිතියම මේ පොතේ යොදන්නට පිළියෙල කරදීම ගැන කොළඹ ඇපොතිකරීස් සමාගමට මගේ ස්තුතිය හිමිවෙයි.

මේ පොතේ දැක්වෙන චිත්‍ර අතුරෙන් මහියංගනය, මිහින්තලා පර්වතය, රුවන්වැලිසෑය, අලුවිහාරය, මහාසංඝ සභාව, පිරිවෙනක පංතිය, මංජු ශ්‍රී, මහනුවර ගිවිසුම, රන්කොත් වෙහෙර යන චිත්‍ර ටෛම්ස් කාර්යාලයෙන් ද, ශ්‍රී මහාබෝධි වැඩමවීම, දන්තධාතුව වැඩමවීම, බුද්ධඝෝෂ හා සංඝරාජ චිත්‍රයන් ඩී. සී. විජයවර්ධන මහතාගෙන් ද, ඕල්කොට්, ශ්‍රී සුමංගල, ගුණානන්ද, ධර්මපාල චිත්‍රයන් ජාතික වීරයෝ නමැති පොතේ සම්පාදකවරුන්ගෙන් ද, පියරතන චිත්‍රය ආභිධම්මික පොල්වත්තේ ශ්‍රී බුද්ධදත්ත ස්ථවිරයන් වහන්සේගෙන් ද, මණ්ඩලගිරි විහාරයේ පින්තූරය පාර්ලිමේන්තු මන්ත්‍රී රාජනීතිඥ එච්. ශ්‍රී නිශ්ශංක මහතාගෙන් ද ලැබුණු බැව් ස්තුති පූර්වකව සඳහන් කරමි. ගෝල්පේස් රැස්වීමේ පින්තූරය ටෛම්ස් කාර්යාලය මගින් ගන්නා ලද්දකි.

මේ පොතේ පෘෆ් බැලීමෙන් සහ සූචිය පිළියෙල කරදීමෙන් ද කරන ලද මහත් උපකාරය ගැන අප හිතවත් හපුගොඩ සිද්ධාර්ථ, ගල්ලැල්ලේ නන්දසාර යන ස්වාමීන් වහන්සේලාට මගේ හෘදයංගම කෘතඥතාව පිරිනමමි.

ඉතා ඕනෑකමින් මේ පොතේ මුද්‍රණ කටයුතු කරදීම ගැන ලංකාපුත්‍ර මුද්‍රණාලයට ස්තුති කරමි.

රාහුල

1948 අප්‍රේල් 15
විද්‍යාලංකාර පිරිවෙනේ දී ය.

තෙවන මුද්‍රණයේ

# නිවේදනය

"භික්ෂුවගේ උරුමයේ" පළමුවන මුද්‍රණය ප්‍රසිද්ධ කරන ලද්දේ 1946 දීය. එය සති තුනක් ඇතුළත විකිණී අවසන් විය. ඊට පසු එහි අඩුපාඩු සකස් කොට, අංග සම්පූර්ණ දෙවන මුද්‍රණය 1948 දී ප්‍රසිද්ධ කරන ලදි. එය ද වැඩි කල් නොගොස් විකිණී අවසන් විය.

ඉන්පසු, 1950 පටන් 1985 දක්වා දීර්ඝ කාලයක් ධර්මශාස්ත්‍රීය අධ්‍යයන, අධ්‍යාපන, පර්යේෂණ කාර්යයන්ට කැපවී වැඩිපුර ම මා ජීවත් වූයේ යුරෝපයේ සහ ඇමරිකාවේ නිසා මේ පොතේ තෙවන මුද්‍රණයක් ගැන අවධානය යොමුකිරීමට නුපුළුවන් විය.

එසේ වුවත් ඒ කාලය තුළ පොතේ සම්පූර්ණ ඉංග්‍රීසි පරිවර්තනයක්, *The Heritage of the Bhikkhu* නමින්, ඇමරිකාවේ නිව්යෝර්ක්හි ග්‍රෝව් ප්‍රෙස් (Grove Press) ප්‍රකාශකයන් විසින් අලංකාර ලෙස මුද්‍රණය කොට 1974 දී ප්‍රසිද්ධ කරන ලදි.

"භික්ෂුවගේ උරුමය" නැවතත් මුද්‍රණය කොට ප්‍රකාශ කිරීමේ අවශ්‍යතාව වටහාගත්, බුද්ධිමත් ගිහිපැවිදි පිරිසක් මේ පොත නොපමාව පළකරන්නට යයි මගෙන් ඉල්ලා සිටියා හ. එයින් විශේෂ තැනක් හිමි වන්නේ පොළොන්නරුව දිසාවේ ප්‍රධාන අධිකරණ සංඝනායක කුඹුක්කඩවල ශ්‍රී ධීරානන්ද නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේට ය. ඒ අතර මේ පොත කියවා එහි වටිනාකම තේරුම්ගෙන සිටි ගුණදාස ලියනගේ මෙය ප්‍රසිද්ධ කිරීමට පුද්ගලිකව ම උනන්දු වී ඒ සඳහා ගොඩගේ සමාගම යොදා ගැනීම අප කාගේත් භාග්‍යයකි.

ඒ සියලු පින්වතුන්ට මගේ කෘතඥතා පූර්වක හෘදයංගම ස්තුතිය හිමිවෙයි.

ධර්මශාස්ත්‍රෝන්නතිකාමී,
**වල්පොළ රාහුල**

1992 නොවැම්බර් 3
"කේතුමතී"
බෞද්ධායතන මාවත
කෝට්ටේ.

නව මුද්‍රණය වෙනුවෙන්

# වල්පොළ රාහුල පදනම් භාරයේ පණිවුඩය

අප ආචාර්යයන් වහන්සේ විසින් රචිත 'භික්ෂුවගේ උරුමය' කෘතියේ නව මුද්‍රණයක් එළිදක්වන මේ මොහොතේ වල්පොළ රාහුල පදනම් භාරය වෙනුවෙන් මේ කුඩා සටහන ලිවීමට ලැබීම ගැන අතිශයින් ම ප්‍රීති වෙමි.

බ්‍රිතාන්‍ය පාලන සමය තුළ වසර හතළිහක පමණ කාලයක් ජීවත්ව අත්දැකීම් සහිතව සිටි රාහුල ස්වාමීන්ද්‍රයන් වහන්සේ 'භික්ෂුවගේ උරුමය' කෘතිය ලියන්නේ එකී යටත් විජිත පාලන සමය හමාර වීමට ආසන්න වෙමින් පවතිද්දී යි. යටත්විජිත පාලන සමය තුළ සමාජ කටයුතුවලින් ඉවත් කොට පංසල්වලට සීමාකොට තිබූ භික්ෂු චරිතයට වඩාත් වැදගත් සක්‍රිය කාර්යභාරයක් ඉටු කිරීම සඳහා වන ඓතිහාසික උරුමයක් ඇත යන්න මෙම කෘතිය තුළ රාහුල ස්වාමීන්ද්‍රයන් වහන්සේ ඉතා ශක්තිමත් සාධක සහිතව ඉදිරිපත් කරන තර්කයයි. රාහුල ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ උත්සාහය වූයේ භික්ෂුවට අහිමිව ගොස් තිබූ එම ඓතිහාසික සමාජ නායකත්වය නැවත ලබාගැනීම ලෙස මෙම කෘතිය අද කියවන ඇතැම් කෙනෙකුට සිතෙනවා ඇත. එහෙත් උන්වහන්සේ යටත්විජිත සමය තුළ භික්ෂුවට අහිමිව ගිය සමාජ පිළිගැනීම, නායකත්වය නැවත ඇති කිරීමට පිටත සටන් වදින අතරම එකී අවුරුදු දහස් ගණනක උරුමයකට හිමිකම් කියන භික්ෂුවක කවර ආකල්පවලින් සමන්විත විය යුතු ද යන්න සම්බන්ධව භික්ෂූන් අතර ද ගිහි බෞද්ධයින් අතර ද ගෙන ගිය අරගලය වටහාගත හැක්කේ රාහුල ස්වාමීන්ද්‍රයන් වහන්සේ විසින්ම ලියන ලද සත්‍යෝදය නම් කෘතිය ද භික්ෂුවගේ උරුමය කෘතිය සමග කියැවීමෙනි. එතුළින් වඩාත් සමබර අදහසක් ඇති කරගත හැකිය.

ඒ හැර 1943 රාජ්‍ය සභාවට කන්නන්ගර මහතා විසින් ඉදිරිපත් කෙරුණු නිදහස් අධ්‍යාපන පනත අන් දේශපාලකයන්ගේ සහායයක් නොමැතිකමින් සම්මත කරවා ගැනීමට නොහැකිව

තිබිය දී රට පුරා ඇවිදිමින්, රැස්වීම් පවත්වා, ජනයා දැනුවත් කොට ඔවුන් පෙළගස්වා නිදහස් අධ්‍යාපන පනතට එරෙහි වීමට නොහැකි තත්ත්වයක් රට තුළ නිර්මාණය කරමින් 1947 එම පනත සම්මත කරවා ගැනීමට නායකත්වය දීමෙන් ද මැලේරියා වසංගතයෙන් පීඩා විඳි ජනයාට සූරියමල් ව්‍යාපාරය සමඟ එක්ව මහත් පරිත්‍යාගයෙන් යුතුව ඇප උපස්ථාන කරමින් ද, බෞද්ධ උගතෙකු ලෙස විශ්වකීර්තියට පත්වීමෙන් ද, තමන් වහන්සේ ම භික්ෂුවක් කවර ලෙසින් සමාජයේ ප්‍රගමනය සඳහා දයක විය යුතු ද යන්නට ආදර්ශ සපයා ඇත.

මෙම නව මුද්‍රණය ඉතා සැලකිල්ලෙන් සකසා මුද්‍රණය සඳහා කටයුතු යෙදූ ගොඩගේ පොත් සමාගමේ අධිපති දේසබන්ධු සිරිසුමන ගොඩගේ මහතාට අපගේ ස්තුතිය පිරිනමමු.

ගල්කන්දේ ධම්මානන්ද

සභාපති,
වල්පොළ රාහුල පදනම් භාරය

# ආශ්‍රිත පොත්පත්

## පාළි


අංගුත්තර නිකාය (ශ්‍රී දේවමිත්ත ශුද්ධිය, කොළඹ)

චුල්ලවග්ග (සද්ධාතිස්ස ශුද්ධිය, අලුත්ගම, 1915)

දීඝනිකාය (මනතුංග මුද්‍රණය, කොළඹ, 1929)

දීපවංස (ඤාණානන්ද ශුද්ධිය, පානදුරේ ස්ටාර් යන්ත්‍රාලය, 1927)

ධම්මපද

ධම්මපදට්ඨ කථා
(හේවාවිතාරණ මුද්‍රණය, I කාණ්ඩය 1919, II කාණ්ඩය 1922)

පපංචසූදනී, මජ්ඣිමනිකායට්ඨකථා
(අලුවිහාර මුද්‍රණය, I කාණ්ඩය 1917, II කාණ්ඩය 1926)

පාචිත්තිය (අරියවංශ ශුද්ධිය, කොළඹ, බු.ව. 2472)

මජ්ඣිමනිකාය (ඤාණවිමල ශුද්ධිය, කොළඹ)

මනෝරථපූරණී, අංගුත්තරනිකායට්ඨකථා
(හේවාවිතාරණ මුද්‍රණය, I කාණ්ඩය 1923, II කාණ්ඩය 1931)

මහාවග්ග (සද්ධාතිස්ස ශුද්ධිය, අලුත්ගම, 1922)

මහාවංස
(ශ්‍රී සුමංගල - බටුවන්තුඩාවේ ශුද්ධිය, ආණ්ඩුවේ මුද්‍රණය, 1908)

මහාවංස තුන්වන භාගය (යගිරල පඤ්ඤානන්ද, 1935)

රසවාහිනී (ජිනාලංකාර යන්ත්‍රාලය, බු.ව. 2464)

වංසත්ථප්පකාසිනී, මහාවංසටීකා,
(කාණ්ඩ I,II මලලසේකර ශුද්ධිය P.T.S)

විනය (Oldenberg's edition)

සමන්තපාසාදිකා III (ග්‍රන්ථාලෝක යන්ත්‍රාලය, 1900)

සමන්තපාසාදිකා, විනයට්ඨකථා (හේවාවිතාරණ මුද්‍රණය, 1929)

සම්මෝහවිනෝදනී, විභංගට්ඨකථා(හේවාවිතාරණ මුද්‍රණය, 1932)

සුත්තනිපාත (P.T.S)

සුමංගලවිලාසිනී, දීඝනිකායට්ඨකථා (හේවාවිතාරණ මුද්‍රණය, 1918)

## සංස්කෘත

බෝධිචර්යාවතාර
මනුස්මෘති

## සිංහල

කතිකාවත් සඟරාව (ජයතිලක ශුද්ධිය, 1922)
කල්‍යාණීශාසනවංශය (පොල්වත්තේ ශ්‍රී බුද්ධදත්ත, 1935)
ධර්මප්‍රදීපිකා (ශ්‍රී ධර්මාරාම ශුද්ධිය, 1915)
නිකාය සංග්‍රහය (ආණ්ඩුවේ මුද්‍රණය, 1907)
පූජාවලිය (ජිනාලංකාර යන්ත්‍රාලය, 1907)
ලංකා ඉතිහාසය, පූර්ව භාගය (මැන්දිස්, 1942)
ශ්‍රී ධර්මාලෝක චරිතය (කොටහේනේ ප්‍රඥාකීර්ති, 1937)
සංඝරාජ සාධු චරියාව (ගාල්ලේ ලංකාලෝක යන්ත්‍රාලය, 1916)
සිංහල සාහිත්‍යයේ නැඟීම (මාර්ටින් වික්‍රමසිංහ, 1945)

## ඉංග්‍රීසි

*A Short History of the World* by H. G. Wells (London 1927)
*A Sketch of Constitution of the Kandyan Kingdom* by Sir John D'Oyly (Ceylon) 1929)
*A Grammar of Politics* by Harold J. Laski (London 1925)
*A History of Ceylon for Schools I,II,* by Father S.G Perara, S.J. (Colombo 1943)
*A History of the Ceylon Police I (Colombo)*
*An Account of the Island of Ceylon* by Robert Percival (london 1803)
*An Introduction to Politics* by Harold J. Laski (London 1931)
*Aristotle's Politics* by Benjamin Jowett (Oxford 1921)
*Ceylon Under British Rule* by L. A. Mills
*Ceylon* by Sir James Emerson Tennent (London 1859)
*Ceylon Lectures* by B. M. Barua (Calcutta 1945)
*Cultural Heritage of India*
*Davy's Travels in Ceylon* (London 1821)
*Description of Ceylon* by James Cordiner (1807)

*Epigraphia Zeylanica, Parts I,II,III, IV*
*Everybody's Political What's What?* by Bernard Shaw (London 1944)
*Glimpses of World History* by Jawaharlal Nehru (Lindsay Drummond Limited) 3rd edition, 1945
*Mediaeval Sinhalese Art* by Ananda K. Coomaraswamy
*Political Ideals* by C. Delisle Burns (O U P 1915)
*Social Evolution and Political Organisations* by G. D. H. Cole
*Tri Sinhala* by P. E. Pieris (Second edition, Ceylon 1939)

## පත්‍ර සඟරා

| | |
|---|---|
| කාලය | Buddhist (Colombo Y.M.B.A. Journal) |
| දිනමිණ | Ceylon Daily News |
| නිදහස | Ceylon Observer |
| පෙරමුණ | Times of Ceylon |
| ප්‍රභාෂෝදය | |
| සිළුමිණ | |
| සිංහල බලය | |

## ලියවිලි

බ්‍රිතාන්‍ය කෞතුකාගාරයේ මහා පුස්තකාලයේ තිබෙන ආණ්ඩුවේ පුරාණ ලියවිලි
මහනුවර නායකකම් පවරන ඔප්පුව (සන්නස)
මහනුවර හුදුහුම්පොළ විහාරයේ තිබෙන වාරියපොළ අනුනායක හාමුදුරුවන්ගේ අත්සන ඇති ඔප්පුව

# වකවානු

ක්‍රි. ව. පෙර

6 වැනි ශතවර්ෂය

563 සිද්ධාර්ථ කුමාරොත්පත්තිය
528 බුද්ධත්වයට පැමිණීම

5 වැනි ශතවර්ෂය

483 බුද්ධපරිනිර්වාණය
පළමු වන ධර්මසංගායනාව (රජගහ නුවර)

4 වැනි ශතවර්ෂය

383 දෙවන ධර්මසංගායනාව (වේසාලි නුවර)

3 වැනි ශතවර්ෂය

269 අශෝක රජ සිංහාසනාරූඪ වෙයි.
247 තුන්වන ධර්මසංගායනාව (පාටලිපුත්‍ර නුවර)
247-207 දේවානම්පියතිස්ස රාජ්‍යය
මිහිඳු මාහිමියෝ ලක්දිවට බුද්ධාගම ගෙන එති
ශ්‍රී මහාබෝධිය ලක්දිවට වැඩමවයි.
මහාවිහාරය ආරම්භ වෙයි.
සිංහල අටුවා ලියන්නට පටන්ගනිති.

2 වැනි ශතවර්ෂය

199 මිහිඳුමාහිමියන්ගේ පිරිනිවීම
198 සංඝමිත්තා මෙහෙණින් වහන්සේගේ පිරිනිවීම

1 වැනි ශතවර්ෂය

101-77 දුටුගැමුණු රාජ්‍යය
ආගමික ජාත්‍යාලය උදාවෙයි.
සාමාජික හා දේශපාලන කටයුතු ගැන භික්ෂූහු උනන්දුවෙති.
පළමුවන වරට වෙසක් උත්සවය
ලෝවාමහාපාය, රුවන්වැලිසෑය, සිතුල්පව්ව හා
තිස්සමහාරාමය ගොඩනැගීම
43-29 බැමිණිටියාසාය
ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කරති
ප්‍රතිපත්තියටත් ප්‍රතිවෙධයටත් වඩා පර්යාප්තිය උසස් කොට සලකන්ට පටන්ගනිති
ග්‍රන්ථ - විදර්ශනා ධුර පිළිබඳ අදහස
පංසුකූලික සහ ධම්මකථික දෙපක්ෂය

29-17 වළගම්බා රාජ්‍යය
අභයගිරිය ඇති වී මහාවිහාරයෙන් වෙන්වෙයි
නිකාය භේදය ආරම්භ වෙයි
ධම්මරුචි නිකාය (වජ්ජිපුත්ත නිකායේ කොටසක්)

ක්‍රි. ව.

### 1 වැනි ශතවර්ෂය

38-67 ඉගෙනීම භික්ෂූන්ට විශේෂ ධුරයක් හැටියට පිළිගනිති
79-89 අඩගැමුණු රජ පළමුවන වරට මාඝාත (නොමැරීමේ) ආඥාව පනවයි
89-92 කණිරජානුතිස්ස රජුට විරුද්ධව කුමන්ත්‍රණය කළ භික්ෂූන් 60 නමක් ඒ රජු විසින් මැරවීම

### 2 වැනි ශතවර්ෂය

127-171 පළමුවන වරට බුද්ධප්‍රතිමා සහ ප්‍රතිමාගෘහ ගැන සඳහන් වෙයි (වසභ රජුගේ කාලය)

### 3 වැනි ශතවර්ෂය

248-249 එකනාලික සාය
269-291 වොහාරතිස්ස රාජ්‍යය
වෛතුල්‍යවාද මර්දනය
ශාසන ශොධනය

### 4 වැනි ශතවර්ෂය

309-322 ගෝඨාභය රාජ්‍යය
වෛතුල්‍යවාද මර්දනය හා වෛතුල්‍යවාදීන් පිටුවහල් කිරීම
දක්ඛිණාගිරියේ සාගලිය නිකාය ඇති වෙයි
334-409 මහසෙන් රජ මහායානය පිළිගනියි
මහසෙන් රජ මහා විහාරය විනාශ කරයි
ධම්මරුචිකයෝ මිහින්තලේ පදිංචි වෙති
ජේතවනය ගොඩනගා සාගලිය නිකායට පිදීම
දෙවන වරටත් මහාවිහාරය පාළුවෙයි
පළමුවන වරට බෝධිසත්ව ප්‍රතිමා ගැන සඳහන් වෙයි
දන්තධාතුන් වහන්සේ ලක්දිවට වැඩමවති
(ශ්‍රී මෙඝවර්ණ රජු දවස ක්‍රි.ව. 371)
මහාධම්මකථී ස්ථවිරයන් වහන්සේ පාළිසූත්‍ර සිංහලට නගති
පාහියන් චීන භික්ෂූන් වහන්සේ පැමිණෙති

ක්‍රි. ව.

5 වැනි ශතවර්ෂය

බුද්ධඝෝෂ ස්ථවිරයන් වහන්සේ සිංහල අටුවා පාළියට නගති
මහානාම ස්ථවිරයන් වහන්සේ මහාවංශය ලියති
කලාශිල්ප විශේෂයෙන් දියුණුවෙයි

6 වැනි ශතවර්ෂය

496-513 I මොග්ගල්ලාන රාජ්‍යය
කේසධාතු ලක්දිවට වැඩමවති
අසිග්ගාහක යන ගරු නාමය ඇතිවෙයි
ශාසන ශෝධනය
524-537 සිලාකාල රාජ්‍යය
ජෝතිපාල මහාස්ථවිරයන් වහන්සේ වෛතුල්‍යවාදීන් පරදවති
කාලිංගදේශයේ රජ සහ බිසව ද අමාත්‍යයා ද ලක්දිවට පැමිණ මහණවෙති
"ධර්මධාතුව" කාසිරටින් ලක්දිවට ගෙන එති

7 වැනි ශතවර්ෂය

611-617 III වැනි මොග්ගල්ලාන රාජ්‍යය
ත්‍රිපිටක සජ්ඣායනාව හා ශාසනශෝධනය
කඨින උත්සවය පළමුවෙන් සඳහන් වෙයි
617-626 ශිලාමෙඝවර්ණ රාජ්‍යය
අභයගිරියේ වියවුල්
ශාසන ශෝධනය
අභිධර්මය ගැන අලුත් උනන්දුවක් ඇතිවෙයි
626-641 කැරලිකාරයෝ ආරාම කොල්ල කති
650-658 II දාඨෝපතිස්ස රජු හා මහාවිහාරය අතර සට්ටනය
658-674 පිරිත් දේශනාව උත්සවයක් වශයෙන් පළමුවෙන් සඳහන් වෙයි
676-711 පංසුකූලිකයෝ උසස් තත්ත්වයකට පත් වෙති

8 වැනි ශතවර්ෂය

766-851 VII අග්බෝ රජුගේ ශාසන ශෝධනය
බෞද්ධ ප්‍රතිපත්තිවලට හින්දු සිරිත්විරිත් එක්වෙයි

9 වැනි ශතවර්ෂය

831-851 I සේන රාජ්‍යය
වාජිරියවාදය ලක්දිවට පැමිණෙයි
පාණ්ඩ්‍යයෝ ලක්දිව ආක්‍රමණය කරති

ක්‍රි. ව.

851-885 II සේන රාජ්‍යය
II සේන රජ පාණ්ඩිරට ආක්‍රමණය කරයි
ශාසන ශෝධනය

872 පංසුකූලිකයෝ අභයගිරියෙන් වෙන්වී වෙන ම පක්ෂයක් වෙති

10 වැනි ශතවර්ෂය

ආරාමවල තත්ත්වය හා පාලනය උසස් වෙයි

12 වැනි ශතවර්ෂය

1153-1186 මහාපරාක්‍රමබාහු රජ නිකායත්‍රය එක්කරයි

13 වැනි ශතවර්ෂය

1232-1236 III විජයබාහු කාලයේ දී ත්‍රිපිටකය සජ්ඣායනා කොට පොත් ලියවීම

1236-1271 II පැරකුම්බා රාජ්‍යය
ත්‍රිපිටකය සජ්ඣායනා කොට ශාසන ශෝධනය කිරීම

1273-1310 දළදාවහන්සේ පඬිරටට පැහැරගෙන යෑම සහ ආපසු ලබාගැනීම

14 වැනි ශතවර්ෂය

1356-1374 III වික්‍රමබාහු රාජ්‍යය
ධර්මකීර්ති මහා ස්ථවිරයන්ගේ ප්‍රධානත්වයෙන් ශාසන ශෝධනය

1391-1397 II වීරබාහු රාජ්‍යය
II ධර්මකීර්ති මහා ස්ථවිරයන්ගේ ප්‍රධානත්වයෙන්
ධර්මසංගායනා කොට ශාසන ශෝධනය කිරීම

15 වැනි ශතවර්ෂය

1473-1480 VI භුවනෙකබාහු රාජ්‍යය
කල්‍යාණි උපසම්පදාව

16 වැනි ශතවර්ෂය

1505 පෘතුගීසීහු ලංකාවට පැමිණෙති

1592-1604 I වන විමලධර්ම රජ රක්ඛංගදේශයෙන් ලංකාවට උපසම්පදාව ගෙන්වයි

17 වැනි ශතවර්ෂය

1602 ලන්දේසීහු ලංකාවට පැමිණෙති

ක්‍රි. ව.

1672 ප්‍රංසකාරයෝ පැමිණෙති

1684-1706 II විමලධර්මසූර්ය රජ රක්ඛංගදේශයෙන් උපසම්පදාව ගෙන්වයි

18 වැනි ශතවර්ෂය

වැලිවිට පිණ්ඩපාතික සරණංකර සංඝරාජයන් වහන්සේගේ ලෝක ශාසන සංග්‍රහය

1750 කීර්ති ශ්‍රී රාජසිංහ රජ සියම්රටින් උපසම්පදාව ගෙන්වයි

1796 ඉංග්‍රීසීහු මුහුදුබඩ පළාත් අල්ලති

19 වැනි ශතවර්ෂය

1815 සිංහල රාජ්‍යය ඉංග්‍රීසීන්ට යටත් වෙයි
මහනුවර ගිවිසුම

1818-1848 ඉංග්‍රීසීන්ට විරුද්ධ කැරලිකෝලාහල

1847 මහනුවරින් නායකකම් ලබන ස්ථවිරවරුන් ඉංග්‍රීසි ආණ්ඩුවට පක්ෂපාත කරගැනීම සඳහා ටොරින්ටන් ආණ්ඩුකාරයාගේ මෙහෙයීමෙන් ඔප්පුවක් පිළියෙල කිරීම

1869 ලක්දිව පළමුවන බෞද්ධ පාඨශාලාව දොඩන්දූවේ ආරම්භ වෙයි

1873 මාලිගාකන්දේ විද්‍යෝදය පිරිවෙන ආරම්භ වෙයි

1875 පැලියගොඩ විද්‍යාලංකාර පිරිවෙන ආරම්භ වෙයි

1880 පරමවිඥානාර්ථ බෞද්ධ සමාගම ආරම්භ වෙයි

1885 ආනන්ද (ඉංග්‍රීසි බෞද්ධ) විද්‍යාලය ආරම්භ වෙයි

20 වැනි ශතවර්ෂය

ජාතික ආගමික පුනර්ජීවනය
බෞද්ධ සමිති සමාගම් ඇති වෙයි
භික්ෂූහු නවීන විෂයයන් ඉගෙන රටේ වැඩට ඉදිරිපත් වෙති

1938 ජූනි 4 දා භික්ෂු සම්මේලනය ආරම්භ වෙයි

1946 පෙබරවාරි 13 දා භික්ෂූන් හා දේශපාලනය පිළිබඳ විද්‍යාලංකාර පිරිවෙනේ ප්‍රකාශය

1946 මැයි 21 දා ලංකා එක්සත් භික්ෂු මණ්ඩලය ආරම්භ වෙයි

1947 ජනවාරි 6 දා කැලණියේ දේශපාලන ප්‍රකාශය

# හික්ෂුවගේ උරුමය

# 1

## බුද්ධාගම හා සමාජ සේවය

බුද්ධාගමේ අත්තිවාරම පරාර්ථ සේවයයි. දීපංකරපාදමූලයේ දී සුමේධ තාපසයෝ තමන් "අතට පත් නිවන් සසර සේ පියා සතුන් සඳහා විඳුනා සසර දුක් නිවන් සේ ගෙන" ලෝකයට සේවය කරන්නට අධිෂ්ඨාන කරගත්හ. සැබෑ බෞද්ධයකුට තමාගේ නිවන් සැපය පවා අනුන් සඳහා අත්හැරීමට ශක්තිය තිබිය යුතුය.

බුදුරජාණන්වහන්සේ තම ශ්‍රාවකයන් වූ භික්ෂූන්ට එක තැනක පදිංචිව නොසිට ගමින් ගමට ගොස් ලෝකයාගේ යහපත පිණිස අනුශාසනා කරමින් චාරිකාවේ හැසිරෙන්නට අවවාද කළ සේක.[1] ඒ අනුව බුදුන්වහන්සේත් භික්ෂු සංඝයාත් වර්ෂාව නිසා ගමනට බාධා වූ වස් තුන් මාසය හෝ හාර මාසය හැර අවුරුද්දේ ඉතිරි නව මාසය හෝ අට මාසය තුළ ගමක් පාසා යමින් මිනිසුන්ගේ දෙලෝ දියුණුව පිණිස උවමනා කරන අදහස් කියා දෙමින් රටවැසියාගේ යහපත සඳහා ක්‍රියා කළ සේක.

ඒ කාලයේ දඹදිව භික්ෂූන් ගමක් පාසා ගොස් මිනිසුන්ට කියා දුන් අදහස් මොනවාදැයි සොයා බැලීම වටී. සාමාන්‍යයෙන් ම ගම්වැසියෝ දිළිඳුයඃ නූගත්යඃ පිරිසිදුකමින් හා නිරෝගිකමින් අඩුය. ඔවුනට නිර්වාණය ගැන හෝ අභිධර්මය ගැන කරන ගැඹුරු දේශනාවලට වඩා වුවමනා කෙළේ ලෞකික දියුණුවට අදාළ සාමාන්‍ය ලිහිල් අදහස්ය. එබඳු ගිහි ජනයාට කියා දුන් අදහස් ත්‍රිපිටකයේ නොඑක් තැන්වල දක්නා ලැබේ.

දුප්පත්කම අපරාධයන්ට දුෂ්චරිතයන්ට මුල්වන බැව් දීඝ නිකායේ චක්කවත්තිසීහනාද සූත්‍රයේ පැහැදිලිව ම දක්වා තිබේ.

---

1. චරථ භික්ඛවෙ චාරිකං බහුජනහිතාය බහුජනසුඛාය ලොකානුකම්පාය අත්ථාය හිතාය සුඛාය දෙවමනුස්සානං (මහාවග්ග, පි. 19)

මේ සත්‍යය තේරුම් ගැනීම නිසා ධන සැපයීමේ අගය, ආර්ථික දියුණුව මනුෂ්‍යයාගේ යහපතට අවශ්‍ය බව, බුදුන් වහන්සේත් භික්ෂූන් වහන්සේලාත් රටවැසියන්ට කියාදුන්හ. දඬුවම් කිරීමෙන් සොරකම් ආදි අපරාධ නැවැත්විය නොහැකි බවත්, ඒවා හරි ආකාර නතර කිරීමට නම් මිනිසුන්ට තම තමන්ගේ රැකී රක්ෂා හොඳින් කරගෙන සැපසේ ජීවත්වීමට වැඩ පිළියෙල කළ යුතු බවත් දීඝනිකායේ ම කූටදන්ත සූත්‍රයෙන් පැහැදිලි වෙයි.

වෙළෙන්දෙකු තම රක්ෂාවෙන් දියුණු වීමට නම්, උදේ දවල් සවස යන හැම වේලේ ම ඒ ගැන උනන්දුවෙන් ක්‍රියා කළ යුතුයි. විකිණිය හැකි බඩු හඳුනන්නකු විය යුතුයි: මේ බඩුව මෙපමණ මිලට ගෙන මෙපමණ මිලට විකිණිය හැකි යයි සිතා ගන්නට සමර්ථයකු විය යුතුයි: බඩු සුලභ තැන්වලින් මිලට ගෙන දුර්ලභ තැන්වලට විකිණීමට දක්ෂ විය යුතුයි. හොර තරාදියෙන් කිරා මිනිසුන් රැවටීම ආදි වංචා නොකළ යුතුයි. ආධාර්මික වෙළෙඳාම් නොකළ යුතුයි. රැකීරක්ෂා පිළිබඳ මේ ආදි වැදගත් අදහස් අංගුත්තර නිකායේ නොඑක් තැන්වල ප්‍රකාශ වෙයි.[2]

ධනය ඇතිකම (අත්ථිසුඛය), ඒ ධනය නිසි පරිදි පාවිච්චි කිරීම (භෝගසුඛය), ණය නැතිකම (අනණසුඛය), නිවැරදි ජීවිතයක් ගත කිරීම (අනවජ්ජසුඛය) යන මේ කරුණු සතර ගිහියකුට අයිති සැප බැව් ද, තමා කරන රක්ෂාවේ දක්ෂකම (උට්ඨානසම්පදා), වස්තුව රැකගැනීම (ආරක්ඛ සම්පදා), යහපත් මිත්‍රයන් ආශ්‍රය (කල්‍යාණමිත්තතා), ආදායමට අනුව වියදම් කිරීම (සමජීවිකතා), යන මේ සතර මිනිසුන්ගේ මෙලොව හිත පිණිස පවත්නා බැව් ද අංගුත්තර නිකායේ දැක්වෙයි.[3]

උපයාගත් වස්තුවෙන් හතරෙන් කොටසක් එදිනෙදා වියදම සඳහා ගැනීමටත්, දෙකොටසක් ධන සැපයීම සඳහා කර්මාන්තවල යෙදීමටත්, හතරවැනි කොටස හදිසියක දී ප්‍රයෝජනයට ගැනීම සඳහා තැන්පත් කොට තැබීමටත් අවවාද කොට තිබේ. උපයාගත් ධනය විනාශ විය හැකි ක්‍රම ද පැහැදිලිව පෙන්වා තිබේ.[4]

ධනය උපයාගත් පවුලක් නොපිරිහී වාසනාවන්තව ජීවත්වීමට නම්, ඒ ගෙදර නැති වූ විනාශ වූ දේ නැවත සපයා ගත යුතු බවත්,

2. අංගුත්තර නිකාය, පිටු 69, 70
3. අංගුත්තර නිකාය, පිටු 232, 786
4. දීඝනිකාය: සිගාල සුත්ත, අංගුත්තර: ව්‍යග්ඝපජ්ජ සුත්ත (අංගු. පි. 786)

කැඩී බිඳී දිරාපත් වූ දේ ප්‍රතිසංස්කරණය කළ යුතු බවත්, කැම්බීම් ආදියට සීමාව ඉක්මවා වියදම් නොකළ යුතු බවත්, අයහපත් ගති පැවතුම් ඇති දුස්සීල ස්ත්‍රියක් හෝ පුරුෂයකු පවුලේ ප්‍රධානියා නොවිය යුතු බවත් අංගුත්තර නිකායේ චතුක්කනිපාතයෙහි සඳහන් වෙයි.[5]

තමන්ගේ දියුණුව සඳහා අලස නැතිව උත්සාහයෙන් ක්‍රියා කළ යුතු බැව් නොඑක් තැන්වල දැක්වෙයි.[6] නිරෝගිකම මනුෂ්‍යයාට ඇති පරම ලාභය බවත්, එය ලබා ගැනීමට උත්සාහය කළ යුතු බවත්, "ආරෝග්‍යා පරමා ලාභා, ආරෝග්‍ය මිච්ඡෙ පරමංච ලාභං" යනාදියෙන් පැහැදිලි වෙයි.

සමාජයේ යහපත් පැවැත්ම සඳහා වුවමනා කරන අදහස් නොඑක් තැන්වල නිතර නිතර දැක්වෙයි. දානය, ප්‍රියවචනය, අනුන්ගේ යහපත සඳහා ක්‍රියා කිරීම, සමානාත්මතාව යන මේවා සතර සංග්‍රහවස්තු හැටියට ප්‍රසිද්ධය.[7] සමාජයේ දියුණුව සඳහා වුවමනා නොඑක් අදහස් ද, පවුලේ සහ සමාජයේ ඔවුනොවුන් කෙරෙහි පැවැත්විය යුතු යුතුකම් ද සූත්‍රවල කියවෙයි.[8] අනෙකක් තබා ස්වාමිපුරුෂයා විසින් භාර්යාවට අලංකාර ඇඳුම් පැලඳුම් තැගි කිරීමෙන් ඇ සතුටු කළ යුතු බැව් පවා සිගාල සූත්‍රයෙහි දක්වා තිබේ.

බුදුරජාණන් වහන්සේ ජීවමානව වැඩසිටි කාලයෙහි ඇතැම් රජවරු මහජනයා පෙළා අධර්මයෙන් රාජ්‍යය කළෝය. එබඳු අධාර්මික රජුන්ගේ රටවල අධික අයබදු සහ දරුණු දඬුවම් ආදියෙන් පීඩාවට පත් මනුෂ්‍යයන් දුටු තථාගතයන් වහන්සේ, ඔවුන් කෙරෙහි මහත් කරුණාවෙන්, රටවැසියන්ට හිංසාපීඩා නොකොට ධර්මානුකූල ආණ්ඩුක්‍රමයක් ඇති කිරීම පිළිබඳ බරපතළ දේශපාලන ප්‍රශ්නයට සිත් යොමුකළ බැව් ධම්මපදට්ඨ කථාවෙහි සඳහන් වෙයි.[9]

දේශපාලනය දශරාජ ධර්මයෙන් යුක්තව - එනම්ඃ දානය, ශීලය, පරිත්‍යාගය, ඍජුගතිය, මෘදුගතිය, තපස්කම, ක්‍රෝධ නොකිරීම, හිංසා නොකිරීම, ඉවසීම, අවිරුද්ධතාව යන ගුණ

5. අංගුත්තර පිට. 346
6. පරාභව, සිගාල සුත්ත ආදිය.
7. අංගුත්තර පිට. 207
8. සිගාල, පරාභව, වසල සුත්ත ආදිය.
9. ධම්මපදට්ඨකතා II පි. 592

දසයෙන් යුක්තව - කළ යුතු බැව් බුද්ධාගමේ ඉගැන්වීමයි. මගධයේ රාජාණ්ඩුව ලිච්ඡවීන්ගේ සමුහාණ්ඩුවට විරුද්ධව සටන් කරන්නට සූදානම්ව සිටියදී, ඒ සටන සඵල වේ දැයි මගධ ආණ්ඩුවේ නියෝජිතයන් බුදුන් වහන්සේගෙන් විචාළ කල, ලිච්ඡවීන් අතර සප්තඅපරිහානිය ධර්මයන් ඇති බැවින් යුදයෙන් ඔවුන් පැරදවිය නොහැකි බැව් උන්වහන්සේ වදාළහ.[10]

මේ ආදි වශයෙන් රටවැසියාගේ නිරෝගිකම, පිරිසිදුකම, ධන සැපයීම, අන්‍යෝන්‍ය සම්බන්ධය, සමාජයේ යහපත් පැවැත්ම, ධාර්මිකව දේශපාලනය කිරීම ආදිය ගැන ඉතා වැදගත් අදහස් උගන්වමින් බුදුන් වහන්සේත් භික්ෂු සංඝයාත් ගමින් ගම චාරිකාවේ හැසුරුණාහ.

අප බුදුරජාණන්වහන්සේ දඹදිව පමණක් වැඩම කිරීමෙන් නො නැවතී වියවුල් සන්සිඳවීම් ආදී මහජන සේවය සඳහා ලක්දිවට ද වැඩමවූ සේක.[11] එපමණක් නොව අතීතයේ විසූ බුදුවරුන් ද ගිලානෝපස්ථානය සඳහා, සමාජ සේවය සඳහා, කෝලාහල සංසිඳවීම සඳහා ලක්දිවට වැඩම වූ බැව් සමන්තපාසාදිකා විනය අටුවාවෙහි සඳහන් වෙයි.[12] බලවත් උණ වසංගතයකින් මුළු ලක්දිව මරණයට මුහුණ ලා සිටි අවස්ථාවක කකුසඳ බුදුහු භික්ෂූන් සමඟ මෙහි වැඩමවා මේ රටවැසියන් ඒ විපතින් මුදාගත්හ. වරක් ලංකාව දුර්භික්ෂයක් නිසා කෑම නැතිව භායානක විපතකට පත්ව තිබුණු වේලෙහි කෝණාගමන බුදුහු භික්ෂු සංඝයා සහිතව මෙහි වැඩමවා මේ දිවයින ඒ අනතුරින් මුදා ගත්හ. ලක්දිව දරුණු කෝලාහලයකට මුහුණ පා සිටි අවස්ථාවක කාශ්‍යප බුදුහු මෙහි වැඩමවා එය සංසිඳුවා මෙරටට ශාන්තිය ගෙන දුන්හ.[13]

---

10. දීසඃ මහාපරිනිබ්බාන සුත්ත.
11. සමන්තපාසාදිකා I පි. 52, මහාවංස, පරිච්ඡේද I, ගාථා 19 පටන්. පළමුවන වර අප බුදුන් මෙහි වැඩමවූයේ ලක්දිවට විපත්ති කළ යකුන් මේ දිවයිනෙන් එලවා දැමීමටය. එදා බුදුන් යකුන් එලවා දමා රට සුවපත් කළාක් මෙන්ම, අදත් රට කන අධාර්මික යකුන් එලවා දමා රට සුවපත් කිරීම බුධපුත්‍රයන්ගේ යුතුකමක් නොවේ ද?
12. සමන්තපාසාදිකා I පි. 50-51.
13. මෙසේ බුදුවරුන් සහ උන්වහන්සේලාගේ ශ්‍රාවකයන් ද සමාජ සේවයෙහි යෙදීම පෙර පටන්ම පැවති උතුම් ගුණයක් වුව ද, භික්ෂූන් සමාජ සේවයෙහි යෙදීම දීන ක්‍රියාවකැයි සිළුමිණ කර්තෘ මහතා ප්‍රකාශ කරයි. "ගිහියන් හා ගැටෙමින් සමාජ කටයුතුවලට සහභාගී වී භික්ෂූන් වහන්සේ දීනයන් ලෙස



**මහියංගණය, බුදුන් පළමුවෙන් ලක්දිවට වැඩමවූ ස්ථානය**

ගිහියන්ට සේවය කරන්නට වූ තැන් සිට ශාසනය ද ජාතිය ද බෙහෙවින් පිරිහිණ". (සිළුමිණ කාර්තෘ වාක්‍යය 1946 ජනවාරි 20)

1946 දී මෙසේ කියතත්, 1935 දී මේ සිළුමිණ ම භික්ෂූන් සමාජ සේවයෙහි යෙදීම ඉතා උසස් ලෙස වර්ණනා කරයි. 1935 මැලේරියා වසංගත කාලයේ රෝගීන්ට උපස්ථාන කිරීම, බෙහෙත් ආහාර ද්‍රව්‍ය සහ වස්ත්‍ර සැපයීම් ආදියෙන් භික්ෂූන් විසින් කරන ලද සමාජ සේවය ගැන මෙසේ කියයි. "මෑතක සිට අපේ භික්‍ෂූන්වහන්සේ ඉතා උනන්දුවෙන් අනාථ රෝගීන්ට සත්කාර කරන්නට පටන් ගැනීම සැනසිල්ලට කාරණයකි. අපේ භික්‍ෂූන් තුන්භාරසීයක් උනන්දු වුවහොත් ආණ්ඩුව කරන සේවයටත් වඩා අගනා සේවයක් කළ හැකි වෙයි. උන්වහන්සේ කරන අනාථසේවය මහජනයා කිසි කලෙක අමතක නොකරනු ඒකාන්තය." (සිළුමිණ කර්තෘ වාක්‍යය 1935 ජනවාරි 27 ඉරිදා)



මිහින්තලා පර්වතය, ලක්දිව ජාතික සංස්කෘතියේ මුල්බිම

# 2

# භික්ෂු ජීවිතයේ වැඩීම

බුදුන් ජීවමාන කාලෙයේ ම ආර්ථික හා සාමාජික වෙනස්වීම් අනුව කාලයට හා දේශයට සුදුසු පරිදි භික්ෂූන්ගේ ජීවිතය වෙනස් වන්නට පටන් ගත් බව විනය පිටකය කියවන විට පැහැදිලි වෙයි.

මිනිසුන් විසින් ඉවත ලන ලද රෙදි කැබලි අවුලාගෙන එයින් සාදාගත් පාංශුකූල චීවරය පමණක් මුලදී භික්ෂූන් විසින් පාවිච්චි කරන ලදී. පසුව ජීවකයාගේ ඉල්ලීමකට අනුව ගිහියන්ගෙන් ලැබෙන වෙන සිවුරුත් පිළිගැනීමට බුදුහු අනුදත්හ. මෙසේ මුලින් පැවති ක්‍රමය වෙනස් වූ හෙයින් මිනිස්සු භික්ෂූන්ට බොහෝ සිවුරු දෙන්නට පටන් ගත්හ. සමහර විට මිනිස්සු සිවුරු පූජාකිරීමට විහාරයට ගොස් ඒවා පිළිගැන්වීමට භික්ෂුවක් නොලැබ ආපසු සිවුරු ගෙනගියහ. ඊට පසු බුදුහු සිවුරු පිළිගැන්මට චීවරපටිග්ගාහක භික්ෂුවක් පත්කර ගන්නට අනුදත්හ. එතැන් පටන් සිවුරු පිළිගෙන නිසි පරිදි තැන්පත් නොකොට ඒ ඒ තැන්වල දැමූහ. සිවුරු විනාශ විය. එහෙයින් සිවුරු තැන්පත් කොට තැබීමට චීවර නිදහක භික්ෂුවක් පත්කර ගැනීමට ඊළඟට අනුදත්හ. එහෙත් සිවුරු තැන්පත් කිරීමට සුදුසු තැනක් නොවීය. එහෙයින් ඒ ඒ තැන්වල තිබූ සිවුරු මීයන් විසින් කන ලදී. එනිසා සිවුරු ආරක්ෂා කරගැනීම සඳහා භාණ්ඩාගාරයක් ඇති කිරීමට අනුදත්හ. ඊළඟට භාණ්ඩාගාරය රැකගැනීමට භාණ්ඩාගාරික භික්ෂුවක් පත්කර ගැනීමට අනුදත්හ. භාණ්ඩාගාරයේ සිවුරු එකතු වූ විට, ඒවා බෙදා ගැනීමේදී භික්ෂූන් අතර භේද ඇති විය. එනිසා සිවුරු බෙදීමට චීවරභාජක භික්ෂුවක් පත්කර ගන්නට අනුදත්හ. මේ අයුරින් සිවුරු පිළිබඳව තව තවත් දිගින් දිගට ශික්ෂා පද පැනවෙන්නට විය.[1]

1. මහා වග්ග: චීවරක්ඛන්ධක.

මුලින් පාංශුකූල චීවරයෙන් පටන්ගෙන, පසුව මිනිසුන්ගෙන් ලැබෙන සිවුරුත් පිළිගැනීම නිසා ආර්ජිකත්වය වෙනස් වූ හෙයින්, ඊට අනුව වරින්වර ශික්ෂාපද පනවන්නට වූ අයුරු මෙයින් පැහැදිලි වෙයි.

සමහර විට ඒ ඒ අවස්ථාවලට ගැළපෙන පරිදි අනුප්‍රඥප්ති පැනවීමෙන් ඇතැම් ශික්ෂාපද නොඑක්වර වෙනස් කළ හැටි විනයේ හැම තැන ම පාහේ දක්නට ලැබේ. උදාහරණයක් වශයෙන් කියතොත් ගණභෝජන ශික්ෂාපදය අවස්ථානුකූලව හත්වරක් අනුප්‍රඥප්ති පැනවීමෙන් වෙනස් කරන ලදී.[2]

සමහර ශික්ෂාපද පළාත්වලට ගැළපෙන පරිදි ද වෙනස් කොට තිබෙන බැව් විනයෙහි සඳහන් වෙයි. මුලින් පනවා තිබුණ විනය ශික්ෂාවලට අනුව උපසම්පදා කර්මයට භික්ෂූන් දසනමක් අවශ්‍යය. එක හම්පටකට වඩා ඇති පාවහන් පාවිච්චි නොකළ යුතුය. සාමාන්‍යයෙන් පසළොස් දිනකට එකවරකට වඩා නෑම තහනම්ය. වාඩිවීමට හම් පාවිච්චි කිරීම තහනම්ය.

මේ ශික්ෂාපද මෙසේ පනවා තිබියදී මහාකච්චායන ස්ථවිරයන් වහන්සේගේ ශිෂ්‍ය වූ අවන්ති ජනපදයෙන්[3] පැමිණි සෝණ භික්ෂුව තම ආචාර්යයන් වෙනුවෙන් බුදුන්ට මෙසේ දන්වා සිටියේය. "ස්වාමිනී, අවන්ති පළාතේ භික්ෂූන් සොයා ගැනීම ඉතා අපහසුය. එනිසා ඒ ප්‍රදේශයේ උපසම්පදාකර්මය භික්ෂූන් අඩු ගණනකින් කිරීමට අවසර දුන මැනවි. අවන්ති ජනපදයේ භූමිය ඉතා රළුය. එනිසා ඒ පළාතේ පටවල් වැඩි ගණනකින් යුත් පාවහන් පාවිච්චියට අවසර දුන මැනවි. අවන්ති ජනපදයේ මිනිස්සු නිතර නෑම අගය කොට සලකති. එනිසා එහිදී නිතර නෑමට අවසර දුනමැනවි. මධ්‍යදේශයේ මිනිසුන් පැදුරු පාවිච්චි කරන්නාක් මෙන් අවන්ති පළාතේ මිනිස්සු වාඩිවීමට හම් පාවිච්චි කරති. එනිසා ආසන වශයෙන් හම් පාවිච්චි කිරීමට අවසර දුන මැනවි.

මේ ඉල්වීම අනුව බුදුහු භික්ෂු සංඝයා රැස්කොට කලින් පනවා තිබුණු ශික්ෂාපද, අවන්ති දේශයට පමණක් නොව මධ්‍යදේශයෙන් පිට හැම රටවලට ම සාධාරණ පරිදි, වෙනස් කළහ. එතැන් පටන් මධ්‍යදේශයෙන් පිට පළාත්වල දී විනය උගත් භික්ෂුවක් ඇතුළු පස් නමකගෙන් උපසම්පදා කර්මය කිරීමටත්,

2. පාචිත්තියඃ ගණභෝජනසික්ඛාපද.
3. දැනට මධ්‍ය ඉන්දියාවේ ග්වලියාර් රාජ්‍යයට අයිති උජ්ජයින් ප්‍රදේශයයි.

හම්පටවල් කීපයක් දැමූ පාවහන් පාවිච්චියටත්, නිතර නෑමටත්, ආසන වශයෙන් හම් පාවිච්චි කිරීමටත් පටන්ගන්නා ලදී.[4]

ආහාරපාන පිළිබඳව පනවා තිබුණු සමහර ශික්ෂාපද දුර්භික්ෂ කාලවල දී භික්ෂූන්ගේ පහසුව සලකා වෙනස් කළ බැව් මහා වග්ගපාළියේ භෙසජ්ජක්ඛන්ධකයෙහි පැහැදිලිව ම දක්වා තිබේ.[5] ආවාසයෙහි ආහාර ද්‍රව්‍ය තබා ගැනීම, ආවාසය ඇතුළෙහි ආහාර පිසීම, තමන් විසින් ම ආහාර පිසීම යන මේවා භික්ෂූන්ට අකැප හැටියට ශාස්තෲන් වහන්සේ විසින් කලින් පනවා තිබුණේය. නමුත් රජගහනුවර දුර්භික්ෂයක් හටගත් එක් අවස්ථාවක උන්වහන්සේට මේ ශික්ෂාපද වෙනස් කරන්නට සිදුවිය. මේ දුර්භික්ෂයේ දී මිනිස්සු භික්ෂූන්ට හාල්, තෙල්, ලුණු ආදි ආහාර ද්‍රව්‍ය ගෙනවුත් පිළිගැන්වූහ. ආවාසයෙහි ආහාර ද්‍රව්‍ය තබා ගැනීම අකැප බැවින් භික්ෂූහු ඒවා පිටත තැබූහ. බළල්ලු ද මීයෝ ද වෙනත් සත්තු ද ඒවා කා දැමූහ. බඩගිනිකාරයෝ සහ සොරු ඒවා සොරකම් කළහ. මේ බැව් දැනගත් බුදුහු ආවාසය ඇතුළෙහි ආහාර ද්‍රව්‍ය තබාගැනීමට අනුදත්හ. එකල භික්ෂූහු ආහාර ද්‍රව්‍ය ඇතුළෙහි තබාගත්හ. එහෙත් ආහාර පිසීම කරන ලද්දේ පිටතමය. එකල බඩගිනිකාරයෝ ආහාර පිසින තැනට අවුත් පිරෙන්නට වූහ. මෙය භික්ෂූන්ට මහත් කරදරයක් විය. සැනසිල්ලෙන් වළඳන්නටවත් ඉඩක් නැති විය. මේ බැව් දැනගත් බුදුහු ආවාසය ඇතුළෙහි පිසීමට අනුදත්හ. දුර්භික්ෂයේ දී ලැබුණු ආහාරවලින් වැඩි කොටසක් කප්පියකාරකයෝ ගත්හ. භික්ෂූන්ට ස්වල්පයක් දුන්හ. මෙසේ ආහාර පිළිබඳ තවත් ශික්ෂාපද කීපයක් ම මේ දුර්භික්ෂයේ දී අවලංගු කරන ලදී.

මෙසේ ආර්ථික හා සාමාජික වෙනස්වීම් අනුව කාලයටත් දේශයටත් අවස්ථාවටත් සුදුසු පරිදි විනය ශික්ෂාපද පැනවීම් සහ වෙනස් කිරීම් සිදුවූ බැව් විනය පිටකය පරීක්ෂාවෙන් කියවන විට පැහැදිලිව පෙනේ.

බුදුරජාණන් වහන්සේ විසින් සංඝයාගේ පාලනය කරන ලද්දේ නියම ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමයකට අනුවය. ඇත්ත වශයෙන් ම උන්වහන්සේ සංඝයාගේ ස්වාමියා වුව ද, කිසිකලෙකත් ඒ බලය එසේ පාවිච්චි කරන්නට උන්වහන්සේ අදහස් නොකළ සේක. "මම සංඝයා පරිහරණය කරමි කියා හෝ සංඝයා මා උදෙසා

4. මහාවග්ග, පි. 242 පටන්
5. මහාවග්ග, පි. 260 පටන්

පවතිනවාය කියා හෝ අදහසක් මා තුළ නැතැ'යි උන්වහන්සේ ආනන්ද ස්ථවිරයන් වහන්සේට පිරිනිවන් මංචකයේ දී වදාළහ.[6] එසේ ම තමනුත් ධර්මයත් පමණක් ම තමන්ට පිළිසරණ බවත් අන්‍යයකු පිළිසරණ නොවන බවත් තේරුම්ගෙන ජීවත්වන්නට අන්තිම මොහොතේ දී පවා උන්වහන්සේ සංඝයාට අවවාද කළ සේක.[7]

"ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුක්‍රමයන්ට ප්‍රිය කළ ජාතියකට අයත් කෙනකු වශයෙන් බුදුන්වහන්සේ තුළ ප්‍රජාතන්ත්‍රවාදී අදහස් කා වැදී තිබුණා විය හැක. උන්වහන්සේගේ සංඝයා ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමයකට අනුව දියුණු වෙනවා දැකීම උන්වහන්සේගේ අදහස විය. ඊට අනුව උන්වහන්සේ විනය නීති සම්පාදනය කළහ."[8]

විනය වූ කලි පරමාර්ථ සත්‍යයක් නොව එක්තරා සමාජයක නිරවුල් පැවැත්ම සඳහා ඇති කරගත් සම්මුතියකි. එය ආර්ථික හා සාමාජික වෙනස්වීම් අනුව කාලයටත් දේශයටත් සුදුසු පරිදි පැවැත්විය යුතු හෙයින්, ඒ ඒ අවස්ථාවල දී යෝග්‍ය පරිදි බුදුහු ශික්ෂාපද පැනවූහ. එසේ ම වෙනස් කළහ. මේ සාධාරණ සත්‍යය තේරුම්ගත් නිසා ම උන්වහන්සේ පිරිනිවන් පාන්නට කලින් අන්තිම මොහොතේ ආනන්ද ස්ථවිරයන් අමතා සංඝයා කැමැති නම් බුද්දානුබුද්දක සික්ඛාපද හෙවත් කුඩා ශික්ෂාපදයන් වෙනස් කිරීමට හෝ අත්හැර දැමීමට අවසර දුන් සේක.[9]

---

6. තථාගතස්ස ඛො ආනන්ද න එවං හොති: අහං භික්ඛුසංඝං පරිහරිස්සාමීති වා මමුද්දේසිකො භික්ඛුසංඝොති වා. (දීඝ II මහාපරිනිබ්බානසුත්ත, පි. 62)
7. අත්තදීපා විහරථ අත්තසරණා, ධම්මදීපා විහරථ ධම්මසරණා අනඤ්ඤසරණා (දීඝ ii, මහා පරිනිබ්බානසුත්ත, පිටු 62)
8. "Probably as a member of the clans which favoured democratic constitutions, Buddha became imbued with democratic ideas. He wanted to see his Sangha grow on democratic lines and framed the rules accordingly" Nalinaksh Dutt in "*The Cultural Heritage of India*" Vol. I.p. 290.
9. මහාපරිනිබ්බානසුත්ත: "ආකංඛමානෝ ආනන්ද සංඝො මමච්චයෙන බුද්දානුබුද්දකානි සික්ඛාපදානි සමූහනතු" (දීඝනිකාය II, පි.95)

# 3

# ධර්ම සංගායනා

බුදුන් පිරිනිවීමෙන් මාස කීපයක් ඇතුළත පවත්වන ලද පළමුවන සංගායනාවේ දී බුද්දානුබුද්දක සික්ඛාපදයන් පිළිබඳ මේ ප්‍රශ්නය ඉදිරිපත් විය. ඒ ගැන සංඝයා අතර මතභේදයක් ඇති විය. කුඩා ශික්ෂාපද මොනවා දැයි ශාස්තෘන් වහන්සේගෙන් අසා පැහැදිලිකර නොගැනීම ගැන සංඝසභාව අනඳ මහතෙරුන් වහන්සේට දෝෂාරෝපණය කළාය.

ඉතා හෙමින් හෙමින් කටයුතු සිදුවූ ඒ කාලයේ තබා පරමාණු යුගයට අයත් මේ කාලයේවත් දෙතුන් මාසයක් ඇතුළත රටක ආර්ථික හා සාමාජිකත්වය බරපතළ ලෙස වෙනස් නොවෙයි. බුදුන් පිරිනිවීමේ පටන් පළමුවන සංගායනාව දක්වා මාස කීපය තුළ ඉන්දියාවේ කිසිත් ආර්ථික හෝ සාමාජික වෙනසක් ඇතිවිය නොහැක. එහෙයින් සුළු ශික්ෂාපදයක්වත් වෙනස් කිරීමට හෝ අත්හැරීමට කිසිත් වුවමනාවක් නොවීය. එකල විසූ පුරාණ නමැති ස්ථවිරයන් වහන්සේ නමක් මේ සංගායනාව ගැන අසා එය හොඳබැව් පිළිගත් නමුත්, තමන් භාග්‍යවතුන් වහන්සේගෙන් ම අසා උගත් පරිදි ධර්මවිනය සිත්හි තබාගන්නා බැව් ප්‍රකාශ කළහ.[1]

බුදුන් පිරිනිවීමෙන් අවුරුදු සියයක් ගත විය. ඉන්දියාවේ ආර්ථික සහ සාමාජිකත්වය ද මිනිසුන්ගේ සිතුම් පැතුම් ද මේ ශතවර්ෂය තුළ එක්තරා ප්‍රමාණයකට වෙනස් වූවාට සැකයක් නැත. එහෙයින් ම විනයප්‍රතිපත්ති පිළිබඳව සංඝයා අතර ද මතභේද

1. චුලලවග්ගඃ පංචසතිකක්ඛන්‍ධක. පුරාණ ස්ථවිරයන් වහන්සේ සංගායනාව ගැන වැඩි සැලකිල්ලක් නොදැක්වූවාක් මෙන් පෙනේ.

පහළ විය. වේසාලියෙහි වජ්ජි භික්ෂූන් විසින් උපදවන ලද දශවස්තූන්[2] නිසා සංඝයා අතර කැලඹීමක් ඇතිවිය.

විනයපිටකය ශුද්ධකොට ප්‍රකාශ කරවූ ඕල්ඩන්බර්ග් පඬිතුමා මේ සිද්ධිය ගැන මෙසේ ලියයි. "ඒ කාලයේ බෞද්ධ සමාජය ජීවත් වූයේ කෙබඳු පරිසරයකදැයි මේ දශවස්තුවෙන් ඉතා පැහැදිලිව ප්‍රකාශවෙයි.... බුද්ධාගම නමින් හඳුන්වනු ලබන මේ ශ්‍රේෂ්ඨ බුද්ධිමාර්ගයේ පදනම හා ජීවිතයවූ නිදහස ඒ කාලයේම නැතිකරගත් බැව් ද, එසේ ම එය පූජකයන්ගේ ආගම විධියකට පෙරළාගත් බැව් ද මෙයින් හොඳ හැටි පෙනේ.[3]

වජ්ජි භික්ෂූන් විසින් උපදවන ලද දශවස්තුව විනය විරෝධී බැව් යස, රේවත සහ සබ්බකාමී ස්ථවිරයන් වහන්සේලාගේ ප්‍රධානත්වයෙන් කාලාශෝක රජු දවස පවත්වන ලද දෙවන සංගායනාවේදී තීරණය කරගන්නා ලදී.[4] මේ තීරණය පිළිනොගත් සංඝයා එක් ව වෙන ම සංගායනාවක් පවත්වා ථෙරීය නිකායෙන් වෙන් ව මහාසංඝික නමින් නිකායක් විය. මෙසේ ධර්මය සහ විනය ප්‍රතිපත්තීන් පිළිබඳ මතභේදයන් නිසා ම ඊළඟ

---

2. දශ වස්තුවඃ
   - i. සිංගිලොණකප්ප, ආහාරවලට මිශ්‍රකර ගැනීම සඳහා අඟක ලා ලුණු තබා ගැනීම.
   - ii. ද්වංගුලකප්ප, ඉර හැරී අඟල් දෙකක් යනතුරු වැළඳීම
   - iii. ගාමාන්තර කප්ප, වරක් වළඳා අවසන්කොට තව තැනකට ගොස් නැවතත් වැළඳීම.
   - iv. ආවාසකප්ප, මහා ආවාසයක තිබෙන එකම සීමායෙහි වෙන් වෙන්ව උපොසථකර්ම කිරීම.
   - v. අනුමතිකප්ප, නොපැමිණි භික්ෂූන්ගේ ඡන්දය පසුව ලබා ගන්නා බලාපොරොත්තුවෙන් විනය කර්ම කිරීම.
   - vi. ආචිණ්ණකප්ප, කැප වුවත් අකැප වුවත් උපාධ්‍යාය ආචාර්යයන් විසින් කරන ලද දෙය කැපයයි පිළිගැනීම.
   - vii. අමථිතකප්ප, වළඳා ඉවර කළ භික්ෂුවක් විසින් ක්ෂීරභාවය ඉක්ම වූ, දී බවට නොපැමිණි කිරි පාවිච්චි කිරීම.
   - viii. ජලොගිකප්ප, රා බවට නොපැමිණි නොමේරූ මීරා බීම.
   - ix. අදසකං නිසීදනං, නියමිත ප්‍රමාණයට වෙනස් නිසීදන පාවිච්චිය.
   - x. ජාතරූපරජතං, රන්රිදී පිළිගැන්ම.
3. *Vinaya*, Introduction xxix
4. සමන්තපාසාදිකා I පි. 19 පටන්, මහාවංස, පරි. IV

ශතවර්ෂය තුළ, ථෙරීය නිකායේ කොටස් ද ඇතුළුව, නිකාය 18ක් ම පහළ විය.[5]

මෙසේ නොඑක් මතභේදයන් සහ නිකාය භේදයන් පහළවීම, පිරිහීමේ නොව දියුණුවේ ලක්ෂණයක් බවත්, බුද්ධාගම එක තැනක පල් නොවී, මරණයට කැප නොවී, නවජීවනයෙන් සහ දියුණු තියුණු ධෛර්යයෙන් යුතුව කාලයට සහ දේශයට යෝග්‍ය පරිදි වෙනස් වෙමින් පැතිරී යෑමේ ලකුණක් බවක් කල්කටා විශ්වවිද්‍යාලයේ පාලිමහාචාර්ය බී. ඈම්. බරුවා කියයි.[6]

මෙපරිද්දෙන් දියුණු වූ නොඑක් මතභේදයන් සහ නිකායභේදයන් නිසා ම නැවතත් වරක් ක්‍රි. ව. පෙර 3 වන ශතවර්ෂයේ දී අශෝක රජු දවස තුන්වැනි වරටත් සංගායනාවක් කරන ලදී. මේ සංගායනාවෙන් පසු භික්ෂූන්ගේ වැඩපිළිවෙළ තවතවත් පළල් වන්නට පටන්ගත්තේය. අශෝක රජුගේ අනුග්‍රහය ඇතිව දක්ෂ විචක්ෂණ භික්ෂූන් සමූහයක් බුද්ධාගමත් බෞද්ධ සංස්කෘතියත් පැතිරවීම සඳහා ධර්මදූතයන් වශයෙන් රටවල් නවයකට බෙදී ගියහ.[7]

---

5. මහාවංස, V 1-13: නිකාය සංග්‍රහය පි. 5-6. අපේ පොත්වලට අනුව නිකාය භේදයට මුල මෙය වුවත් වසුමිත්‍ර හා වෙනත් මහායාන ආචාර්යවරුන්ගේ මතය මීට වෙනස්ය. ස්ථවිරවාදීන් කියන පරිදි රහත් බව ජීවිතයේ උසස් ම පරමාර්ථය හැටියට පිළිගැනීමට වජ්ජි භික්ෂූහු එකඟ නොවූහ. වජ්ජි භික්ෂූන්ගේ මතයේ හැටියට බුද්ධත්වය ජීවිතයේ උසස් ම පරමාර්ථයයි. රහත් බව ඒ මාර්ගයේ එක් අවස්ථාවකි. මේ මතභේදය නිකායභේදයට මුල් වූ බැව් මහායාන ආචාර්ය මතයයි. (Nalinaksh Dutt in *The Cultural Heritage of India*, Vol. I. p. 278)
6. *Ceylon Lectures* (1945) p. 229
7. සමන්තපාසාදිකා I පි. 37, මහාවංස, XII 1 පටන්

# 4

# ලක්දිවට බුද්ධාගම පැමිණීම

## Sinhalese Buddhism සිංහලයන්ගේ ජාතිකාගම

ධර්මාශෝක රජුගේ පුත්‍රරත්නය වූ මිහිඳු මහ රහතන්වහන්සේ විසින් ක්‍රි. පූ. 3 වැනි ශත වර්ෂයේ දී දේවානම්පියතිස්ස රජු දවස (ක්‍රි.පූ. 247-207) ලක්දිවට බුද්ධාගම ගෙනෙන ලදී. උන්වහන්සේ විසින් බුද්ධධර්මය පමණක් නොව, එකල ඉතා උසස් තත්ත්වයක පැවති සම්පූර්ණ බෞද්ධ සංස්කෘතිය ම මෙරටට ගෙනෙන ලදී. මිහිඳු මා හිමියන් මෙහි පැමිණෙන කාලයේ ලංකාව එතරම් දියුණු තත්ත්වයක නොපැවැත්තේය. සිංහලයා ජාතියක් හැටියට දියුණු වන්නටත්, ජාත්‍යන්තර කීර්තියට පත්වන්නටත්, පටන්ගත්තේ බුද්ධාගම වැළඳ ගැන්මෙන් පසුවය. සිංහල සාහිත්‍යය, කලා ශිල්ප, ගෘහනිර්මාණය සහ නගරනිර්මාණය, රටවැසියාගේ අධ්‍යාපනය, සච්චරිතය හා සෞඛ්‍යය, රටේ ආර්ථික හා දේශපාලන තත්ත්වය මිහිඳු මා හිමියන් ඇතුළු භික්ෂූන්ගේ මාර්ග දේශකත්වයෙන් ක්‍රමයෙන් දියුණු වන්නට පටන් ගත්තේය.

බුද්ධාගම සිංහල දේශයේත් සිංහල ජාතියේත් උරුමය හැටියට ජාතික ආගම හැටියට මේ දිවයිනෙහි ස්ථිරව ම සදහට ම පිහිටුවීම මිහිඳු මාහිමියන්ගේ අදහස විය. මෑත කාලයෙහි බටහිරින් පැමිණි ක්‍රිස්තියානි පාදිලිවරුන් මෙන් ආගමේ අයිතියත් බලයත් රටවැසියන්ට නොදී තමන් අතෙහි තබාගැනීම මිහිඳු මාහිමියන්ගේ අදහස නොවීය. ලක්දිව දෙමව්පියන්ට දාව, ලක්දිව ම උපන් කෙනකු, ලක්දිව දී ම මහණ වී, ලක්දිව දී ම විනය ඉගෙන, ලක්දිව දී ම, විනය දේශනා කරන තුරු ලක්බිමෙහි බුද්ධ ශාසනයේ මුල් නොඇදෙන බැව් මිහිඳු මා හිමියන් දේවානම්පියතිස්ස රජුගේ ප්‍රශ්නයකට පිළිතුරු වශයෙන් ප්‍රකාශ කෙළේ එහෙයිනි.[1]

1. සමන්තපාසාදිකා I පි. 60

බුද්ධශාසනය පිහිටුවීම පිළිබඳව මෙබඳු අදහසක් ත්‍රිපිටක පාළියෙහි සඳහන් නොවෙයි. එහෙත් උන්වහන්සේට වුවමනා කෙළේ බුද්ධාගම සිංහලයාගේ ජාතික-ආගම කිරීමයි. එය එසේ ම සිදුවිය.

එතැන් පටන් සිංහල ජාතියත් බුද්ධාගමත් ඔවුනොවුන් වැළඳ ගත්හ. බුද්ධාගම ආණ්ඩුවේ ආගම විය. ලක්දිව බුද්ධශාසනය ආරම්භ වූ ක්‍රි. පූ. 3 වැනි ශත වර්ෂයේ පටන් සිංහල රාජ්‍යයේ අවසානය වූ 19 වැනි ශත වර්ෂය දක්වා මේ අතිදීර්ඝ කාලය තුළ -මේ දෙවිසි ශතවර්ෂය තුළ සිංහල සිංහාසනයේ නීත්‍යනුකූල අයිතිය බෞද්ධයකුට ම මිස වෙන කිසිවකුටත් හිමි නොවන බැව් සිංහලයන්ගේ පිළිගැනීම විය.[2] මේ පිළිගැනීම 10 වැනි ශතවර්ෂය වන විට කොතරම් බලවත් වී ද යත්, ලක්දිව රජවීමට සාමාන්‍ය බෞද්ධයන් නොව බෝධිසත්වවරයන් ම අවශ්‍ය බවත්, ඒ සඳහා ඔවුන් සර්වඥයන් වහන්සේගෙන් විවරණය ලබා සිටින බවත් සතර වන මිහිඳු රජුගේ ශිලා ලිපියක සඳහන් වෙයි.[3]

එපමණක් නොවේ. බුද්ධශාසනය ආරක්ෂා කිරීම පිණිස මහාසංඝයා වෙතින් රජකම ලබාගන්නා බැව් ද ඒ ශිලා ලිපියේ ම සඳහන් වෙයි.[4] ලක්දිව රජවීමට සංඝයාගේ අනුමතිය අවශ්‍ය ව තිබුණු බැව් මෙයින් ඉතා පැහැදිලිව ම පෙනේ. 9 වැනි ශතවර්ෂයේ දී ඔටුනු පැළඳීම ද ආගමික කෘත්‍යයක් හැටියට සංඝයා ඉදිරියෙහි විහාරයේ දී ම සිදුකරන ලද බැව් මහාවංසයෙහි සඳහන් වෙයි.[5]

ලක්දිව බුද්ධ ශාසනයට හිමි බවත් එහෙයින් අබෞද්ධ චෝළ කේරළාදි රජුන්ට ලක්දිව රාජ්‍යයේ අයිතියක් නැති බවත් කීර්ති නිශ්ශංක මල්ල (1187 -1196) රජු විසින් පිහිටුවන ලද ශිලා ලිපිවල සඳහන් වෙයි.[6]

---

2. මහනුවර කාලයේ පවා මේ අදහස බලවත්ව පැවති බැව් 1816 ජුනි 13 දා බ්‍රවුන්රිග් ආණ්ඩුකාර තැන විසින් එංගලන්තයට යවන ලද ලියුමකින් පෙනේ. මේ ලියුම පසුව දැක්වෙයි.
3. *Epigraphia Zeylanica* I.pp. 234, 237.
4. තුමා පය්සිවුර් රක්(නුව)ස් මහසඟ්හු පිළිවැයූ රජ්සිරි පැමිණැ සැණැ බිසෙව් වින්දන (ද)වස් මඟ (ස)ග්හට් මෙහෙයට් උවසර්වස් - *Epigraphia Zeylanica* I, p. 234.
5. මහාවංස, LI. 82
6. ලක්දිවැ බුද්ධශාසනයට ප්‍රතිපක්ෂ අබෞද්ධ චෝඩ පාංඩ්‍යාදි රජුන් නොපිහිටියැ යුත්තේයැ- (පොළොන්නරුවේ ගල්පොත *Epigraphia Zeylanica*, II p. 109). බුදුසසුනට හිමි ලක්දිවට අබෞද්ධ චෝළ කේරළාදි රජදරුවෝ ද නො තැකියැ යුත්තාහ- (පොළොන්නරුවේ උතුරුදොරටුවේ ශිලාලිපිය *Epigraphia Zeylanica*, II p.159).

13 වැනි ශතවර්ෂයේ දී ලියන ලද පූජාවලියෙහි මේ අදහස තවදුරටත් මෙසේ විස්තර වෙයි. "මේ ලංකාද්වීපය බුදුන්ගේ ම ය. තුනුරුවන් පිරූ භාණ්ඩාගාරයක් වැන්න. එසේ හෙයින් මෙ ලක්දිව මිථ්‍යා දෘෂ්ටිගතුවන්ගේ වාසය නම් පෙර යක්ෂයන්ගේ වාසය ස්ථිර නුවූවා සේ ම ස්ථිර නොවේ ම ය. මිථ්‍යාදෘෂ්ටි ගත් රජෙක් ලක්දිව බලහත්කාරයෙන් කිසිකලෙක රාජ්‍යය කෙළේ වී නමුත් ඔවුන්ගේ වංශප්‍රතිෂ්ඨා නොවනු බුදුන්ගේම ආනුභාව විශේෂයෙක් ම ය. එසේ හෙයින් මෙ ලක්දිව සම්‍යක්දෘෂ්ටි ගත් රජුන්ට ම සීහෙන හෙයින් උන්ගේ කුලප්‍රවේණිය පවතින්නේ ද ඒකාන්ත ම ය."[7]



ලංකාව ආණ්ඩුකරන රජෙකුට නියම පළමුවන ආඥාව නම් බුද්ධාගම හැර වෙනින් ආගමක් නොගන්නා බව යයි මහනුවර මල්වත්තේ සංඝ සභාව විසින් සිංහල රාජනීතිය පිළිබඳව එකල ලක්දිව මුහුදුබඩ පළාත් ආණ්ඩු කළ ෆල්ක් (1765-1785) නම් ලන්දේසි ආණ්ඩුකාර තැන වෙත යවන ලද ලිපියේ සඳහන් වෙයි.[8]

බුද්ධාගම සිංහල රාජ්‍යයට අයත් නීත්‍යනුකූල සංස්ථාවක් හැටියට ම පවත්වන ලද බැව් නොඑක් කරුණුවලින් පැහැදිලි වෙයි. බුද්ධශාසනයට විරුද්ධව ක්‍රියාකිරීම රාජද්‍රෝහී ක්‍රියාවක් හැටියට සලකන ලදී. එහෙයින් ධාතුසේන (ක්‍රි.ව. 460-478) රජුට කලින් ලක්දිව පැවැති ද්‍රවිඩ ආණ්ඩු සමයේ දී ද්‍රවිඩ ආණ්ඩුවට පක්ෂව ක්‍රියාකළ යුද්ධාපරාධකාර සිංහලයන්ට විරුද්ධව ධාතුසේන රජු විසින් ඉදිරිපත් කරන ලද එක චෝදනාවක් නම්, ඒ සිංහලයන් තමන්ගේ රජු හෝ බුද්ධ ශාසනය හෝ ආරක්ෂා නො කළ බවයි.[9]

එසේ ම දාගැප් මහබෝ සිඳ බිඳ දැමූවන්ට පුරාණ සිංහල රාජනීතියට අනුව මරණීය දණ්ඩනය නියමව තිබුණ බැව් මහනුවර මල්වත්තේ සංඝ සභාව විසින් සිංහල රාජනීතිය පිළිබඳව ලන්දේසි ආණ්ඩුකාර තැන වෙත යවන ලද යට සඳහන් ලිපියේ ප්‍රකාශ වෙයි.[10]

වරින් වර ලක්දිවට පැමිණ බලයෙන් සිංහාසනය අත්පත් කොට ගත් දෙමළ රජුන් පවා බෞද්ධයන් හැටියට රාජ්‍යය කළ බැව් බොහෝ කරුණුවලින් ඔප්පුවේ. සමහර විට ඔවුන් ඇත්ත වශයෙන් ම බෞද්ධයන් නොවූවත්, මේ රට ආණ්ඩු කිරීමේ පහසුව සලකා බෞද්ධයන් හැටියට සිටියා විය හැක. 5 වැනි ශත වර්ෂයේ දී

7. පූජාවලිය, පි 656.
8. ප්‍රභාෂෝදයඃ 1930 මැයි, පි. 17
9. තෙ මංවා සාසනං වා නො රක්ඛිංසු - මහාවංස, XXXVIII 38
10. ප්‍රභාෂෝදය : 1930 මැයි, පි 19

ලක්දිව රාජ්‍යය කළ බුද්දපාරින්ද නම් දෙමළ රජ බෞද්ධයකු හැටියට පෙනී සිටිය බැව්, එක්තරා ශිලාලිපියක ඒ රජුගේ නාමට මුලින් "බුද්ධදාස" යන විශේෂණය යොදා තිබීමෙන්, නිසැකව ම ඔප්පුවේ.[11] මහනුවර කාලයේ රජකළ දෙමළ රජුන් බුද්ධාගම වැලඳගෙන බෞද්ධයන් හැටියට කටයුතු කළ බැව් ඉතා ප්‍රකටය.[12]

දඹදිවින් ලක්දිවට ලැබුණු ශ්‍රී මහාබෝධි ශාඛාව, පාත්‍රධාතු, දන්තධාතු, කේසධාතු ආදී සියලු ම ආගමික වස්තු ද, රුවන්වැලිසෑය ආදි ආගමික ගොඩනැඟිලි ද සිංහලයන්ට අයත් ජාතික වස්තු හැටියට සිංහල ආණ්ඩුව ආරක්ෂා කෙළේය. කේසධාතුව පැමිණීමෙන් පසු එය නිමිති කොට "ආසිග්ගාහක" නමින් රාජකීය නම්බු නාමයක් ද පළමුවන මුගලන් රජු කාලයෙහි ඇති කරන ලදී.[13] සිංහලයන්ගේ ප්‍රීත්‍යුත්සවයෝ ද ආගමික උත්සවයෝ ම වූහ.

මෙසේ ආගමත් ජාතියත් රාජ්‍යයත් එක්වීම නිසා රටේ පාලන කටයුතුවලට ද, ජාතියේ නිදහසට සහ ආරක්ෂාවට ද භික්ෂූන් වහන්සේලා හැම අතින් ම සහභාගි වන්නට පටන් ගත්හ.

---

11. *Epigraphia Zeylanica* VI 114 "බුදදස ළ පරිදෙව" යනු ශිලාලිපි වචනයි
12. ශ්‍රී විජයරාජසිංහ (1739-1747) රජ දකුණු ඉන්දියාවේ නායක්කර් වංශයට අයත් හින්දු භක්තික කුමාරයෙකි. එහෙත් ලක්දිව රජු හැටියට අභිෂේක ලැබීමේ දී මේ රටේ ජාතිකාගම වූ බුද්ධාගම වැලඳ ගත්තේ ය. ඊට පසු ඇති වූ දෙමළ රජවරු ද බෞද්ධයන් හැටියට ම ක්‍රියාකළෝය.
13. මහාවංස XXXIX 54. ඉංග්‍රීසි අධිරාජ්‍යය මගින් දෙනු ලබන නයිට්නාම ආදිය ක්‍රිස්තියානි ආගමට සම්බන්ධය. බෞද්ධයන් විසින් ඒ නම්බුනාමයන් ලැබීම සැබවින් ම බෞද්ධ නාමයට කරන නින්දාවකි.



සංඝමිත්තා ස්ථවිරින් වහන්සේ ශ්‍රී මහාබෝධි ශාඛාව ලක්දිවට වැඩමවති.
(කැලණි විහාරයේ චිත්‍ර)



හේමමාලා කුමරිය දන්ත ධාතූන්වහන්සේ ලක්දිවට වැඩමවයි.
(කැලණි විහාරයේ චිත්‍ර)

# 5

## ආගමික - ජාත්‍යාලය හා ජාතික සංස්කෘතිය

සිංහල ගිහි පැවිදි දෙපක්ෂයේ ම ආගමාලයත් ජාත්‍යාලයත් ඉතා බලවත් ලෙස දියුණුවන්නට පටන්ගත්තේ දුටුගැමුණු කාලයේ පටන් ය. ක්‍රි. පූ. දෙවන ශතවර්ෂයේ මැද හරියේ දී එළාර නම් සොලී රජුට අනුරාධපුරය යටත් විය. සිංහලයන්ගේ නිදහස නැති විය. බුද්ධාගමේ දියුණුව නතර විය. ජාතිය පිරිහෙන්නට පටන් ගත්තේය.

අසහාය ජාතික වීරයා වූ දුටුගැමුණු කුමාරයාගේ නායකත්වයෙන් රුහුණේ සිංහලයෝ ජාතියත් ආගමත් නිදහස් කර ගන්නට අභීතව ඉදිරිපත් වූහ. මේ සටන රාජ්‍ය සැපය පිණිස නොව, බුද්ධශාසනය පිහිටුවීම පිණිස කරන ආගමික සටනක් බැව් දුටුගැමුණු කුමාරයා රටවැසියන්ට ප්‍රකාශ කෙළේය. කුමාරයා යුද්ධයට ගෙනගියේ ධාතු නිදන් කළ කුන්තයකි. ආගමේ නිදහස ජාතියේත් නිදහස බැව් එකල සිංහලයෝ දැන සිටියාහ. එහෙයින් දුප්පත් පෙහොසත් සියල්ලෝ ම මේ සටනට එක්වූහ.

ජාතියේත් ආගමේත් විමුක්තිය පිණිස කළ මේ මාරාත්මක සංග්‍රාමයේ දී එකල විසූ මහරහතන් ප්‍රමුඛ සිංහල භික්ෂූහු, තමන්ගේ පාඩුවේ ආරාමවලට වී නොසිට, ඉදිරියට අවුත්, තමන්ගෙන් ඉටුවිය යුතු සියලු ම යුතුකම් ඉටු කළහ. දුටුගැමුණු කුමාරයාත් තිස්ස කුමාරයාත් අතර ඇති වූ ආරාවුල ඒ අවස්ථාවේ ජාතික සටනට මහත් බාධාවක්ව පැවැති බැව් දුටු ගෝධගත්තතිස්ස ස්ථවිරයන් වහන්සේ දෙබෑ කුමරුවන් සමඟි කිරීමට මූලික වූහ. රහත්වීමට පින් ඇතිව සිටි ථෙරපුත්තාභය නම් භික්ෂුව ජාත්‍යාලයෙන් හා ශාසනාලයෙන් උද්දාම ව සිවුරු හැර ගොස් යුද්ධ හමුදාවට ම එක්විය. මෙසේ සිවුරු හැර ගොස් ඒ සටනට එක් වූ තවත් බොහෝ භික්ෂූන් එකල සිටියාට සැකයක් නැත. දුටුගැමුණු කුමාරයාගේ

ආරාධනා පරිදි රහතන් ප්‍රමුඛ මහා සංඝයා යුද්ධ හමුදාවත් සමග ම ඉදිරියට ගමන් කරන්නට පටන් ගත්හ. මහාසංඝයා වහන්සේලාගේ දැකීම "මංගල්‍යයක්" සහ "රක්ෂාවක්" වන බැව් දුටුගැමුණු කුමාරයා ප්‍රකාශ කෙළේය. එසේ ම සංඝයාගේ සහයෝගය දුටු රටවැසියෝ තවතවත් යුද්ධයට එක්වූහ. උන්වහන්සේලාගේ ආශිර්වාදය ලත් යුද්ධභටයෝ ප්‍රතියත්න ධෛර්යයෙන් සටන් කළහ.[1]

සිංහලයාගේ ජාත්‍යාලයත් ආගමාලයත් වෙන්කළ නොහැකි පරිදි ඒකාබද්ධ වූයේ මෙ තැන් පටන් ය. එකල මේ "ආගමික ජාත්‍යාලය" කොතරම් උත්සන්න වී ද යත් රටේ ආගමේ ජාතියේ නිදහස පිණිස මනුෂ්‍යඝාතනය පවා එතරම් බරපතළ වරදක් නොවන බැව් ගිහි පැවිදි දෙපක්ෂය ම විශ්වාස කරන්නට වූහ.

යුද්ධයෙන් ජයගත් දුටුගැමුණු රජ (ක්‍රි. පූ. 101 -77) තමන් විසින් දහස් ගණන් මිනිසුන් මරන ලද බැව් සිහිකොට එහි කර්ම විපාකයට භයින් දිනක් පසුතැවෙන්නට විය. එවිට පියඟු දිවයින් වැසි රහත් සංඝයා වහන්සේලාගේ නියෝජිතයන් වශයෙන් රහතන් අට නමක් වැඩමවා මෙසේ වදාළහ:

"මහරජ ඒ කර්මයෙන් ඔබගේ සුගතියට බාධාවක් නැත. ඔබ විසින් මරන ලද්දේ මනුෂ්‍යයන් එකහමාරක් පමණකි. (දියඩ්ඪමනුජා) එකෙක් තිසරණයෙහි පිහිටියෙකි. අනිකා පන්සිල්හි පිහිටියෙකි. මිථ්‍යාදෘෂ්ටි වූ දුශ්ශීල වූ සෙස්සෝ තිරිසනුන් සමානය (මිච්ඡාදිට්ඨී ච දුස්සීලා සෙසා පසුසමා මතා). එහෙත් ඔබ බෙහෙවින් බුද්ධශාසනය බබුළුවන්නෙහිය. එහෙයින් සිතේ අමාරුව දුරුකර ගත මැනැව්"[2]

මෙය රහතන් අට නමක් විසින් කරන ලද දේශනාවක් බැව් මහාවංසයෙහි සඳහන් වෙයි. එහෙත් එය බුද්ධ ධර්මයට

1. භික්ෂූහු යුද්ධ කරන්නට ගියෝ යැයි වරදවා තේරුම් නොගත යුතුයි. දන්දීමට භික්ෂූන් වැඩමවාගෙන ගිය බැව් සමහරු කියති. මේ භික්ෂූන්ට දන් දුන්නාට කිසි ම සැකයක් නැත. එහෙත් මෙහි ප්‍රධාන අදහස එය නොවේ. යුද්ධ හමුදාව සමග භික්ෂූන් වඩින විට, මේ යුද්ධය ආගමික වැඩක් හැටියට පෙනී යයි. මේ ගැන කරුණු විමසා තවතවත් මහජනයා යුද්ධයට එකතු වෙයි. යටත් වූ පළාත්වල සාමය පැතිර වීමට ද භික්ෂූන්ගේ උපකාරය ඉතා අවශ්‍ය විය.
   මෙසේම II රාජසිංහ (1635-1687) රජු ද යුද්ධයට යද්දී සංඝයා වැඩමවාගෙන ගිය බැව් සඳහන් වේ. (මහාවංස, xcvi 16)
2. මහාවංස, xxv 103-111.

සම්පූර්ණයෙන් ම විරුද්ධ කතාවකි. ක්‍රි. පූ. දෙවන ශතවර්ෂයේ විසූ රහතන් එදා මෙබඳු කතාවක් කළා ද නැද්දැයි අපට අද ස්ථිරව කිය නොහැක. එහෙත් ක්‍රි. ව. පස්වන ශතවර්ෂයේ හෙවත් මෙයින් අවුරුදු 1,500කට පූර්වයෙහි විසූ මහාවංස කර්තෘභූත මහානාම ස්ථවිරයන් වහන්සේ විසින් මේ අදහස මහාවංසයෙහි ලියන ලද බවට කිසි ම සැකයක් නැත. එයින් ඔප්පුවන්නේ, යටත් පිරිසෙයින්, පස්වන ශත වර්ෂයේ විසූ වගකියයුතු මහාස්ථවිරවරුනුත් රටවැසි අනිත් ගිහිපැවිදි දෙපක්ෂයත් මේ අදහස ග්‍රන්ථාරූඪ කිරීමට තරම් පිළිගෙන තිබුණු බවයි. රටේ ජාතියේ ආගමේ නිදහසත් දියුණුවත් පිණිස ක්‍රියාකිරීම කොතරම් ශ්‍රේෂ්ඨ දෙයක් හැටියට එකල ගණන් ගෙන තිබුණා ද කිවහොත්, ඒ වෙනුවෙන් මනුෂ්‍ය ඝාතනයවත් එතරම් වරදක් නොවේ යයි රහතන් පවා පිළිගත් බැව් එකල ගිහිපැවිදි දෙපක්ෂයේ ම සිංහලයෝ විශ්වාස කළෝ ය. මෙයින් ඉතා ම පැහැදිලි වන කරුණක් නම්, එකල භික්ෂූන් ජාතික සේවයෙහි යෙදීම, ආගමික කටයුතුවල යෙදීම මෙන් ම තමන්ට අයත් උසස් යුතුකමක් හැටියට පිළිගෙන සිටිය බවයි.

දුටුගැමුණු කාලයෙහි භික්ෂූන් ජාතික සංස්කෘතිය පිළිබඳ සියලු කාර්යයන්හි ප්‍රමුඛව ක්‍රියා කළ බැව් නොඑක් උදාහරණවලින් පැහැදිලි වෙයි. ගෘහනිර්මාණය වැනි ශාස්ත්‍රයන් පිළිබඳව ද උන්වහන්සේලාගේ දැනීම ඉතා උසස් විය. දුටුගැමුණු රජුගේ ඉල්ලීම පරිදි, නවමහල් ලෝවාමහාපායෙහි සැලැස්ම රහතන් විසින් ඇඳින ලද බැව් මහාවංසයෙහි දැක්වෙයි.[3] රුවන්වැලිසෑයේ ධාතුගර්භයේ සැලැස්ම සහ සියලු ම කර්මාන්ත සංවිධානය ඉන්දගුත්ත රහතන් වහන්සේ විසින් කරවන ලදී.[4] එපමණක් නොව රුවන්වැලිසෑය ගොඩනැගීමට ගඩොල්දීම් ආදියෙන් භික්ෂූන් තමන් ම උදව් කළ බැව් ද මහාවංසයෙහි සඳහන් වෙයි.[5]

දුටුගැමුණු කාලයේ පටන් සිංහල භික්ෂූහු තව තවත් උද්‍යෝගයෙන් ආගමික කටයුතුවල මෙන්ම ජාතික සේවයෙහි ද ප්‍රමුඛයන් හැටියට ක්‍රියාකරන්නට පටන් ගත්හ. ඒ කාලයේ හැටියට රජුන් තේරීම වැනි අතිශයින්ම වගකියයුතු බරපතළ දේශපාලන කටයුතුවලදී ද භික්ෂූහු මූලිකව ක්‍රියා කළහ. සද්ධාතිස්ස (ක්‍රි.පූ 77-59) රජුගේ මරණයෙන් පසු ලජ්ජිතිස්ස කුමාරයාට සිංහාසනය හිමිවිය යුතුව තිබුණේ ය. එහෙත් ථූපාරාමයෙහි රැස් වූ සංඝයාගේ

3. මහාවංස, xxvii 9-20
4. මහාවංස, xxx 98.
5. මහාවංස, xxx 19-41.

අනුමැතියෙන්, යම්කිසි කරුණක් නිසා ථුල්ලත්ථන කුමාරයා රජකමට පත්කර ගන්නා ලදී.[6] පළමුවන විජයබාහු (ක්‍රි.ව 1055 - 1114) රජුගේ මරණයෙන් පසු එම රජුගේ සහෝදරිය ද, ඇගේ පුත්‍රයෝ තුන්දෙනා ද, අමාත්‍යවරු ද, භික්ෂු සංඝයා ද රැස්වී යුවරජුට රාජ්‍යය පැවරූහ.[7] රාජාධිරාජසිංහ (ක්‍රි.ව 1780-1798) රජුගේ මරණයෙන් පසු සිංහල සිංහාසනයට සුදුස්සකු තේරීමේ දී අමාත්‍යවරු ද, නායක ස්ථවිරයන් වහන්සේලා ද එක්වී ශ්‍රී වික්‍රම රාජසිංහ රජකමට පත් කරගත්හ.[8]

"යම්කිසි සැලකිය යුතු අලුත් දෙයක් පටන් ගැනීමට කලින් රටේ අධිපතීන්ගේ හා බොහෝවිට ප්‍රධාන ස්ථවිරයන් වහන්සේලාගේ ද අදහස් විමසීම චාරිත්‍රය විය. මහජනයා පිළිබඳ වෙනත් වැදගත් ප්‍රශ්නයක් මතු වූ විට ද අවවාද ලබාගැනීමට සිරිත් වශයෙන් ම මේ පුද්ගලයෝ කැඳවන ලදහ."[9]

මෙසේ සිංහල රාජ්‍යයේ මුල්කාලයේ පටන් අවසානය දක්වා සිංහල භික්ෂූන් එකල පැවැති දේශපාලනයේ ඉතාම වගකිය යුතු කාර්යය වූ රට පාලනයට සුදුසු රජුන් තේරීමේ දී මෙන් ම වෙනත් වගකියයුතු වැඩවල දී ද මූලිකව ක්‍රියා කළ බැව් පැහැදිලිව පෙනේ.

---

6. මහාවංස, xxxiii 18.
7. මහාවංස, lxi 1-3.
8. Davy's Travels in Ceylon (London 1821) p.159
9. "Before innovations of importances are carried in to effect it is customary to consult the principal chiefs, and frequently the principal Priests, and when other matters of public moment are in agitation the same persons are usually called into his councils" *A Sketch of the Constitution of the Kandyan kingdom* by Sir John D'Oly, Ceylon 1929. p.1.

# 6

# මූලික වෙනස්වීම්

ක්‍රි. පූ. පළමුවන ශතවර්ෂය බුද්ධාගමේ අදහස් මෙන් ම භික්ෂූන්ගේ ජීවිතය ද පිළිබඳව වැදගත් වෙනස්වීම් රාශියක් සිදුවූ සැලකිය යුතු යුගයකි. මේ ශතවර්ෂයේ මැද හරියේ දී රජවූ වළගම්බා රජුට විරුද්ධ ව රුහුණෙහි විසූ තිස්ස නම් බමුණෙක් යුද්ධ ප්‍රකාශ කෙළේය. ඒ අතර දෙමළ පරසතුරෝ ලක්දිවට ගොඩ බැස, වළගම්බා රජු එළවා දමා, අනුරාධපුරය අත්පත්කොට ගෙන මේ රට ආණ්ඩු කරන්නට පටන් ගත්හ. මේ කාලයේ ම බැමිණිටියාසාය නමින් ප්‍රසිද්ධ පෙර නොවූ ඇසූ විරූ භයානක දුර්භික්ෂයක් ද රටේ පැතිරෙන්නට විය. මේ නිසා ජාතිය මෙන් ම ආගම ද විපතින් විපතට පත්විය.

වළගම්බා රජ ඇමැතියන් කීපදෙනකුත් සමග පිටිසර පළාතක සැඟවී රහසිගතව යුද්ධ හමුදාවක් රැස්කොට ගෙන සතුරා දිවයිනෙන් පළවා හැරීමට කටයුතු සූදානම් කරමින් සිටියේය. මේ අතර දිනක් හදිසි කෝපයක් නිසා රජු විසින් එක් ඇමැතියෙක් සැහැසි ලෙස මරන ලදී. මෙයින් බලවත් ලෙස කලකිරුණු අනිත් අමාත්‍යයෝ රජු හැරදමා, සතුරාට එක්වන අදහසින්දෝ, පිටත්වී ගියෝය. මගදී සොරුන්ගෙන් විපතට පත් ඒ අමාත්‍යවරු හම්බුගල්ලක විහාරයෙහි හෙවත් කෙම්ගලු වෙහෙර වැසි මහාතිස්ස නම් ස්ථවිරයන් වහන්සේ විසින් බේරාගන්නා ලදහ. ඇමැතිවරුන්ගෙන් අභ්‍යන්තර තොරතුරු දැනගත් තිස්ස ස්ථවිරයන් වහන්සේ මේ භේදය නිසා ජාතියටත් ආගමටත් සිදුවිය හැකි විපත දැක හටගත් දැඩි ශෝකයෙන් ඇළලී ගොස්, ව්‍යක්ත ලෙස කරුණු පහදාදී, සියලු නොමනාපකම් අමතක කොට රජු හා එක් වී බුද්ධශාසනය බේරා ගැනීමට ඉදිරිපත් වන ලෙස අමාත්‍යයන්ගෙන් ඉල්ලා සිටියා හ. ඇත්ත වශයෙන් මෙය

නම් රජු හා එකතු වී දෙමළුන්ට විරුද්ධව සටන් කිරීමට කරන ලද ඉල්ලීමකි. අමාත්‍යයෝ එකඟ වූහ. තිස්ස ස්ථවිරයන් වහන්සේ විසින් රජු හා අමාත්‍යයන් අතර ස්ථිර සමගියක් ඇති කරන ලදී.

මෙසේ මේ අන්තරායදායක අවස්ථාවේ දී මුන්වහන්සේ මැදහත් නොවූහු නම්, සිංහල ජාතියටත් ලංකා බුද්ධශාසනයටත් කුමකින් කුමක් සිදුවේ දැයි කාට කිය හැකි ද? තිස්ස ස්ථවිරයන් වහන්සේ විසින් කරන ලද ජාතික ආගමික සේවයෙහි උදාරකම සමහර විට අද අපට සම්පූර්ණයෙන් තේරුම්ගත නොහැක. එහෙත් එදා මුළු රට ම උන්වහන්සේට ණයගැති බැව් වළගම්බා රජත් අමාත්‍යයෝත් දැන සිටියහ. ඒ භයානක විපතින් සිංහල ජාතියත් බුද්ධාගමත් බේරා ගත හැකි වූයේ දූරදර්ශී තිස්ස ස්ථවිරයන් වහන්සේගේ සහාය නිසා බැව් ඔවුහු දත්හ. එනිසා ජාතිය වෙනුවෙන් කෘතගුණ සැලකීමක් වශයෙන් වළගම්බා රජ අභයගිරි මහාවිහාරය ගොඩනඟා තිස්ස ස්ථවිරයන් වහන්සේට පූජා කෙළේ ය. අමාත්‍යයෝ ද වෙන වෙන ම විහාර ගොඩනඟා උන්වහන්සේට පිළිගැන්වූහ.[1]

වළගම්බා කාලයේ ඇති වූ බැමිණිටියාසාය නිසා ලක්දිවට භායානක විපත්වලට මුහුණ පාන්නට සිදුවිය. සමහරු මිනීමස් පවා කෑවෝය. භික්ෂූන්ට ජීවත්වීමට ක්‍රමයක් නැති විය. ඇතැම් භික්ෂූහු දිවයින හැර ඉන්දියාවට ගියාහ. ඇතැම්හු කඳුකර පළාත්වලට ගොස් ජීවත්වූහ. බොහෝ මිනිසුන් මෙන් ම භික්ෂූහු ද ආහාර නැතිව මරණයට කැපවූහ. විහාර පන්සල් පාළුවිය. අනුරාධපුරයෙහි මහා විහාරමළුවේ පමණක් නොව රුවන්වැලිසෑයේත් ගස්වැල් වැවෙන්නට විය.[2]

මේ දරුණු විපත් නිසා භික්ෂු ජීවිතයත් බුද්ධශාසනයත් පිළිබඳ ඉතා සැලකිය යුතු මූලික වෙනස්කම් කීපයක් මේ කාලයේ සිදුවූ බැව් පෙනේ.

තවතවත් මෙබඳු විපත්වලට මුහුණ පාන්නට වුවහොත්, ඒතාක් කටපාඩමින් ගෙනෙන ලද ත්‍රිපිටක ධර්මය මතු කාලයෙහි එසේ පවත්වාගෙන යෑම දුෂ්කර බැව් දූරදර්ශී මහා ස්ථවිරයන් වහන්සේලාට පෙනීගියේය. එහෙයින් උන්වහන්සේලා මාතලේ අලුවිහාරේදී පළමුවන වරට ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කළෝය.

---

1. මහාවංස xxxii 35-94
2 විභංගඅට්ඨකථා පි. 314-318, අංගුත්තරඅට්ඨකථා පි. 52

ප්‍රතිපත්තියත් ප්‍රතිවෙධයත් පර්යාප්තියට[3] වඩා උතුම් බැව් තථාගතයන් වහන්සේගේ මුල් ඉගැන්වීමයි. ධර්මය ඉගෙනීමට වඩා ප්‍රතිපත්ති පිරීමත් නිර්වාණය අවබෝධ කිරීමත් උතුම් බැව් හැමදෙනා ම දන්නා ප්‍රසිද්ධ කරුණකි. එහෙත් යට කී දුර්භික්ෂයෙන් පසු රැස්වූ මහාස්ථවිරයන් වහන්සේලා අතර මේ ගැන මතභේදයක් ඇතිවිය. ශාසනයේ මුල පර්යාප්තියද ප්‍රතිපත්තියදැයි ඊට පෙර ඇති නොවූ ප්‍රශ්නයක් පැන නැංගේය. මේ ප්‍රශ්නය පැන නැගීමට ප්‍රධාන හේතුව දුර්භික්ෂයත්, වෙන විපතුත් නිසා රටේ තත්ත්වය හා අදහස් වෙනස්වීම බව සිතීමට ඉඩ තිබේ.

මේ විවාදයේ දී ශාසනයේ මුල ප්‍රතිපත්තියයයි පංසුකූලික භික්ෂූහු කීහ. එහෙත් ශාසනයේ මුල පර්යාප්තිය බැව් ධර්මකථික භික්ෂූන්ගේ මතය විය. දෙපක්ෂයෙන් ම කරුණු ඉදිරිපත් කරන ලදී. අවසානයේ දී පර්යාප්තිය ප්‍රතිපත්තියට වඩා වැදගත් බවත්, එය ශාසනයට මුල බවත් සම්මත විය. පංසුකූලික භික්ෂූහු නිශ්ශබ්ද වූහ. ධර්ම කථිකයන්ට ජය අත්විය.[4]

"විදර්ශනා වඩන භික්ෂූන් සියයක් දහසක් ඇති කල්හිත් පර්යාප්තිය නැතහොත්, ආර්යමාර්ගය අවබෝධ වීමක් නම් නැතැ'යි මීට පසු අංගුත්තර අටුවාවේ සඳහන් වේ.[5]

මේ අදහසට අනුව "ප්‍රතිවේධයත් ප්‍රතිපත්තියත් ඇතත් නැතත් ශාසනයේ පැවැත්මට පර්යාප්තිය ප්‍රමාණ ය. පණ්ඩිතයා ත්‍රිපිටකය ඉගෙන දෙක ම සම්පූර්ණ කරයි. එහෙයින් පර්යාප්තිය පවත්නා කල්හි ශාසනය පවත්නේ වෙයි." යනු දීඝ, මජ්ඣිම නිකාය අටුවාවල සඳහන් වෙයි.[6]

එසේ ම පර්යාප්තිය සුළු කොට තැකීම බලවත් වරදක් බැව් විභංගඅට්ඨකථාවේ කියා තිබේ.[7]

---

3. පර්යාප්තිය - ත්‍රිපිටක ධර්ම ඉගෙනීම
   ප්‍රතිපත්තිය - සීලාදි ගුණධර්ම පුරුදු කිරීම
   ප්‍රතිවෙධය - නිර්වාණය අවබෝධ කිරීම
4. අංගුත්තර අට්ඨකථා පි. 52- 53.
5. අංගුත්තර අට්ඨකථා පි. 53. ආරද්ධවිපස්සකානං භික්ඛූනං සතෙපි සහස්සේපි සංවිජ්ජමානෙ පරියත්තියා අසති අරියමග්ගපටිවේධො නාම න හොති.
6. පටිවෙධො ච පටිපත්ති ච හොතිපි න හොතිපි සාසන ඨිතියා පන පරියත්ති පමාණං. පණ්ඩිතොහි තෙ පිටකං සුත්වා ද්වෙ පූරෙති.... තස්මා පරියත්තියා ඨිතාය සාසනං ඨිතං හොති. දීඝනිකායට්ඨකථා. පි. 654 මජ්ඣිමනිකායට්ඨකථා II පි. 881.
7. විභංග අට්ඨකතා පි. 336.



රුවන්වැලිසෑය: මහා විහාරයේ මහා චෛත්‍යය



මාතලේ අලුවිහාරේ පළමුවරට ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කළ තැන.

එහෙත් යට කී පරිදි අටුවාවල දැක්වෙන මතය, බොහෝ ඉගෙනීම ඇතත් ප්‍රතිපත්තිය නැති තැනැත්තා ස්වල්ප ඉගෙනීමෙන් යුත් ප්‍රතිපත්තිය ඇති තැනැත්තා තරම් නොවටනේ යැයි ධම්මපදයෙහි[8] දැක්වූ මුල් අදහසට වෙනස් වූවකි.

එසේ වතුදු කල් යත් ම සමාජයේ ඇතිවූ වෙනස්කම් නිසා, මිනිසුන්ගේ අදහස් වෙනස්වීම නිසා, ප්‍රතිපත්තියට භාවනාවට වඩා උගත්කම උසස් ලෙස සලකන්නට සිදුවිය. උගත්කමින් සමාජයට ලොකු මෙහෙයක් සිදුවූ බැවින් එහි අගය වැඩිවිය. භාවනානුයෝගී විවේකකාමියා සමාජයෙන් වෙන්ව, සමාජයට වැඩක් නැතිව, විවේක ස්ථානයක වෙසෙයි. උගතා සමාජයට අවශ්‍ය, සමාජය අගය කොට සලකන මෙහෙයක යෙදී සිටියි. එහෙයින් සමාජයෙහි වැඩ කරන උගතාගේ වටිනාකම වැඩිවීම ස්වාභාවිකය. එනිසා ම පර්යාප්තිය ප්‍රතිපත්තියටත් ප්‍රතිවේධයටත් වඩා උසස් ලෙස සලකන්නට සිදුවිය. බුද්ධාගමේ මූලික ඉගැන්වීම්වලට එකඟ වූ පංසුකූලිකයන්ගේ මතය පරදවා ධර්ම කථිකයන්ගේ මතය තහවුරු කරගත හැකි වූයේ ද ඥානයේ බලයෙන් ම බැව් සිතීමට ඉඩ තිබේ.

මෙසේ පහළ වූ මේ දෙපක්‍ෂය - එනම්, මහජනයාගෙන් වෙන්වී අරණ්‍යාදී විවේක ස්ථානයක භාවනානුයෝගීව කල් ගතකළ පංසුකූලික පක්ෂයත්, මහජනයා ආශ්‍රය කරමින් මහජනයා අතර හැසිරෙමින් ඔවුන්ගේ යහපත සඳහා ක්‍රියා කළ ධර්මකථික පක්ෂයත් - අන්තිම කාලය දක්වා ම දෙපක්ෂයක් හැටියට පැවැතීගෙන ආ බැව් පෙනේ. පසු කලක කතිකාවත්වල ග්‍රාමවාසී අරණ්‍යවාසී නමින් හඳුන්වන ලද්දේ ද මේ දෙපක්ෂය ම බැව් සිතීමට ඉඩ තිබේ. අරණ්‍යවාසී භික්ෂූහු මහජන කටයුතුවලින් වෙන්ව, භාවනාවේ යෙදී, වනගත පළාත්වල විවේකව කල් ගෙවූහ. ග්‍රාමවාසී භික්ෂූහු මහජනයා අතර වෙසෙමින්, ඔවුන්ගේ දියුණුව, යහපත සඳහා, ශිෂ්ටාචාර වර්ධනය සඳහා අධ්‍යාපනාදි සමාජ කටයුතුවල යෙදී විසූහ.[9]

පසු කාලයේ දී අරණ්‍යවාසී භික්ෂූන් ද ග්‍රාමවාසීන් මෙන් ම බෞද්ධ නොවූ නොඑක් පොත්පත් සම්පාදනය කිරීම් ආදී ශාස්ත්‍රීය කටයුතුවල යෙදුණු බැව් අරණ්‍යවාසී දිඹුලාගල මහාකාශ්‍යප ස්ථවිරයන් වහන්සේ විසින් ලියන ලද බාලාවබෝධන නම්

8. ධම්මපද I, 19-20.
9. අදත් මේ දෙපක්ෂයම ලක්දිව සිටිති.

සංස්කෘත ව්‍යාකරණයෙන් ඔප්පුවෙයි. ඒ කාලය වන විට අරණ්‍යවාසී භික්ෂූන් ද නාම මාත්‍රයෙන් අරණ්‍යවාසී වුවත් කටයුතුවලින් ග්‍රාමවාසීන් මෙන් ම ක්‍රියා කළා විය හැක. ග්‍රාමවාසීන්ගේ ජීවිතය රටවැසියාට වඩා ප්‍රයෝජනවත්, බොහෝ දෙනාට වැඩදායක බොහෝ දෙනාගේ ගෞරවය දිනාගත් ක්‍රියා පිළිවෙළක් බැව් අරණ්‍යවාසීන්ට ද අවබෝධ වුණු බවට සැකයක් නැත.

# 7

# ග්‍රන්ථ - විදර්ශනා ධුර : ශාස්ත්‍රීය දියුණුව

යට කී පරිදි ක්‍රි. පූ. පළමුවන ශතවර්ෂයේ පටන් භික්ෂූන් අතර ඉගෙනීම ගැන පෙරට වඩා මහත් සැලකිල්ලක් ඇති විය. එහෙයින් ම ග්‍රන්ථධුරය විදර්ශනාධුරයයි ධුර දෙකක් ද ඇති කර ගත්හ. මෙයින් ග්‍රන්ථධුරය නම් ධර්මය ඉගෙනීම හා ඉගැන්වීමයි. විදර්ශනාධුරය නම් ජීවිතය අනිත්‍ය දුඃඛ අනාත්ම වශයෙන් සලකා භාවනා වැඩීමයි. මෙබඳු ධුර දෙකක් ගැන ත්‍රිපිටකයේ දීඝනිකායාදි මුල් පොත්වල සඳහන් නොවෙයි.[1] මේ ගැන සඳහන් වන්නේ පස්වන ශතවර්ෂයේ ලියන ලද අටුවාවලත් ඊට පසු ලියැවුණු පොත්වලත් පමණකි. පර්යාප්තිය ශාසනයට මූලයයි පිළිගත් අලුත් මතය නිසා මෙබඳු අලුත් ධුර දෙකක් ද ඇති කරගත් බැව් සිතිය හැක.

මේ ධුර දෙකිනුත් විදර්ශනාධුරයට වඩා ග්‍රන්ථධුරය උසස් කොට සැලකූ බවත්, ඥානශක්තියෙන් හා කායශක්තියෙන් යුත් දක්ෂ විචක්ෂණ භික්ෂූන් ග්‍රන්ථධුරය පුරුදු කළ බවත්, ඥානශක්තියෙන් හා කායශක්තියෙන් පිරිහුණු අව්‍යක්ත මහලු භික්ෂූන් - විශේෂයෙන් වයස්ගත වී මහණ වූවන් - විදර්ශනාධුරය පුරුදුකළ බවත් අටුවාවල දැක්වෙන උදාහරණවලින් පැහැදිලි වෙයි.

---

1. විදර්ශනාධුරයට වාසධුරයයි ද කියත්, (අංගුත්තර අට්ඨකථා, පි. 22) මීට තුඩුදුන් සාමාන්‍ය අදහසක් මුල් පොත්හි සඳහන් වෙයි. එහි පර්යාප්ති ප්‍රතිපත්ති, ප්‍රතිවේධ යන අදහස් මේ හා සසඳා බලනු.
එහෙත් එය ග්‍රන්ථ විදර්ශනා වශයෙන් පැහැදිලිව බෙදීමක් හෝ දෙපක්ෂයක් නොවේ. පර්යාප්තියට එක් පිරිසකුත් ප්‍රතිපත්තියට තව පිරිසකුත් ප්‍රතිවේධයට තවත් පිරිසකුත් නොවීය.

"මම මහලු කල පැවිදිවීමි. ග්‍රන්ථධුරය පුරන්නට නොහැක්කෙමි. එහෙයින් විදර්ශනාධුරය පුරන්නෙමි"යි චක්ඛුපාල ස්ථවිරයෝ කීහ.[2] රුහුණු ජනපදයෙහි දඩයමින් ජීවත් වූ මිලක්ඛතිස්ස නම් තැනැත්තා වයස්ගත වී මහණ වූ කෙනෙකි. හෙතෙමේ තම ආචාර්යයන්ට මෙසේ කීය. "ස්වාමීනි, ග්‍රන්ථ (ධුර) ය වනාහි ප්‍රතිබලයාට අයත් දෙයකි. මගේ ශ්‍රද්ධාව දුක ආශ්‍රය කොට ඇති වූවකි. මම වාස (විදර්ශනා) ධුරය පුරන්නෙමි."[3] මෙසේ කියා මිලක්ඛතිස්ස ස්ථවිරයෝ ආචාර්යයන්ගෙන් කමටහන් ගෙන විදර්ශනා වඩමින් දිනක් සිතුල්පව්වෙහිත්, අනික් දිනෙක කතරගමත්, තව දිනක තව තැනකත් වත්පිළිවෙත් කරමින් තැනින් තැන ගමන් කළෝය.[4]

ග්‍රන්ථධුරය බලසම්පන්නයන්ට අයත් දෙයක් හැටියටත්, විදර්ශනාව දුර්වලයන්ට බාරවූ දෙයක් හැටියටත් සැලකූ බව ද, එසේ ම විදර්ශනාධුරය පුරන්නට පටන් ගත් අය එසේ කෙළේ ග්‍රන්ථධුරය පුරන්නට ශක්තිය නොතිබුණු නිසා බව ද ඉහත සඳහන් කතාවලින් හොඳ හැටි පැහැදිලි වෙයි.

මේ අදහස් දියුණුවීම නිසා භික්ෂූහු භාවනාව අප්‍රධාන වශයෙනුත් ඉගෙනීම ප්‍රධාන වශයෙනුත් කරන්නට පටන් ගත්හ. ත්‍රිපිටකය හැදෑරීමේදීත් ප්‍රතිපත්තිය උගන්වන විනය පිටකය අප්‍රධාන විය. ඥානය දියුණු කරන අභිධර්ම පිටකය ප්‍රධාන විය. එහෙයින් ම දසවන ශතවර්ෂයේ දී විනයපිටකය උගන්වන අචාර්යයන්ට වසග් පහක්ද, සූත්‍රපිටකය උගන්වන ආචාර්යයන්ට වසග් සතක්ද, අභිධර්මපිටකය උගන්වන ආචාර්යයන්ට වසග් දොළසක්ද උන්වහන්සේලාගේ යැපීම සඳහා වැටුප් වශයෙන් ගෙවූ බැව් හතරවන මිහිඳු රජුගේ මිහින්තලා ශිලාලිපියේ

2. ධම්මපදට්ඨකථා පි. 4 "අහං මහල්ලකකාලෙ පබ්බජිතො ගන්ථධුරං පූරෙතුං න සක්ඛිස්සාමි. විපස්සනාධුරං පන පූරෙස්සාමි"
මෙය ශාස්තෲන් වහන්සේ ඉදිරියෙහි කරන ලද කථාවක් හැටියට ධමමපදට්ඨ කථාවේ සඳහන් කොට තිබේ. එහෙත් බුද්ධකාලයේ නො තිබුණු ග්‍රන්ථධුරයක් ගැන එකල කෙසේ කථා කළ හැකි ද? මෙය බුදුන් ඉදිරියේ කළ කථාවක් හැටියට ග්‍රන්ථධුරය ඇතිවූවාට පසු ලියන ලද්දක් බව පැහැදිලි ය.

3. අංගුත්තර අට්ඨකථා පි. 22 "භන්තෙ, ගන්ථො නාම පටිබලස්ස භාරො, මය්හං පන දුක්ඛූපනිසා සද්ධා. වාසධුරං පූරෙස්සාමි."

4. අදත් මෙසේ ජීවිතය ගතකරන සමහර මහලු ස්ථවිරවරු සිටිත්.

සඳහන් වෙයි.[5] විනය සහ සූත්‍ර ඉගැන්වූ ආචාර්යවරුන් දෙදෙනාට ම ගෙවූ වැටුප තනිකර අභිධර්මාචාර්යයන්ට ගෙවන ලදී. ප්‍රතිපත්තිය ඉගැන්වූ විනය පිටකය තුන්වන පන්තියට දැමූ බවත්, ඥානය දියුණු කිරීමට ඉවහල් වූ පසුකලක දියුණු කරන ලද අභිධර්ම පිටකය පළමුවන පන්තියෙහි තැබූ බවත් මෙයින් ඉතා ම පැහැදිලිය.

මුලදී ග්‍රන්ථධුරයෙන් අදහස් කරනලද්දේ ත්‍රිපිටක ධර්මය ඉගෙනීම හා ඉගැන්වීම පමණකි. එහෙත් කල් යත්, භාෂා ශාස්ත්‍ර ඉතිහාසය රාජනීති ආදි සියල්ලක් ග්‍රන්ථ ධුරයට ඇතුළත් විය.[6] එහෙයින් භික්ෂූහු ඒ සියල්ල ඉතා උසස් ලෙස ඉගෙන රටවැසියාට උගන්වන්නට පටන්ගත්හ. කාව්‍යාලංකාර ඉතිහාසාදි ශාස්ත්‍ර පිළිබඳ පොත්පත් නිපදවූහ. රාජ්‍ය පාලනයට පුහුණුව ලබන රාජකුමාරයා පටන් ගම්බද ගොවි දරුවා දක්වා සියල්ලෝ ම භික්ෂූහු දැන සිටියාහ. හැම පන්සලක් ම හැම ආරාමයක් ම නිදහස් පාඨශාලාවක් විය. මෙසේ නිදහස්ව නොමිලයේ ඉගැන්වීම නිසා රටේ අධ්‍යාපනයත් ශිෂ්ටාචාරයත් දියුණු විය. එහෙයින් උගත් භික්ෂූන් ගැන රටේ මහත් ගෞරවයක් ඇති විය. ගරු සැලකිලි වැඩි විය. රටට වැඩ ඇති උගත් භික්ෂූන්ගේ නඩත්තුව සහ සැපපහසුව සඳහා විශේෂ වැටුප් ද, මෙහෙකාරයන් ද, වියහියදම් ද ආණ්ඩුව මගින් යොදන ලද බැව් ඉතිහාස ග්‍රන්ථයන්හි නොඑක් තැන්වල සඳහන් වෙයි.[7]

එසේ ම ඉතා පුරාණ කාලයේ පටන් භික්ෂූන් වෙදකම දැන සිටිය බවත්, කැපසරුප් පරිදි වෙදකම කළ බවත් අටුවාවලින් ද වෙනත් පැරණි පොත්පත්වලින් ද ඔප්පු වෙයි. භික්ෂූන් ආදි කොට ඇති පංචසහධම්මිකයන්ටත්, දෙමවුපියන් ආදි ඉතා සමීප නෑයන් කීප පළකට සහ අභ්‍යන්තර ආශ්‍රයෙහි වූ කීපදෙනකුටත් වෙදකම් කිරීමට භික්ෂූන්ට විනයෙන් අවසර තිබේ. මොවුන් හැර අන්‍යයන්ටත්

5. වනවළා කියන බික්සග් හිමියනට් කඩින් පිඩින් වසග් පසක් ඉසා සුතත්වළා කියන බික්සග් හිමියනට් වසග් සතක් ඉසා බිදම්වළා කියන බික්සග් හිමියනට් වසග් දොළොසක් ඉසා දියැයුතු (*Epigraphia Zeylanica* I. p. 85) වසග් යන වචනයේ නියම අර්ථය තවම හරිහැටි පැහැදිලි නැත. එහෙත් එය යැපීම සඳහා ආහාරයෙන් සහ වස්ත්‍රයෙන් ගෙවූ වැටුපක් බව "කඩින් පිඩින් වසග්" යන්නෙන් සිතාගත හැක.

6. තර්කව්‍යාකරණාදිය උගත් කෙනෙකුන් පැමිණි විට වැටුප් දී ඔහුගෙන් ඉගෙන ගන්නට යයි පැපිළියානේ ශිලාලේඛනයේ සඳහන් වෙයි.

7. උදාහරණයක් වශයෙන් : මහාවංස, XXXVII 149, 150, 173 රසවාහිනී II පි. 77.

කැපසරුප් පරිදි වෙදකම් කළ බවත් ඒ වෙනුවෙන් ලැබුණු තෑගිබෝග පවා පිළිගත් බවත් විනය අටුවාවෙන් හෙළි වෙයි.

වසභ (ක්‍රි.ව. 127 -171) රජුගේ බිසවට රෝගයක් හටගත් අවස්ථාවක එක් ස්ත්‍රියක් මහාපදුම ස්ථවිරයන්වහන්සේ කරා ගොස් ඊට බෙහෙත් විචාළාය. මහාපදුම ස්ථවිරයන් වහන්සේ විනය පිළිබඳ විශේෂඥයෙකි. උන්වහන්සේ "බෙහෙත් නොදනිමි"යි නොකියා බිසවගේ රෝගයට යෝග්‍ය බෙහෙත් ක්‍රමයක් ස්ත්‍රියට ඇසෙනසේ භික්ෂූන් සමග කීහ. ස්ත්‍රිය එය අසාගෙන ගොස් බිසවට පිළියම් කළාය. රෝගය සුව වූ කල්හි තුන්සිවුරු සහ කහවණු තුන්සීයයක් ද ගෙනවුත් තෙරුන් වහන්සේගේ පාමුල තබා "ස්වාමීනි, මෙය මල් පූජා කිරීමට ගන්වය"යි ඔවුහු කීහ. උන්වහන්සේ ද "මෙය ආචාර්යයන්ගේ කොටසය"යි කැප වශයෙන් පිළිගෙන මල් පූජා කළෝය.[8]

පුරාණ කාලයේ භික්ෂූන් වෙදපොත් ලියා වෛද්‍ය ශාස්ත්‍රය රටේ ප්‍රචාරය කළ බැව් පස්මුල මහාස්වාමීන් විසින් ලියනලද භේසජ්ජමංජුසා, මයුරපාද පරිවෙණාධිපතීන් වහන්සේ විසින් ලියන ලද යෝගාර්ණවය සහ ප්‍රයෝගරත්නාවලිය ආදි පොත්වලින් ඔප්පු වෙයි. භේසජ්ජමංජුසාවට සන්නයක් වැලිවිට පිණ්ඩපාතික සරණංකර සංඝරාජයන් විසින් ලියන ලදී.

මෙසේ වෛද්‍යශාස්ත්‍රය රටේ පැතිරවීම සහ පින් පිණිස වෙදකම් කිරීම නිසා භික්ෂූන් ගැන රටවැසියා තුළ පැවැති ගෞරවාදරය තවත් දියුණු විය.

ඒ කාලයේ භික්ෂූන්ගේ ඉගෙනීම කොතරම් සම්පූර්ණ උසස් තත්ත්වයක පැවැත්තේ ද කිවහොත්, භාතිය (ක්‍රි.ව. 38-67) රජු දවස ලක්දිව අග්‍රවිනිශ්චයකාර ධුරය භික්ෂූන් වහන්සේ නමකට පවරන ලද බැව් සමන්තපාසාදිකා නම් විනය අටුවාවෙහි එන කථාවකින් පෙනේ.[9] අනුරාධපුර මහාවිහාරයෙහි විසූ විනය පිළිබඳ විශේෂඥයකු වූ ආභිධම්මික ගෝදත්ත ස්ථවිරයන් වහන්සේ විසින් භික්ෂුවකගේ නඩුවක් විසඳූ අයුරු අසා බලවත් ලෙස පැහැදුණු භාතියරජ, භික්ෂූන්ගේ සහ භික්ෂුණීන්ගේ පමණක් නොව සියලු ම ගිහීන්ගේත් නඩු විසඳීමේ බලය උන්වහන්සේට පවරා, ගෝදත්ත ස්ථවිරයන් වහන්සේගේ තීරණය අවසාන තීරණය බවත්, එහි

8. සමන්තපාසාදිකා I පි. 337.
9. සමන්තපාසාදික I, පි. 220-221.

නොපිහිටතත්නවුන්ට රාජ දඬුවම් පමුණුවන බවත් ප්‍රකාශ කොට අණබෙර ප්‍රසිද්ධ කෙළේය.[10]

ගෝදත්ත ස්ථවිරයන්වහන්සේගේ නීතිවිසාරදකමත්, බුද්ධි මහිමයත්, අගතිවිරහිකමත්, කරුණාවත් එතරම් උසස් හැටියට භාතිය රජු මෙන් ම භික්ෂු සංඝයා ඇතුළු රටවැසියන් ද පිළිගෙන සිටිය බැව් එයින් පැහැදිලි වෙයි.[11] භාතිය රජු ග්‍රන්ථධුරයෙහි යෙදුණු උගත් භික්ෂූන්ට විශේෂයෙන් ගෞරව කළ බැව් මහාවංශයෙහි ද සඳහන් වෙයි.[12]

10. මයි සන්තෙ භික්ඛුනම්පි භික්ඛුණීනම්පි ගිහීනම්පි අධිකරණං ආභිධම්මික ගොදත්තත්ථෙරෙන විනිච්ඡිතං සුවිනිච්ඡිතං. තස්ස විනිච්ඡයෙ අතිමට්ඨමානං රාජාණාය ඨපෙමි. (සමන්තපාසාදිකා I පි, 221).

11. ගොදත්ත සථවිරයන් වහන්සේ ඇත්ත වශයෙන්ම නඩු විසඳුවා දැයි ස්ථිරව කිය නොහැක. එහෙත් නඩු විසඳීමේ බලය උන්වහන්සේට ලැබී තිබුණේය. යම් විදියකින් නඩු විසඳුවත් උන්වහන්සේ දඬුවම් වශයෙන් කායික වධහිංසාවක් නියම නොකළ බවට කිසි ම සැකයක් නැත. නඩු විසඳන්නකු විසින් මරණීය දණ්ඩනාදී කායික වධහිංසා නියම කළ යුතු ම යයි සමහරු සිතති. එය වැරදි අදහසකි. දඬුවම් වශයෙන් එබඳු වධහිංසා නියම කිරීම සමහර රජුන් විසින් පවා නීතියෙන් ම තහනම් කොට තිබුණ බැව් ඉතිහාසයෙහි සඳහන් වෙයි.

12. මහාවංස, xxxiv 66.



**මණ්ඩලගිරි විහාරය**




අර්ථ කථාචාර්ය බුද්ධඝෝස හිමියෝ තමන් විසින් ලියන ලද විශුද්ධි මාර්ගයේ පිටපත් තුන අනුරාධපුර මහා විහාරයේ සංඝපාල මහාස්ථවිරයන් වහන්සේට පිළිගන්වති. (කැලණි විහාරයේ චිත්‍ර)

# 8

## සංඝාරාම: පාලනය හා නඩත්තුව

රටේ ආරක්ෂාවට සහ දියුණුවටත්, රටවැසියාගේ ඉගෙනීම සහ සුචරිතවර්ධනයටත්, සමාජය සුඛිත මුදිත කිරීමටත් භික්ෂූන්ගෙන් සිදුවූ අසහාය මෙහෙය නිසා සංඝාරාමවල නඩත්තුව සඳහා රජුන් විසින් බොහෝ ගම්බිම් පූජා කරන ලදී. විශාල සංඝාරාමවල පාලනයට විශේෂ දෙපාර්තමේන්තු පිහිටුවා තිබුණු බැව් සතර වැනි මිහිඳු රජුගේ මිහින්තලා ලිපියෙන් ද, ජේතවන සංස්කෘත ලිපියෙන් ද පැහැදිලි වෙයි.[1]

ආරාමවලට අයත් ගම්බිම් සහ ධනය අධික වීමෙන් ආර්ථික තත්ත්වය වෙනස් වූ නිසා භික්ෂූන්ගේ ජීවිතය ද තව තවත් වෙනස් වන්නට පටන් ගත්තේ ය. බොහෝ කාලයක් මුළුල්ලේ වැඩෙමින් පැවැති අදහස් 5 වැනි ශතවර්ෂයේ දී අර්ථකථාචාර්ය බුද්ධඝෝෂ හිමියන් විසින් පාළි අටුවා පොත්වල අන්තර්ගත කරන ලදී. ත්‍රිපිටකයේ මුල් පොත්වල දැක්වෙන අදහස්වලට වෙනස් වුවත් ඒ අලුත් අදහස් ද ආගමානුකූල අදහස් හැටියට ම එතැන් පටන් ස්ථිරව පිළිගන්නා ලදී. උදාහරණ වශයෙන් වැදගත් වෙනස්වීම් කීපයක් මෙහි පහත දක්වනු ලැබේ.

අනාමට්ඨ පිණ්ඩපාතය හෙවත් භික්ෂුවකට ලැබුණු ආහාරයක් පරිභෝග කරන්නට පළමු, දෙමව්පියන්ටත්, දෙමව්පිය උපස්ථායකයන්ටත්, වතාවත් කරන්නාටත්, මහණකම අපේක්ෂාකරන්නාටත්, හැර අන්‍යයන්ට දීම නුසුදුසුය. එහෙත් යම්කිසි අමාරු භයානක අවස්ථාවක් පැමිණි විටක එයින් බේරීම සඳහා ඒ අනාමට්ඨ පිණ්ඩපාතය දාමරික සොරුන්ට හෙවත් කැරලිකරුවන්ටත්, අධිපතියන්ටත් දිය යුතු යැයි සමන්තපාසාදිකා

1. *Epigraphia Zeylanica* I, pp. 84-90

විනයඅටුවාවේ සඳහන් වෙයි. එසේ ම සාංඝික වස්තුව ද ගිහියන්ට දීම නුසුදුසුය. එහෙත් සොරුන් හෙවත් දාමරික කැරලිකාරයන් සංඝික දේපළ පැහැරගන්නට හෝ ඊට හානියක් කරන්නට පැමිණියහොත්, එය බේරාගන්නා අදහසින් ඔවුන්ට සාංඝික වස්තුව පවා දියයුතු බැව් ඒ අටුවාවේ ම සඳහන් වෙයි.[2]

මෙසේ සඟසතු දෙය දාමරිකයන්ට, සොරුන්ට, අධිපතීන්ට කැරලිකාරයන්ට දීම සුදුසු යයි සම්මත වූයේ ආරාම පන්සල්වල බූදල් ඇතිවීමෙන් පසු, ඒවා රැක ගැනීමේ අදහසින්ය. ඒ බැව් සමන්තපාසාදිකාවේ දැක්වෙන කථාවකින් වඩාත් පැහැදිලි වෙයි.[3]

බලසම්පන්න විශාල සහචර පිරිසකුත් සමග අභය නම් එක්තරා දාමරික සොරෙක් හෙවත් කැරලිකාරයෙක් වස්තුව පැහැරගන්නා අදහසින් දිනක් මිහින්තලයට ගියේය. මිහින්තලේ ආරාමාධිපති දීඝභාණක අභයස්ථවිරයන් වහන්සේ මේ බැව් අසා, සංඝයා වෙනුවෙන් ලැබී තිබුණු සහල් ගිතෙල් ආදියෙන් ආහාර සම්පාදනය කරවා වහාම සොරුන්ට සංග්‍රහ කරවූහ. මහා ස්ථවිරයන් වහන්සේගේ සංග්‍රහයෙන් තෘප්තියට පත් සොරු, උන්වහන්සේ ගැන පැහැදී, ආරාමයේ වස්තුව පැහැර ගන්නවා වෙනුවට එය ආරක්ෂා කරන්නට පොරොන්දු වූහ.

"අභය ස්ථවිරයන් වහන්සේ තමාගේ අධිපතිකම නිසා සඟසතු දෙය සොරුන්ට දුන්හ" යි සංඝයා උන්වහන්සේට දොස් පැවරූහ. එවිට අභය ස්ථවිරයන් වහන්සේ සංඝයා රැස් කරවා මෙසේ කීහ. "සඟසතු දේත් චෛත්‍ය සන්තක දේත් පැහැර ගන්නා අදහසින් ඒ සොරු මෙහි පැමිණියෝය. වස්තුව පැහැර ගැනීම වළක්වන අදහසින් මම ඔවුන්ට සංග්‍රහ කෙළෙමි. මවිසින් ඔවුන්ට සංග්‍රහ කිරීම පිණිස වියදම් කරන ලද සියල්ල එකතු කොට ගණන් බැලිය යුතුයි. මගේ සංග්‍රහ හේතුකොටගෙන ඔවුන් පැහැර නොගන්නා ලද සියලු වස්තුව ද එක්කොට ගණන් බැලිය යුතුයි."

සොරුන්ට සංග්‍රහ කිරීම පිණිස තෙරුන් වහන්සේ විසින් වියදම් කරන ලද සියල්ල ම එහි තිබුණු එක් පලසක් තරම් නොඅගනේ විය. එහෙයින් අභය ස්ථවිරයන් වහන්සේ විසින් කරන ලද සංග්‍රහය යහපත් බවත් ඒ ගැන කිසිත් චෝදනාවක් කළ නොහැකි බවත් සංඝයා පිළිගත්හ. මෙසේ සංග්‍රහ කිරීම මේ

2. සමන්තපාසාදිකා I පි. 338
3. සමන්තපාසාදිකා I, පි. 338-339

අන්දමින් මහානිසංසදායක වන බැව් නුවණැති භික්ෂුව විසින් සැලකිය යුතුයැයි කථාව අවසානයෙහි අටුවාචාරීන් වහන්සේ අවවාදයක් ද කරති.

රජුන්ටත් සොරුන්ටත් ආමිසයෙන් සංග්‍රහ කළයුතු යැයි දීඝනිකාය අටුවාවේ ද සඳහන් වෙයි.[4]

මෙසේ සඟසතු දෙයින් සොරුන්ට සංග්‍රහ කොට, සොරුන්ට අල්ලස් දී ආරාම සන්තක වස්තුව රැක ගැනීම සුදුසු යැයි සම්මත වූයේ පන්සල්වලට ලොකු මුදල් ලැබෙන්නට පටන්ගත් නිසාය. ආරාම සන්තක කිසිත් මුදලයක් නොතිබුණු බුද්ධකාලයේ එදිනෙදා පිණ්ඩපාතයෙන් යැපුණු භික්ෂූන් අතර කවදාවත් මෙබඳු ප්‍රශ්නයක් පැනනැඟීමට අවස්ථාවක් ඇති නොවීය.

සංඝයාගේ ආර්ථික තත්ත්වය වෙනස් වී ආරාමවලට විශාල ගම්බිම් සහ මුදල් ලැබෙන්නට පටන් ගත් පසු ලාභ සීමා නමින් බුද්ධ කාලයේ නො පැවැති අලුත් සම්මතයක් ඇති විය.

"ලාභසීමාව වනාහි සම්‍යක් සම්බුද්ධයන් විසින් අනුදන්නා ලද්දක් නොවේ. ධර්ම සංගායනාව කළ ස්ථවිරයන් වහන්සේලා විසින් නියම කරන ලද්දක් ද නොවේ. එහෙත් රාජරාජමහාමාත්‍යවරු විහාරයක් කරවා අවටින් ගව්වක් හෝ අඩයොදුනක් හෝ යොදුනක් සීමා කොට මෙය අපේ විහාරයට ලාභසීමාවයැයි නම ලියවූ ස්තම්භයන් සිටුවා, මේ අතරෙහි උපදින සියල්ල ම අපේ විහාරයට දෙමු යැයි සීමාවක් පිහිටුවත්. මෙය ලාභසීමා නම් වෙයි.[5]

භික්ෂූන් විසින් දාසිදාසයන් නොපිළිගත යුතු බැව් බුදුන් විසින් දේශනා කරන ලදී.[6] එහෙත් ආරාමවලට අයත් ගම්බිම් සහ ධනය වැඩි වෙන්නට පටන් ගත් කල්හි, නේවාසික භික්ෂූන්ගේ සංඛ්‍යාව නඟින්නට වූ කල්හි, භික්ෂූන්ගේ ප්‍රයෝජනය සඳහා

4. දීඝනිකාය අට්ඨකථා, පි. 717.
5. සමන්තපාසාදිකා පි. 260.
ලාභසීමා නාම නෙව සම්මාසම්බුද්ධෙන අනුඤ්ඤාතා, න ධම්මසංගාහක ථෙරෙහි ඨපිතා, අපි ච ඛො රාජරාජමහාමත්තා විහාරං කාරෙත්වා ගාවුතං වා අඩ්ඪයොජනං වා යොජනං වා සමන්තතො පරිච්ඡින්දිත්වා අයං අම්හාකං විහාරස්ස ලාභසීමාති නාමලිඛිතකෙ ථම්භෙ නිඛනිත්වා යං එත්ථන්තරෙ උප්පජ්ජති, සබ්බං තං අම්හාකං විහාරස්ස දෙමාති සීමං ඨපෙන්ති, අයං ලාභසීමා නාම.
ශිලා ලිපි පිහිටුවා විහාරාරාමවලට ගම්බිම් දුන් සැටි මෙයින් දැක්වෙයි.
6. දීඝ නිකාය I පි. 49.

ආරාමවලට දාසිදාසයන් භාරගන්නට සිදුවිය. විහාරවලට දුන් ආරාමික දාසයන් නියම වහලුන් බවත් ඔවුන් නිදහස් නොකොට මහණ නොකළ යුතු බවත් සමන්තපාසාදිකාවෙහි දැක්වෙන පාඨයකින් පැහැදිලි වෙයි.[7] දාසිදාසයන් භාරගැනීම බුදුන්ගේ ඉගැන්වීමට විරුද්ධ නිසා, වහලුන් භාරගන්නා විට දාසිදාසයන් වශයෙන් නොව කප්පියකාරකයන් ආරාමිකයන් වශයෙන් පිළිගත යුතු බව මජ්ඣිමනිකාය අටුවාවේ සඳහන් වෙයි.[8] මෙය කෙසේ නමුත් වරදින් මිදීමට සොයා ගත් උපායෙකි. එහෙත් ආරාමවලට භාරගත් දාසයන්, කුමන නමකින් හැඳින්වූවත්, නියම වහලුන් බව, ඔවුන් නිදහස් නොකොට මහණ නොකළ යුතු යැයි සමන්තපාසාදිකාවෙහි දැක්වූ තීරණයෙන් පැහැදිලිව ම පෙනේ.

ඉතා පුරාණ කාලයේ පටන් ම, ක්‍රි. ව. දෙවන ශත වර්ෂය පමණ කාලයේ පටන් ම, ආරාමවල කුදුමහත් කටයුතු සඳහාත්, භික්ෂූන්ගේ මෙහෙවර සඳහාත් දාසයන් හෙවත් වහලුන් යොදා තිබුණු බැව් දැනට සොයාගෙන තිබෙන බොහෝ ශිලාලිපිවලින් ද මහාවංසයෙන් ද ස්ථිරව ම ඔප්පුවෙයි.[9]

තව ද ආරාමවල දාස මෙහෙවරට පිරිමින් පමණක් නොව ස්ත්‍රීන් ද යොදා තිබුණු බැව් ශිලා ලිපිවලින් පෙනේ.[10] මිහින්තලේ ආරාමවල මෙහෙවර සඳහා ද ස්ත්‍රීන් යොදා තිබුණු බැව් මිහින්තලා ශිලා ලිපියෙහි සඳහන්වන ජෙට්මව, සලාජෙටක් ආදි වචනවලින් පැහැදිලි වෙයි.

එසේ ම මහනුවර කාලයේ දී පවා සංඝයාගේ උපස්ථානයට ස්ත්‍රීන් යෙදී සිටි බැව් ජේම්ස් කෝඩිනර් මහතා විසින් ලියන ලද "ලංකා විස්තරයේ" සඳහන් වෙයි. "භික්ෂූන්ගේ සියලු ම ඕනෑකම් මිනිසුන් විසින් සපයනු ලැබේ. එසේ ම රටේ සිටින ඉතාමත්

7. සමන්තපාසාදිකා III පි. 177. විහාරෙසු රාජූහි ආරාමිකදාසා නාම දින්නා හොන්ති, තෙපි පබ්බාජෙතුං න වට්ටති, භුජිස්සෙ කත්වා පන පබ්බාජෙතුං වට්ටති.
8. මජ්ඣිමනිකායට්ඨකථා I පි. 404, දාසිදාසවසෙනෙව තෙසං පටිග්ගහණං න වට්ටති. කප්පියාකාරකං දම්මි, ආරාමිකං දම්මීති එවං වුත්තෙ පන වට්ටති.
9. *Epigraphia Zeylanica* IV. pp. 132-135, 139-140, 144, 294-295; මහාවංස, xlvi 10; I 64,
හත් වැනි ශතවර්ෂයේ විසූ ශිලාමේඝවර්ණ රජ යුගයේදී අල්ලා ගත් දෙමළ සොල්දාදුවන් විහාරවල දාසයන් හැටියට යෙදවූ බැව් කියා තිබේ. මහාවංස, xliv 73.
10. *Epigraphia Zeylanica* IV. pp. 128, 144.

ලක්ෂණ ස්ත්‍රීහු පන්සල්වලට පැමිණ වැටුප් නැතිව උන්වහන්සේලාට උපස්ථාන කරති. උන්වහන්සේලාගේ චරිතය කොතරම් පවිත්‍ර ද කිවහොත්, ආරාමයක සේවය කළ කන්‍යාවක් පැතිය යුතු භාර්‍යාවක් හැටියට තරුණයන් විසින් සලකනු ලැබේ."[11]

මේ දාසිදාසයන්ගේ නඩත්තුව සඳහා රජුන් විසින් ආරාමවලට ගම්බිම් දී තිබුණු බවත් තව තවත් ධනවත් අය විසින් ඒ සඳහා දහස් ගණන් මුදල් තැන්පත් කොට තිබුණු බවත් ඉතිහාසයෙන් ද ශිලාලිපිවලින් ද පැහැදිලි වෙයි.[12]

දසවන ශතවර්ෂය වන විට විහාරාරාමවලට අයත් ගම් බිම් ද ධනය ද තව තවත් අධික විය. ප්‍රධාන ආරාමවල පාලනය ඒ සඳහා ම පිහිටුවන ලද විශාල දෙපාර්තමේන්තු මගින් කරන ලදී. ඒ ඒ කටයුතු භාර නිලධාරීහු ද ඉතාම සුළු වැඩට පවා වෙන වෙන ම මෙහෙකරුවෝ ද පත් වී සිටියෝය. හැම වැඩට ම නියමිත වැටුපක් ගෙවන ලදී. ස්ථානය රැක බලා ගැනීම සඳහා භික්ෂූන්ට පවා වැටුප් නියම විය.

ත්‍රිපිටකය උගන්වන භික්ෂූන්ට ද වෙන වෙනත් වැඩවල යෙදුණු භික්ෂූන්ට ද ඒ ඒ කටයුතුවල තත්ත්වයේ හැටියට නඩත්තුව සඳහා වැටුප් ගෙවන ලදී. ආරාමයේ වාර්ෂික අය වැය ලේඛනය පවා භික්ෂුසංඝයා ඉදිරියේ කියවා උන්වහන්සේලාගේ අනුමැතිය ඇතිව සම්මත කරගන්නා ලදී.[13]

මහනුවර කාලයේ දී මහවාසලින් හෙවත් රජුගේ ආණ්ඩුවෙන් වැටුප් ලැබූ පඩිකාරයන්ගේ (Padikarayo) සංඛ්‍යාවට සියලු ම නායක ස්ථවිරවරුන් ඇතුළත් වූ බවත් තම තමන්ගේ තනතුරේ හා පවුලේ තත්ත්වයේ හැටියට උන්වහන්සේලා මසකට රිදී 150ක්

---

11. "All their (priests) wants are supplied by the people and the most beautiful females in the country attend them in their houses with out wages. So great is the sanctity of their character, that a virgin who has served in their abodes is consideted by the young men as an enviable wife." *Description of Ceylon* by James Cordiner, 1807 Vol I, pp. 150. 151.
* කළු අකුරු අප විසින් යොදන ලදී.

12. මහාවංස xlii 23; *Epigraphia Zeylanica*, IV, pp. 139-140 සමහර අය මුදල් ගෙවා වහල්කමින් මිදුණු බවත් නැදැයින් මුදවා ගත් බවත් සඳහන් වෙයි. *Epigraphia Zeylanica*, IV, pp. 132-133, 294-295.

13. *Epigraphia Zeylanica*, I. pp. 4-5, 69, 84-90.

දක්වා එක් එක් ප්‍රමාණයේ වැටුප් ලැබූ බවත් "මහනුවර ආණ්ඩුක්‍රමය පිළිබඳ සංග්‍රහයක්" යන නමින් තමා ලියූ පොතේ සර් ජෝන් ඩොයිලි මහතා සඳහන් කරයි.[14] මේ පැරණි සිරිත අනුව මහනුවර මල්වතු අස්ගිරි විහාරවල නායක කාරකාදි තනතුරු දරන ස්ථවිරයන් වහන්සේලාට යැපීම සඳහා "වියදම් පඩිය" නමින් එක්තරා ප්‍රමාණයක ආදායමක් පුරාණ සිංහල රජුන් විසින් පූජා කරන ලද ඉඩකඩම්වලින් අද දක්වාත් ලැබේ.

බුද්ධ කාලයේ දී ආරාමවලට අයත් ගම්බිම් හෝ ධනයක්වත් භික්ෂූන්ගේ මෙහෙවරට දාසිදාසයන්වත් භික්ෂූන්ගේ නඩත්තුවට නියමිත වැටුපක්වත් භික්ෂූන් ලවා අය වැය ලේඛන සම්මත කරවා ගැනීමක්වත් නොතිබුණු බැව් කවුරුත් දනිති. එහෙත් කාලයට හා දේශයට අනුව අමුතු අලුත් ආර්ථික තත්ත්වයකට මුහුණ පාන්නට සිදුවීමෙන් භික්ෂූන්ගේත් රටවැසියන්ගේත් අදහස් හා වැඩපිළිවෙළ වෙනස්වීම නිසා අමුතු අලුත් ආරාමික ජීවිතයක් ලක්දිවට පහළවිය. එය කිසිවකුගේත් විශේෂ ඕනෑ කමකින් හෝ මෙහෙයවීමකින් සිදු වූවක් නොව, ඒ ඒ කාලවල රටේ ඇති වූ දේශපාලන, ආර්ථික හා සාමාජික වෙනස්කම්වලට අනුව ස්වභාවයෙන් සිදුවූවකි. මේ වෙනස්වීම අනිවාර්‍යය.

ආරාමවලට මෙතරම් විශාල ලෙස ගම්බිම් දී දාසිදාසයන් තබා, දෙපාත්මේන්තු පිහිටුවා, ජාතික ධනය වියදම් කොට භික්ෂූන්ගේ සැප පහසුකම් සලස්වන ලද්දේ මක්නිසාදැයි සිතා බැලිය යුතුය. හුදෙක් පරලොවම තකා මේ සියල්ල කරන ලදැයි සිතීම මනුෂ්‍ය සමාජය පිළිබඳ ඉතිහාසය වරදවා තේරුම් ගැනීමකි. ඒ කාලයේ හැටියට ආගමේ ජාතියේ දියුණුව සඳහා, මහජනයාගේ යහපත සඳහා, රටේ ශිෂ්ටාචාර වර්ධනය සඳහා භික්ෂූන්ගෙන් අසහාය මෙහෙයක් සිදු වූ නිසාම මෙතරම් හොඳින් භික්ෂූන්ගේ සැපපහසුකම් සලස්වන ලදී.

14 *A Sketch of the Constitution of the Kandyan kingdom* by sir John D' Oyly, Ceylon 1929, pp. 140-141.

# 9

# කලාශිල්ප හා සාහිත්‍යය

බුද්ධාගම ලලිතකලාවන්ගේ සතුරා නොව ප්‍රධාන මිතුරා බවත් එනිසා ලංකා, බුරුම, සියම්, ජාවා, චීන, ජපන් රටවල බුද්ධාගමත් සමගම ලලිත කලාවන් පැතිරී ගිය බවත් භික්ෂූන්ට කලා ශිල්පයන් පිළිබඳ දැනීමක් ඇති කරගැනීම අවශ්‍ය වූ බවත් ලෝක ප්‍රසිද්ධ පඬිවරයකු වූ ඇමරිකාවේ බොස්ටන් කෞතුකාගාරයේ පෙරදිග පුස්තකාලයේ භාරකාරයාව සිටි ආනන්ද කේ. කුමාරස්වාමි මහතා ප්‍රකාශ කරයි.[1]

බුද්ධ කාලයේ පටන් ම භික්ෂූන් විසින් චිත්‍රකම් කළ බවත් කරවූ බවත් විනය පොත්පත්වලින් හෙළිවෙයි. ස්ත්‍රී පුරුෂයන්ගේ රූප හෝ තිරිසන් සතුන්ගේ රූප තමන් විසින් ම කිරීම හෝ අනුන් ලවා කරවීම භික්ෂූන්ට නොවටිනා බවත්, දොරටුපාල රූපයක් පවා කරවීම නොනිසි බවත්, එහෙත් ප්‍රසාද සංවේග උපදවන ජාතක කතා ආදිය කරවීම නිවැරදි බවත් මාලාකර්ම ලතාකර්මාදිය නම් අනුන් ලවා කර වූවත් තමන් විසින් ම කළත් වරදක් නැති බවත් චුල්ලවග්ග පාළියේ සහ එම අටුවාවේ සවිස්තරව දැක්වෙයි.[2]

මේ අනුව මිනිසුන්ට ප්‍රසාද සංවේග උපදවන අදහසින්, උසස් ආදර්ශ දෙන අදහසින් විහාරවල නොඑක් අන්දමේ ජාතක කථා ද බුද්ධ චරිතය පිළිබඳ සිද්ධීන් ද ප්‍රතිමාවන් ද කිරීමටත් කරවීමටත් භික්ෂූහු උත්සාහවත් වූහ. තව ද විසිතුරු කැටයම්, සිතියම් හා ප්‍රතිමාවන් ඇති විහාරවලට සාමාන්‍යයෙන් ම මහජනයාගේ වැඩි ඇදීමක් තිබේ. එබඳු තැන්වලට ශ්‍රද්ධාවත්හු වැඩිපුර පැමිණෙති.

---

1. *Medieval Sinhalese Art*, p. 47.
2. චුල්ලවග්ග, පි. 247: සමන්තපාසාදිකා III, පි. 309

එනිසාත් වඩ වඩා විචිත්‍ර ලෙස විහාර දාගැබ් කරවීමට භික්ෂූහු උනන්දු වූහ. මෙසේ බෞද්ධ රටවල කලා ශිල්පයන්ගේ මහත් දියුණුවක් ඇතිවිය.

පස්වන ශතවර්ෂයේ පටන් භික්ෂූන්ගෙන් සංස්කෘතියටත් කලා ශිල්පයන්ටත් සාහිත්‍යයටත් සිදු වූ මෙහෙය තව තවත් විශාල විය. සතරවන පස්වන ශතවර්ෂවලදී සිංහල භික්ෂුව තරම් බුද්ධප්‍රතිමා සෑදීමෙහි දක්ෂ ශිල්පියකු වෙන මොනම රටකවත් නොසිටි බැව් සිතීමට ඉඩ තිබේ. ක්‍රි. ව. 456 දී පමණ නන්ද නම් භික්ෂූන් වහන්සේ නමක් සිංහලද්වීපයේ නියෝජිතයා හැටියට තවත් භික්ෂූන් සතර නමක් ද කැටුව චීනයට ගියාහ. කීර්තිමත් ප්‍රතිමාශිල්පියකු වූ නන්ද ස්ථවිරයන් විසින් ම නෙළන ලද බුද්ධ ප්‍රතිමාවක් මේ ගමනේ දී චීනරජුට තෑගි වශයෙන් ගෙන ගොස් දී තිබේ. මේ ප්‍රතිමාව අතිශයින් චිත්තාකර්ෂණීය වූ විස්මයජනක එකක් විය. අඩි දහයක් පමණ දුරින් සිට බලන්නකුට එය හොඳ හැටි නිර්මලව පෙනෙයි. එහෙත් ළංවත් වත් ම මුහුණෙහි රේඛාවෝ සහ ලක්ෂණයෝ ක්‍රමයෙන් නොපෙනී යෙත්, මධ්‍යආසියාවේ රජවරු ද තවත් බොහෝ දෙනා ද මේ පිළිමය අනුකරණය කොට ඊට සමාන පිළිම සාදවා ගන්නා අදහසින් දක්ෂ ප්‍රතිමා ශිල්පීන් යැවූහ. එහෙත් ඒ එකම ශිල්පියකුටවත් නන්ද ස්ථවිරයන්ගේ බුද්ධප්‍රතිමාවට සමාන ප්‍රතිමාවක් සෑදිය නොහැකි විය.[3]

සිංහල රාජ්‍යයේ පිරිහුණු අවසාන භාගය වූ නුවර කාලයේ පවා භික්ෂූන් විහාරවල සිතියම් කළ බැව් ඉතා ප්‍රකටය. දෙගල්දොරුවේ සහ රිදී විහාරයේ ජාතක කථා ආදී සිතියම් අඳින ලද්දේ 18 වැනි ශතවර්ෂයේ අවසාන භාගයේ විසූ ඉතා ම දක්ෂ ශිල්පියා වූ දෙවරගම්පළ සිල්වතැන්නෙ උන්නාන්සේ නමින් ප්‍රසිද්ධ භික්ෂුවක් විසිනි. උසස් කලා විවේචකයන්ගේ මහත් ගෞරවයට භාජන වූ මේ සිතියම් මහනුවර මල්වතු විහාරයේ මොරතොට මහා නායක ස්ථවිරයන් වහන්සේගේ සංවිධානය අනුව අඳින ලදී.[4]

පැලියගොඩ විද්‍යාලංකාර පිරිවෙන පිහිටුවා වදාළ රත්මලානේ ශ්‍රී ධර්මාලෝක මහාස්ථවිරපාදයන් වහන්සේ (1828-1887) සත්කෝරළයේ

3. *Ceylon* by Sir James Emerson Tennent, Vol. I (Lond. 1859) pp. 615, 620.
ලෝක ප්‍රසිද්ධ සිගිරි සිතුවම් ද 5 වන ශතවර්ෂයට අයත්ය.
4. Coomaraswamy : *Mediaeval Sinhalese Art*, pp. 47,59, 168.



**19 වැනි ශතවර්ෂයේ අවසාන කාලයේ ලක්දිව පිරිවෙනක භික්ෂූහු ඉගෙනගනිති.**



මංජු ශ්‍රී ස්ථවිරයෝ ලන්ඩන් නුවර චිත්‍ර ප්‍රදර්ශනයක් පවත්වති.

වැඩ සිටියදී විහාර කීපයක ජරාවාස හැර චිත්‍ර කර්මාන්තයන් සියතින් ම කළ බැව් ද මෙහි දී සිහිපත් කළයුතුයි.[5]

ලක්දිව චිත්‍රකලා මෙන් ම සාහිත්‍යය ද දියුණු වන්නට පටන් ගත්තේ පස්වන ශත වර්ෂයේ පටන්ය. මේ ශතවර්ෂයේ මුල හරියේ දී බුද්ධඝෝෂ ස්ථවිරයන් වහන්සේ සිංහල අටුවා පොත් පාළියට නැඟූහ.

භික්ෂු ජීවිතය වෙනස්වීම පිළිබඳව පස්වන ශතවර්ෂයේ දී විශේෂයෙන් සඳහන් කළයුත්තක් නම් මහානාම ස්ථවිරයන් වහන්සේ විසින් සිංහලයන්ගේ ඉතිහාසය වූ මහාවංසය ලිවීමයි.

රජුන් පිළිබඳ කථා, සොරුන් පිළිබඳ කථා, යුද්ධ පිළිබඳ කථා ගම් නියම්ගම් නගර ජනපද පිළිබඳ කථා ආදිය තිරිසන් කථා හැටියට, පහත් කථා හැටියට බුදුන් විසින් දේශනා කොට තිබේ. මෙබඳු තිරච්ඡාන කථාවල යෙදීම භික්ෂූන්ට අකැප බැව් නොඑක් සූත්‍රවල සඳහන් වෙයි.

මහාවංසයෙහි මුල පටන් අග දක්වා ම කියැවෙන්නේ රජුන්, සොරුන්, යුද්ධකලකෝලාහලයන්, ගම්නියම්ගම් නගර ජනපදයන් පිළිබඳ කථාය. මෙබඳු පහත් තිරිසන් කථාවල යෙදීම භික්ෂූන්ට අකැපය, අයෝග්‍යය. ඒ බැව් මහානාම ස්ථවිරයෝ හොඳින් ම දත්හ. එහෙත් කාලයේ හැටියට, දේශයේ හැටියට, අවස්ථාවේ හැටියට සිංහලයන්ගේ ඉතිහාසය ලිවීම අවශ්‍ය විය. එහෙයින් උන්වහන්සේ එය ලිවීමට තීරණය කර ගත්හ. එහෙත් එය ආගම ධර්මයට විරුද්ධය. කෙසේ නමුත් ඒ වරදිනුත් මිදීමට උන්වහන්සේ උපායක් සොයා ගත්හ.

රාජචෝරාදීන් පිළිබඳ කථාවක් කිරීමෙන් පසු "එතරම් මහානුභාව සම්පන්න පුද්ගලයාත් මරණයට පත්විය"යි සැලකීමෙන් ඒ කථාව කර්මස්ථානයක් වන බැව් අටුවාවල සඳහන් වෙයි.[6] එනිසා උන්වහන්සේ මහාවංසයේ හැම පරිච්ඡේදයක ම අගට අනිත්‍යප්‍රතිසංයුක්ත වූ හෝ ධර්මාවවාදාන්විත වූ අදහසක් ප්‍රකාශවන ගාථාවක් යෙදූහ. එසේම සාධුජනයාගේ ප්‍රසාද සංවේග පිණිස මහාවංසය ලියන ලද බැව් හැම පරිච්ඡේදයක ම අවසානයෙහි සඳහන් කළහ. මහාවංසය ලියන ලද්දේ රාජකථා ආදියෙන් යුත්

5. කොටහේනේ ප්‍රඥාකීර්ති: ශ්‍රී ධර්මාලෝක චරිතය (1937) පි. 8 මංජු ශ්‍රී ස්ථවිරයන් වහන්සේ උසස් චිත්‍රශිල්පියෙකු හැටියට මෙකල පෙර අපර දෙදිගම කීර්තියක් උසුලති.

6. දීඝඅට්ඨකථා පි. 65.

ඉතිහාසය ඉගැන්වීම පිණිස නොව, අනිත්‍යය මෙනෙහි කිරීම පිණිසත් සාධුජනයාගේ ප්‍රසාදසංවේග පිණිසත් බැව් හැඟවීමෙන්, එය ඉතිහාසයකට වඩා ධර්මානුකූල ආගමික පොතක් හැටියට පෙන්වීම කර්තෘන් වහන්සේගේ අදහස විය. ඉතිහාසයක් ලිවීමේ වරදින් මිදිය හැකැයි උන්වහන්සේ සිතූ සැටිය.

දීපවංස කර්තෘහු ද මහාසම්මත රජු පටන් සිද්ධාර්ථ කුමාරයා දක්වා රාජ පරම්පරාව කියාගෙන ගොස්, ඊළඟට හදිසියෙන් ම "අනිච්චා වත සංඛාරා" යනාදී ගාථාව යොදත්.[7] හරියට ම අනිත්‍යය ඔප්පු කිරීමට මහාසම්මත රාජපරම්පරාවේ නම් ලැයිස්තුව ගෙනහැර පෑවාක් මෙනි. මෙය ද අටුවාවල එන අදහසට අනුව ම කරන ලද්දකි.

ලංකා ඉතිහාසය පමණ අතරතුර නොකැඩී පැවත එන ඉතිහාස කථාවක් මුළු මහත් දඹදිව්තලෙහි කිසි ම රටක නොමැති බව ගෛගර් පඬිතුමා කියයි.[8] මහානාම ස්ථවිරයන් වහන්සේ විසින් මහාවංසය නොලියන ලද නම් සිංහල ජාතියට මෙතරම් සම්පූර්ණ ඉතිහාස කථාවක් අයිති වීමේ භාග්‍යය නැති වන්නට තිබිණි.

මහාවංසය ලිවීම, භික්ෂූන් තවතවත් ජාතික වැඩට සහභාගී වීමේ ලකුණක් විය. මේ කාලයේ පටන් උන්වහන්සේලා පෙරටත් වඩා ජාතික සේවයෙහි යෙදෙන්නට පටන්ගත්හ.

පොළොන්නරු, දඹදෙණි, කෝට්ටේ අවදිවල දී සිංහල සංස්කෘතියේ හා සභ්‍යත්වයේත්, සිංහල සාහිත්‍යයේත් දියුණුව සඳහා භික්ෂූන් විසින් කරන ලද අසහාය සේවය ඉතා ප්‍රකට බැවින් මෙහි දී විස්තර කිරීම අනවශ්‍යය. අපට ආඩම්බර වීමට අපේ සාහිත්‍යය නමින් යමක් ඇත්නම් එයින් පොත් කීපයක් හැර අනෙක් සියල්ල භික්ෂූන් විසින් ම නිපදවන ලද කෘතීහු වෙත්. "පෙර උගැන්මත් ඉගැන්වීමත් භික්ෂූන් අතෙහි ම පැවතීම නිසා සිංහල සභ්‍යත්වයත් සංස්කෘතියත් කාමාවේශ වූවන් අතින් දූෂණය වීම වැළකිණ.[9]

---

7. දීපවංස, V 49.
8. මැන්දිස් : ලංකා ඉතිහාසය පි. iv.
9. මාර්ටින් වික්‍රමසිංහ : සිංහල සාහිත්‍යයේ නැගීම, පි. 71.

# 10

# ජාතික නිදහස හා සාමය රැකීම

පස්වන ශතවර්ෂයේ මැද හරියේ දී නැවතත් ලක්දිව දෙමළ පරසතුරන්ට යටත් විය. එදා දෙමළුන්ගෙන් රට මුදාගන්නට ශක්තිසම්පන්න සිංහලයෙක් නොවීය. මේ කාලයේ දී එක්තරා උගත් සිල්වත් දූරදර්ශී මහාස්ථවිරයන් වහන්සේ නමක්[1] ලක්දිව රජවීමට තරම් භාග්‍ය සම්පන්න ගුණනුවණින් යුත්, නැකමින් බෑනණුවන් වූ ධාතුසේන නම් කුමාරයකු සොයාගෙන, ඔහු මහණකොට රජකමට අවශ්‍ය ලෙස උගන්වමින්, රහසිගතව ඇති දැඩි කරන්නට පටන් ගත්හ. මේ බැව් දැනගත් දෙමළු කුමාරයා මැරවීමට නොඑක් උපාය යෙදූහ. මහාස්ථවිරයන් වහන්සේ කුඩා සාමණේරයන් අප්‍රසිද්ධව තැනින් තැන ගෙන යමින් රජකමට සුදුසු වයසට පැමිණෙන තුරු ආරක්ෂා කළහ. රජෙකුට වුවමනා දේශපාලනය සහ නීතිය පිළිබඳ සියලු ඉගෙනීම ධාතුසේන කුමාරයා ලබා ගත්තේ තම මයිලණුවන් වූ මේ මහාස්ථවිරයන් වහන්සේගෙන් ය.[2] එකල භික්ෂූන් අතර ඉගෙනීම එතරම් උසස් තත්ත්වයක පැවැත්තේ ය. තිසි වයසට පැමිණි ධාතුසේන කුමාරයා සිවුරු හැර, බළපිරිස් එකතු කොට ගෙන පරසතුරන් නසා සිංහල ජාතියත් බුද්ධශාසනයත් බේරා ගත්තේය.[3]

---

1. මුත් වහන්සේ මහාවංස කර්තෘභූත මහානාම ස්ථවිරයන් වහන්සේ යයි සමහරු සිතත්.
2. සිරිසඟබෝ රජ (ක්‍රි.ව. 307 -309) සිය මයිලණුවන් වූ නන්ද මහා ස්ථවිරයන් වහන්සේගෙන් ශාස්ත්‍ර උගත් බව ඉතා ප්‍රකටය. දඹදෙණියේ විසූ කලිකාල සාහිත්‍ය සර්වඥ පණ්ඩිත පරාක්‍රමබාහු රජ (ක්‍රි.ව. 1236-1271) සංඝරක්ඛිත මහාස්වාමින්ගෙන් රජකමට සුදුසු ඉගෙනීම ලබා දියුණු වූ කුමාරයෙකි. (මහාවංස lxxxi 76)
3. මහාවංස xxxviii 14-37.

එදා මේ දූරදර්ශී, ජාතිහිතෛෂී, ශාසනමාමක මහා ස්ථවිරයන් වහන්සේ ධාතුසේන කුමාරයා හදාවඩා රට මුදා ගැනීමට ඉදිරිපත් නොකළ සේක් නම්, සිංහල ජාතියටත් බුද්ධශාසනයටත් තව කොපමණ කලක් පරසතුරන්ගේ වහල් බැම්මේ ජීවත්වන්නට සිදුවේදැයි කාටවත් කිය නොහැක.

ධාතුසේන රජු (ක්‍රි. ව. 460-478) මරා ඔහුගේ පුත් පළමුවන කාශ්‍යප (478-496) රාජ්‍යය පැහැර ගත්තේය. සීගිරි බලකොටුව තැනූ මොහු පිතෘඝාතකයකු වූ බැවින් සංඝයාගේ පිළිකුලට භාජන විය. එහෙයින් ම මහජනයාට අප්‍රිය විය. අධර්මිෂ්ඨ කාශ්‍යප රජු සිංහාසනයෙන් නෙරපා යහපත් ගතිගුණවලින් යුත් මුගලන් කුමාරයාට රාජ්‍යය ලබාදීමට භික්ෂු සංඝයා හැම අතින් ම ආධාර කළහ. මුගලන් කුමාරයාගේ යුද්ධහමුදාව රැස්කරන ලද්දේ කුඨාරී නම් විහාරයක බැව් මහාවංසයේ සඳහන් වෙයි.[4] අයුතු බලයෙන් රට පෙළන අධාර්මිකයකු සිංහාසනයෙන් පහකොට, ඒ වෙනුවට යහපත් ගතිගුණවලින් යුත් ධාර්මිකයකු පත්කිරීම ජාතියටත් ආගමටත් කරන බලවත් ම මෙහෙය බැව් එකල භික්ෂූහු දත්හ. එහෙයින් උන්වහන්සේලා මුගලන් කුමාරයාට ආධාර දුන්හ.

භික්ෂූන්ගේ ආධාරය නිසා ජයග්‍රහණය කොට ආපසු පැමිණෙන පළමුවන මුගලන් රජු (ක්‍රි.ව. 496-513) පිළිගැනීමට මහාවිහාරයේ සංඝයා මළුපෙත්මං හැමද, මනාව හැඳ පොරවා, විහාරයෙහි පෙළගැහී සිටියාහ.[5] කෙළෙහිගුණ දත් මුගලන් රජ සංඝයාගෙන් තමාට ලැබුණු ආධාරය සිහිකරමින් පළමුකොට ම විහාරයට පැමිණ, රාජ්‍යයේ ලකුණ වූ සේසත, තමාට නොව තමාට ආධාර කොට රාජ්‍යය ලබාදුන් සංඝයාට අයිති බැව් හඟවන්නාක් මෙන් භික්ෂූන්ට පූජා කළේය. භික්ෂූහු එය ආපසු රජුට ම දුන්හ.

රටේ ආගමේ ජාතියේ ආරක්ෂාවත් දියුණුවත් සඳහා යම් අවස්ථාවක යමක් කළ යුතුව තිබුණා නම්, ඒ හැම අවස්ථාවක ම ඒ සියල්ල ම නොවළහා ඉටු කිරීමට භික්ෂූන් වහන්සේලා නොපැකිළ ඉදිරිපත් වූ බවට ලංකා ඉතිහාසය තිකර ම සාක්ෂි දරයි. එසේ ම සියලු ම වැදගත් අවස්ථාවල දී හැම බරපතළ ප්‍රශ්නයක් ගැන ම සංඝයාගෙන් අවවාද ලබාගැනීම එකල රජුන්ගේ සිරිත විය.

4. මහාවංස xxxix 21.
5. මහාවංස xxxix 29-31

දෙවන මිහිඳු රජ (ක්‍රි.ව. 772-792) රුහුණට විරුද්ධව සටනක් ආරම්භ කරන්නට සූදානම්ව, ථූපාරාමයට මහාසංඝයා සහ නුවණැති වැඩිහිටියන් රැස්කරවා, ඒ සඳහා සම්මතිය ලබා ගත්තේය.[6] මෙසේ කරන ලද්දේ සංඝයාගේ සම්මතිය ලබාගැනීම මහජනයාගේ සහයෝගය ස්ථිරව ම ලබාගැනීමට මාර්ගය වූ හෙයිනි. එකල සංඝයාට මහා ජනයා අතර එතරම් බලයක් තිබුණේ ය.

මිහිඳු යුවරජ සහ දෙවන සේන රජ (851-885) අතර පැවති නපුරු දේශපාලන වියවුලක් සංඝයා මැදිහත් වී දෙපක්ෂය අතර සමාදාන ගිවිසුමක් ඇතිකොට සංසිඳුවන ලදී.[7]

මිහිඳු ඈපාණන් සහ IV කාශ්‍යප රජු (896-913) අතර ඇති වූ දේශපාලන භේදයක් නිසා, අභ්‍යන්තර යුද්ධයක් පවා හටගෙන රට අනතුරට පත්විය. සම්පූර්ණයෙන් ම මේ දේශපාලන වියවුල සංහිඳුවා ඒ අවස්ථාවේ රට විපතින් මුදාගන්නා ලද්දේ භික්ෂූන් විසිනි.[8]

III උදය රජු (945-953) කාලයෙහි හටගත් භයානක දේශපාලන අරගලයක් නිසා බොහෝ මිනිසුන්ගේ ජීවිත නිකරුණේ විනාශ කරන ලදී. විශාල සිවිල් යුද්ධයකට ද මං පෑදී තිබුණේ ය. එහෙත් භික්ෂූන් වහන්සේලා මැදිහත් වී මේ භයානක විපතින් ඒ අවස්ථාවේ ජාතියත් ආගමත් මුදාගත්හ.[9]

පළමුවන විජයබාහු රජු (1055-1114) විසින් සිය සොහොයුරු ජයබාහු කුමාරයාට යුවරජ තනතුර පවරන ලද්දේ සම්පූර්ණයෙන් ම භික්ෂූන්ගේ අදහසට අනුව ය.[10] එසේ ම විජයබාහු රජුගේ මරණින් පසු ජයබාහු කුමාරයාට රාජ්‍යය පැවරීම පිණිස රැස්වූ මන්ත්‍රණ සභාවට ප්‍රධාන ස්ථවිරයන් වහන්සේලා ද ඇතුළත් වූහ. මළ රජුගේ සොහොයුරිය ද, ඇගේ පුත්තු තුන්දෙනා ද, මහාමාත්‍යවරු ද ඒ සභාවෙහි වූහ. මොවුන් සමග භික්ෂූහු ද ඡන්දය දී ඒකමතිකව (සමානච්ඡන්දතං ගතා) ජයබාහු කුමාරයා රජ බවට පත් කර ගත්හ.[11]

මානාභරණ සහ II ගජබාහු (1137-1153) රජු අතර පැවති භයානක දේශපාලන වියවුල් ද, II ගජබාහු සහ I පරාක්‍රමබාහු රජු

6. මහාවංස lxviii 126-127.
7. මහාවංස li 14.
8. මහාවංස lii 9.
9. මහාවංස liii 13 පටන්.
10. මහාවංස lx 87.
11. මහාවංස lxi 1-3.

(1153-1186) අතර ඇතිවූ සිවිල් යුද්ධ ද සංසිඳුවා සන්ධාන (සමාදාන ගිවිසුම්) ඇති කොට රට සාමයට පත් කරන ලද්දේ භික්ෂූන් විසින් ම ය.[12]

මහා පරාක්‍රමබාහු රජ්ජුරුවන් දඹදිව යටත් කොට සම්‍යක්දෘෂ්ටිය පතුරවන අදහසින් ලක්දිව මුළුල්ලෙහි සිංහල මහසෙනඟ ගෙන දඹදිව යෑමට නික්මුණු අවස්ථාවෙහි, මහා සංඝයා යන්නට ඉඩ නොදුන් හෙයින්, තමන් නතරව යුද්ධ හමුදාව පමණක් එහි යැවූ බැව් පූජාවලියෙහි සඳහන් වෙයි.[13]

රාජ්‍යයට හිමිකම් ඇති රාජකුමරවරුන් හයදෙනාගෙන් රජකමට ඉතා ම සුදුස්සා කවරෙක්දැයි නිශ්චය කරගැනීමට කලිකාල සාහිත්‍ය සර්වඥ පණ්ඩිත පරාක්‍රමබාහු රජ (1236-1271)[14] සංඝයාගේ අදහසක් අවවාදයක් සෙවීය. මෙහි දී සංඝයාගේ අනුමැතිය පරිදි IV විජයබාහු හෙවත් බෝසත් විජයබාහු කුමාරයා (1271-1273) රජකමට පත්කරන ලදී.[15]

15 වන ශත වර්ෂයේ මුල් භාගයේදී ලංකා රාජ්‍යය පිළිබඳ නොඑක් වියවුල් ඇති විය. නොඑක් පක්ෂවල භේද නිසා දෙතුන් අවුරුද්දක් ලංකාව අරාජිකව මෙන් පැවැත්තේ ය. ඒ කාලයේ වීදාගම විහාරධිපතිව වැඩවිසූ ස්ථවිරතුමකු විසින් සුනේත්‍රා මහාදේවියගේ පුත්‍ර කුමාරයෙක් කුඩා කල පටන් ඇතිදැඩිකොට, ධර්මශාස්ත්‍ර පුහුණු කරවා සොළොස් සැවිරිදි වූ කල මහාසේනාවට භාරදී ශ්‍රී පරාක්‍රමබාහු (හයවෙනි පරාක්‍රමබාහු 1412-1467) නාමයෙන් රජකමට පත්කරවන ලදී.[16]

---

12. මහාවංස lxx 181, 328 පටන්, *Epigraphia zeylanica* iv p. 6.
ගජබාහු පරාක්‍රමබාහු රජුන් අතර ඇතිකරගත් සන්ධානය ප්‍රකාශ කොට මණ්ඩලගිරි විහාරයේත් සංගමු විහාරයේත් ශිලාලිපි දෙකක් පිහිටුවන ලදී. මේ විහාර දෙක විරුද්ධ රජුන් දෙදෙනා අතර සමාදාන ගිවිසුම ඇති කළ ප්‍රධාන ස්ථවිරයන් වහන්සේලා වැඩ උන් ස්ථාන විය හැකැයි ද, සමාදාන ගිවිසුම කඩ නොකොට ස්ථිරව පැවැත්වීමට සාක්ෂියක් වශයෙන් මේ ශිලාලිපි ඒ ස්ථවිරයන් වහන්සේලාගේ ම නියමය පරිදි කොටවන්නට ඇතැයි ද සිතීමට ඉඩ තිබෙන බැව් ඇස්. පරණවිතාන මහතා කියයි.
13. පූජාවලිය, පි. 689.
14. මේ රජ බුද්ධාගම ඉතා හොඳින් උගත් කෙනෙකි. විසුද්ධි මාර්ග සන්න, වන විනිස (විනය විනිශ්චය) සන්නය වැනි උසස් ධර්ම ග්‍රන්ථයන් සම්පාදනය කළ මහා පණ්ඩිතයෙකි.
15. මහාවංස lxxxvii 39 පටන්.
16. ජයතිලක : කතිකාවත් සඟරා, විඥාපනය, පි. v-vi.

ක්‍රි.ව. 1760 දී ලංකාවේ මුහුදුබඩ පළාත් පාලනය කළ ෆල්ක් නම් ලංසි ආණ්ඩුකාර තැන විසින් සිංහල ආණ්ඩුක්‍රමය ද, සිංහල නීති සහ සිරිත් විරිත් ද පිළිබඳව කරුණු විමසා ප්‍රශ්න පද්ධතියක් කන්ද උඩරට ආණ්ඩුව වෙත යවන ලදී. මේ ප්‍රශ්නවලට පිළිතුරු සපයන ලද්දේ එකල විසූ සිංහල මැතිඇමැතිවරුන් විසින් නොව, වැලිවිට පිණ්ඩපාතික සරණංකර සංඝරාජයන් වහන්සේ ඇතුළු මහනුවර මල්වතු විහාරයේ සංඝ සභාව විසිනි.[17]

මොරතොට රාජගුරු ධම්මක්ඛන්ධ මහානායක ස්ථවිරයන් වහන්සේ සහ ගාලු පළාතේ සිල්වත් ගුණවත් මහා ස්ථවිරයන් වහන්සේ නමක් ද උඩරට සිංහල ආණ්ඩුව සහ මුහුදුබඩ පළාත්වල ඉංග්‍රීසි ආණ්ඩුවත් සමග වෙළෙඳ ගිවිසුමක් ඇති කිරීමට නියෝජිතයන් වශයෙන් ක්‍රියාකළ බැව් ද, මොරතොට මහානායක ස්ථවිරයන් වහන්සේ රජ්ජුරුවන්ගේ තානාපතියා වශයෙන් පෙනී සිටි බැව් ද පෝල් ඊ. පීරිස් මහතා විසින් ලියන ලද ත්‍රීසිංහල නම් පොතේ සඳහන් වෙයි.[18]

රටේ ආරක්ෂාවත් සාමයත් දියුණුවත් සඳහා යමක් කළ යුතුව තිබුණා නම්, එය දේශපාලනය වුවත් කුමක් වුවත්, ඒ සියල්ල නිර්භය ව නොපැකිළ ඉටුකිරීම තමන්ට අයත් යුතුකමක් හැටියට එකල භික්ෂූහු පිළිගත්හ.

---

17. දැනට ලන්ඩන් නුවර බ්‍රිතාන්‍ය කෞතුකාගාරයට අයත් මහා පුස්තකාලයෙහි සුරක්ෂිතව තිබෙන මේ වැදගත් ඓතිහාසික ලිපිය සර් ඩී. බී. ජයතිලක මැතිතුමා විසින් පිටපත් කරගෙන අවුත් ප්‍රභාෂෝදය සඟරාවේ 1930 අප්‍රේල්, මැයි, ජුනි කලාපවල ප්‍රසිද්ධ කොට තිබේ.
18. *Tri Sinhala* by P.E. Pieris (2nd ed.) pp. 32-33.

# 11

## පෘතුගීසි කාලය

අටවැනි වීරපරාක්‍රමබාහු රජු දවස, 1505 දී, පළමුවන වරට පෘතුගීසීහු ලක්දිවට පැමිණියෝ ය. මේ කාලය වන විට අභ්‍යන්තර කෝලාහල නිසා හැම අතින් ම ලක්දිව පිරිහුණු තත්ත්වයක පැවැත්තේ ය. දේශපාලනය අතින් රට භේද භින්න විය. නොඑක් පළාත්වල ප්‍රාදේශික අධිපතීහු රජුන් හැටියට පෙනී සිටින්නට උත්සාහ කළෝය. ජාපනේ පළාත දෙමළුන් යටතේ පැවැත්තේ ය. වන්නියට අයත් පළාත් වන්නියාර් නමින් හඳුන්වනු ලැබූ අධිපතීන් යටතේ පාලනය විය. බදුල්ල, ගම්පළ, පේරාදෙණිය, මාදම්පේ, අම්බුළුගල, උඩුගම්පළ, දෙවුන්දර ආදි නගරවල ද සුළු රජවරු වෙසෙමින් ඒ පළාත් ආණ්ඩු කළෝය. කෝට්ටේ රජු ලංකාවේ අගරජු හැටියට සම්මත වූ නමුත්, ප්‍රාදේශික රජුන් හා අගරජු අතර ස්ථිර සම්බන්ධයක් හෝ සමගියක් නොපැවැත්තේය. ප්‍රාදේශික අධිපතීහු ඔවුනොවුන් කැමැති හැටියට ඒ ඒ පළාත්වල ස්වෛරීව ක්‍රියා කළෝය. මේ රජුන් අතරේ නිතර ම කලකෝලාහල ඇතිවිය. රටේ දියුණුවට අවශ්‍ය දේ කිරීමට රජුන්ට ශක්තියක් හෝ අවකාශයක් නැතිවිය. ආර්ථික තත්ත්වයෙන් රට පිරිහෙන්නට විය. වෙළෙඳාමට යෝග්‍ය වරායවල් පිහිටි මුහුදුබඩ තොටමුණු ගම්වල මරක්කල මිනිස්සු අධිපතිකම් කළෝය. ශාස්ත්‍රීය කටයුතු අතින් ද කියයුතු කිසිත් දියුණුවක් නොවීය. දිවයිනේ දේශපාලන, ආර්ථික හා ශාස්ත්‍රීය පරිහානියත් සමග බුද්ධාගමේ හා භික්ෂූන් වහන්සේලාගේ ද තත්ත්වය දුර්වල විය.

එදා ලක්දිව පැවැති මේ දුර්වල තත්ත්වය නිසා පෘතුගීසීන්ගේ බලය මුහුදුබඩ පළාත්වල තහවුරු කරගැනීමට නිරායාසයෙන් ම ඔවුන්ට ඉඩ ලැබිණි. පෘතුගීසීන්ගේ පැමිණීමෙන් පසු ඔවුන් සමඟ

ඇති වූ යුද්ධකෝලාහල නිසා සිංහල ආණ්ඩුව තව තවත් දුර්වල විය. පෘතුගීසීහු සිංහලයන් මරා ඔවුන්ගේ අයිතිය ද ධනය ද අයුතු ලෙස පැහැරගත්හ. ඔවුහු රටේ දියුණුවට කියයුතු කිසිවක් නොකළෝය. ලක්දිව රෝමානු ආගම පතුරුවා හැරීමට පෘතුගීසීහු විශේෂයෙන් උත්සාහ කළෝය. ඒ වෙනුවෙන් ඔවුහු මිනිසුන් මැරීම්, මිනිසුන්ට වධ දීම් ආදි නොඑක් දරුණු දේ පවා කළෝය. ක්‍රිස්තියානි නොවූ කවරෙක් වුවත් පෘතුගාලයේ හා ක්‍රිස්තුස් වහන්සේගේ සතුරකු හැටියට සලකන ලදී. කොළඹ, පානදුරේ, මග්ගොන, බේරුවල, ගාල්ල, වැලිගම ආදි මුහුදුබඩ පළාත්වල පෘතුගීසීන් සමග පැමිණි රෝමානු මිෂනාරිවරුන්ගේ බලය පැතිරෙන්නට විය. යාපනය පළාතේ ද රෝමානුව ප්‍රචලිත විය. පෘතුගීසි ආණ්ඩුව යටතේ රාජකාරී ලබාගනු සඳහා බොහෝ සිංහලයෝ රෝමානු ආගම වැළඳ ගත්හ. පෘතුගීසීන්ගේ ආශ්‍රය නිසා සිංහලයන්ට අධික ලෙස සුරාපානය පුරුදු විය. පරංගි රෝග ද සිංහලයන්ට බෝ වූයේ පෘතුගීසීන්ගෙන් ම බැව් කියනු ලැබේ. සමහරු ලෞකික ප්‍රයෝජන තකා ප්‍රසිද්ධියේ රෝමානුකාරයන් මෙන් පෙනීසිටි නමුත්, රහසින් බුද්ධාගම ඇදහුවෝය. ඇතැම් විට දේශපාලන ප්‍රයෝජන තකා සිංහල රජවරු ද, රාජකුමාරවරු සහ කුමාරියෝ ද රෝමානු ආගම පිළිගත්හ.

බුද්ධාගම හැරදමා හින්දු ආගම වැළඳගත් පිතෘඝාතක පළමුවන රාජසිංහ රජුගේ කාලයේ දී (1581-1592) පෘතුගීසීන් සමග ඇති වූ භයානක යුද්ධ නිසාත්, රජුගේ දරුණු සාහසිකකම් නිසාත් බුද්ධාගමටත් භික්ෂූන්ටත් බරපතළ හානි සිදුවිය. මේ රජ බොහෝ ගණනක් භික්ෂූන් මරවා ආගමික වූද ශාස්ත්‍රීයවූද පොත්පත් මහත් රාශියක් පුලුස්සා දැමීය. රජුගේ සාහසික කෲරකම් නිසා උඩරට වැස්සෝ ඔහුට විරුද්ධව පෘතුගීසීන්ට ආධාර දීමට පවා කැමැති වූහ. මුළු ලක්දිව යටත් කරගැනීමට මෙය හොඳ අවස්ථාවකැයි සිතූ පෘතුගීසීහු රෝමානු ආගම වැළඳගෙන සිටි සිංහල කුමාරවරුන් දෙදෙනෙකුත් සමග මහනුවරට ගොස් උඩරට අත්පත් කරගන්නට උත්සාහ කළෝය. මේ ප්‍රයත්නය සඵල නොවීය. එහෙත් 1505 පටන් 1658 දක්වා අවුරුදු 150 ක් පමණ දීර්ඝ කාලයක් පෘතුගීසීහු ලංකාවේ මුහුදුබඩ පළාත් ආණ්ඩු කළෝය.

අභ්‍යන්තර වියවුල් නිසාත්, සිංහලයන් හා පෘතුගීසීන් අතර පැවැති යුද්ධකෝලාහල නිසාත් පරම්පරා ගණනක් ම රටේ දියුණුවට

කිසිවක් කරන්නට ඉඩක් නැතිවිය. සිංහලයන්ගේ ජාතික ආගම හා ජාතික ශිෂ්ටාචාරය පිරිහෙන්නට විය. පිතෘඝාතක රාජසිංහ රජුගේ දරුණු ක්‍රියා නිසා සමහර භික්ෂූන්ගේ තත්ත්වය ඉතා කනගාටුදායක විය. මුළු ලක්දිව ම උපසම්පන්න භික්ෂුවක් නැතිවී යයි කියයුතු තරම් විය. එබැවින් පළමු වන විමලධර්ම රජ (1592-1604) රක්ඛංග දේශයට ඇමැතියන් යවා එරටින් උපසම්පන්න භික්ෂූන් ගෙන්වා, මහවැලි ගඟ ගැටඹේතොට උදකුක්ඛේප සීමාවක් තනා, බොහෝ කුලපුත්‍රයන් උපසම්පදා කරවීය.

# 12

## ලන්දේසි කාලය

මෙසේ පවත්නා අතර ක්‍රි. ව. 1602 දී ලක්දිවට ඕලන්දක්කාරයෝ හෙවත් ලන්දේසීහු පැමිණියෝය. මේ අලුත පැමිණි යුරෝපාකාරයන්ගේ උදව්වෙන් පෘතුගීසීන් ලක්දිවින් පලවා හරින්නට සිංහල රජවරු උත්සාහ කළෝය. මේ නිසා තව තවත් රටේ යුද්ධකෝලාහල වැඩි විය. සිංහලයන් හා ඕලන්දක්කාරයන් එකතු වී ශතවර්ෂ භාගයකටත් වඩා දීර්ඝ කාලයක් පෘතුගීසීන්ට විරුද්ධව සටන් කිරීමෙන් පසු දෙවන රාජසිංහ (1634-1684) රජ දවස 1658 දී ලක්දිව පෘතුගීසීන්ගේ බලය සම්පූර්ණයෙන් සුන් විය. මුහුදුබඩ පළාත්වල පාලනය ලන්දේසීන් අතට පත්විය.

මුලදී ලන්දේසීහු සිංහලයන්ට පක්ෂපාතව පෘතුගීසීන්ට විරුද්ධව සටන් කළෝය. එසේ ම පෘතුගීසීන් එළවා දැමීමෙන් පසු මුහුදුබඩ පිහිටි ඔවුන්ගේ බළකොටු සියල්ලම සිංහල රජුට භාරදෙන බවට වූ පොරොන්දු අමතක කොට ඔවුහුම ඒ බළකොටු තමන් යටතේ තබාගෙන මුහුදුබඩ පළාත් ආණ්ඩුකරන්නට පටන්ගත්හ. එහෙයින් ලන්දේසීන්ට විරුද්ධවත් සටනක් ආරම්භ කරන්නට සිංහලයන්ට සිදුවිය.

1672 දී ප්‍රංසකාරයෝ මේ දිවයිනට පැමිණියෝය. ප්‍රංසකාරයන් හා ඕලන්දක්කාරයන් අතර විරුද්ධත්වයක් පවත්නා බැව් දැනගත් දෙවන රාජසිංහ රජ, ප්‍රංශකාරයන්ගේ ආධාරයෙන් ඕලන්දක්කාරයන් පලවා හැරීමේ බලාපොරොත්තුව පිට, තිරිකුණාමලේ වරාය අසල කොටුවක් තනාගැනීමට ප්‍රංසකාරයන්ට අවසර දුන්නේය. එහෙත් රජුගේ අදහස සඵල නොවීය. ඕලන්දක්කාරයෝ ප්‍රංශකාරයන්ගේ තිරිකුණාමලේ කොටුව අයිතිකර ගත්හ. ලක්දිව පදිංචි වී මුහුදුබඩ

පළාත් ආණ්ඩු කිරීමට ප්‍රංසකාරයන් තුළ පැවති බලාපොරොත්තුව ද සුන්විය.

දෙවැනි විමලධර්මසූර්ය රජු (1684-1706) පටන් ශ්‍රී විජය රාජසිංහ රජු (1739-1747) දක්වා අවුරුදු 60කටත් අධික කාලයක් කිය යුතු තරම් අභ්‍යන්තර වියවුලක් හෝ ලන්දේසීන් සමග යුද්ධකෝලාහලයක් හෝ නැතිව රටේ සමාදානය පැවැත්තේය. එහෙයින් මේ කාලය තුළ ධර්ම ශාස්ත්‍ර දියුණුවටත් ආර්ථික සංවර්ධනයටත් තරමක් අවකාශ ලැබිණි. දෙවැනි රාජසිංහ රජුගේ මුළු කාලය යුද්ධයට ගතවූ බැවින් ලෝකශාසන දියුණුවට කිසිවක් කරන්නට ඒ රජුට ඉඩක් නැතිවිය. ශාසනය පිරිහී ගියේය. මුළු ලක්දිව සිල්වත් ගුණවත් උපසම්පන්න භික්ෂූන් පස්නමක් වත් සොයා ගැනීමට බැරි තරම් විය. එහෙයින් විමලධර්මසූර්ය රජතුමා රක්ඛංග දේශයට තානාපතීන් යවා, එරටින් භික්ෂූන් 33 නමක් ගෙන්වා ලක්දිව යළිත් උපසම්පදාව පිහිටුවිය.

එහෙත් පරසතුරු වියවුල් නිසාත්, එකල ලක්දිව දේශපාලන හා ආර්ථික තත්ත්වය දුර්වලව පැවති නිසාත්, එහෙයින් ම සමාජය දූෂිත වූ නිසාත්, බුද්ධශාසනය ද වැඩි කලක් පිරිසිදු ලෙස පවත්වන්නට ඉඩ නොලැබිණි. එකල භික්ෂූහු කිසිත් ඉගෙනීමක් නැතිව, ගොවිතැන්බත් කරමින්, වෙදකම් නැකැත්කීම් බලි සූනියම් කරමින්, පවුල් රකිමින් තමන්ටවත් රටටවත් වැඩක් නැති අශාසනික පහත් ජීවිතයක් ගතකළාහ. ගිහියන්ගේ ජීවිතය ඊටත් වඩා කනගාටුදායක තත්ත්වයක පැවැත්තේය. රටේ දියුණුවට කිසිත් ව්‍යාපාරයක් ඇති නොවීය.

මේ කාලයේ දී වැලිවිට පිණ්ඩපාතික සරණංකර සාමණේරයන් වහන්සේ ආගමේත් ජාතියේත් යහපත සඳහා උසස් චරිතයෙන් යුත් පිරිසක් ඇති කිරීමටත්, රටවැසියන් අතර සුචරිතය සහ අධ්‍යාපනය දියුණු කිරීමටත් ව්‍යාපාරයක් ආරම්භ කළහ. ඒ දවස්වල බුද්ධශාසනයත් සිංහලජාතියත් කොතරම් පිරිහීමකට පත්ව තිබුණාදැයි කිවහොත්, මේ ශ්‍රේෂ්ඨ ආගමික ජාතික ව්‍යාපාරයට විරුද්ධව එකල මහනුවර "විහාරවල සිටින සාමණේර නායක උන්නාන්සේලා පටන් හැම උන්නාන්සේලා ම ඊර්ෂ්‍යා පරවශව පිළිවෙත් පුරන උන්නාන්සේලාට නොඑක් ලෙසින් හානිවීමට" අනේක ප්‍රකාර විරුද්ධකම් කරනන්ට පටන් ගත් බැව් සංඝරාජ සාධු චරියාවෙහි සඳහන් වෙයි.[1] විහාරවල නායකවරු පමණක්

1. සංඝරාජ සාධුචරියාව (1916) පි.6.

නොව රටේ ප්‍රධානීහු ද රජ්ජුරුවෝ ද උන්වහන්සේට මුලදී විරුද්ධව සිටියාහ. මේ සියලු විරුද්ධකම් මධ්‍යයෙහි මහත් ඉවසීමෙන් හා උට්ඨාන වීර්යයෙන් ක්‍රියාකොට වැලිවිට පිණ්ඩපාතික සරණංකර ස්වාමීන් වහන්සේ බුද්ධශාසනයත් සිංහලජාතියත් සිංහල සභ්‍යත්වය හා සාහිත්‍යයත් යළිත් නගා සිටුවූහ. උන්වහන්සේගේ වැඩපිළිවෙළ ගැන පසුව පැහැදුණු කීර්ති ශ්‍රී රාජසිංහ (1747-1798) රජ 1750 දී සියම් රටට තානාපතියන් යවා උපාලි මහ ස්ථවිරයන් වහන්සේ ප්‍රමුඛ සංඝයා මෙහි ගෙන්වා, පිරිසිදු උපසම්පදාව මෙහි පිහිටුවා, වැලිවිට පිණ්ඩපාතික සරණංකර මා හිමියන් වහන්සේ සංඝරාජ පදවියට ද පත්කොට ලෝකශාසන දියුණුවට ආධාර විය.

ලන්දේසීහු තමන්ගේ මුහුදුබඩ බළකොටු ශක්තිමත් කොට ගෙන ක්‍රම ක්‍රමයෙන් දිවයින ඇතුළට වදින්නට උත්සාහ කළෝය. කීර්ති ශ්‍රී රාජසිංහ රජ ඔවුන් ලක්දිවින් පලවා හැරීමට බොහෝ උත්සාහ කළේය. පෘතුගීසීන්ගෙන් මෙන්ම ලන්දේසීන්ගෙන් ද මේ රටේ සභ්‍යත්වයට හා සදාචාරයටත්, ආර්ථික හා දේශපාලන දියුණුවටත් සිදුවූයේ විපතක් ම ය. අධික වස්තු තෘෂ්ණාවෙන් අයුතු බදු පැනවීම් ආදිය නිසා රටේ ආර්ථික තත්ත්වය භයානක ලෙස පිරිහී ගියේය. රටවැසියෝ දිළිඳු වූහ. කුරුඳු, කෝපි, පුවක් ආදි වෙළෙඳාම් සම්පූර්ණයෙන් ලන්දේසීහු තමන් අතට ගත්හ. විශේෂයෙන් කුරුඳු ආණ්ඩුව සන්තක විය. තමන්ගේ වත්තක තිබෙන කුරුඳු පැළයක්වත් කැපීම තහනම් විය. ලන්දේසීහු රටේ දියුණුවට කියයුතු කිසිවක් නොකළෝය.

අනිත් සියල්ලට ම වඩා තමන්ගේ ආගම වූ රෙපරමාදු ක්‍රිස්තියානිය ලක්දිව පැතිරවීමට ලන්දේසීහු උත්සාහ කළෝය. ඔවුන්ට අයත් හැම පළාත්වල ම දේවස්ථාන ඉදිකොට, ගම්වල පාඨශාලා විවෘත කොට, ක්‍රිස්තියානි ගුරුවරුන් ලවා ඉගැන්වීම ආරම්භ කරන ලදී. ක්‍රිස්තියානි පොත්පත් සිංහලෙන් හා දෙමළෙන් මුද්‍රණය කොට ප්‍රචාරය කරන ලදී. ක්‍රිස්තියානි ආගම වැළඳගත් අය ම පාඨශාලාවල ගුරුතනතුරට පත් කරන ලදහ. මේ ගුරුවරුන්ට මිනිසුන් අතර විශේෂ සැලකිල්ලක් තිබුණේ ය. ඔවුහු ගුරුවරුන් හැටියට පමණක් නොව බව්තීස්ම කිරීමට හා කසාදතෝම්බු ලිවීමට ද බලය ඇති නිලධාරීන් හැටියට ද ක්‍රියා කළහ. ගම්වැස්සෝ ගෞරවය සඳහා ඔවුන්ට "රාළහාමි" යයි ව්‍යවහාර කළෝය. වරක් ආදුරුප්පු පල්ලියේ ගුරුවරයාට ආණ්ඩුවෙන් ඉතා



**"සිංහල ජාතියේත් ලංකා බුද්ධශාසනයේත් නිදහස 1815 මාර්තු 2 ද මහනුවරදී ඉංග්‍රීසීන්ට යටත් විය."**



**කීර්ති ශ්‍රී රාජසිංහ රජ වැලිවිට පිණ්ඩපාතික සරණංකර මාහිමියන්ට සංඝරාජ පදවිය පවරයි. (කැලණි විහාරයේ චිත්‍ර)**

උසස් මුදලිකමක් ද පවරන ලදී. ක්‍රිස්තියානි පාසල්වලට ළමයින් යැවීමට නීතියෙන් බල කරන ලදි.

රෙපරමාදු නොවූවන්ට ආණ්ඩුවේ නිලතල ලබාගත නොහැකි විය. ගම්වල සුළු නිලයක් ලබා ගැනීමට පවා රෙපරමාදු කාරයකු වීම අවශ්‍ය කරුණක් විය. එහෙයින් බොහෝ බෞද්ධයෝ රැකීරක්ෂා හා තනතුරු ලබාගැනීමේ ආශාවෙන් බොරුවට හෝ ක්‍රිස්තියානිය වැළඳගත්හ.

මේ ක්‍රමයෙන් බුද්ධාගම නැති කොට ක්‍රිස්තියානිය පැතිරවීමටත්, බෞද්ධ සිංහල ශිෂ්ටාචාරය වෙනුවට විදේශීය ක්‍රිස්තියානි ශිෂ්ටාචාරය පුරුදු කිරීමටත්, ඒ මගින් සිංහල රට හා සිංහල රජු ගැන පැවැති සැලකිල්ල, ගෞරවය හා ආදර භක්තිය නැති කොට තමන්ගේ බලය තහවුරු කර ගැනීමටත් ලන්දේසීහු උත්සාහ කළෝය. ක්‍රි. ව. 1658 පටන් 1796 දක්වා අවුරුදු 138ක් පමණ කාලයක් ලන්දේසීහු ලංකාවේ මුහුදුබඩ පළාත් ආණ්ඩු කළෝය.

මුහුදුබඩ පළාත්වල බුද්ධාගම හා සිංහල ශිෂ්ටාචාරය දරුණු ඉරණමකට ගොදුරුව පවතිද්දී, බෞද්ධ භික්ෂූන් වහන්සේලා අවස්ථාවේ හැටියට, රටේ නොඑක් පළාත්වල, විශේෂයෙන් පිටිසර පළාත්වල සිංහල දරුවන්ට ශක්ති ප්‍රමාණයෙන් ධර්ම ශාස්ත්‍ර උගන්වා බුද්ධාගමත් සිංහල ශිෂ්ටාචාරයත් රැක ගැන්මට උත්සාහ කළෝය.

# 13

# ඉංග්‍රීසි ආණ්ඩුව

ඉංග්‍රීසීන් පළමුවෙන් ම ලංකාව අත්පත් කරගන්නට අදහස් කෙළේ වර්ෂ 1763 දී බව සිතිය හැක. මේ කාලය වනවිට කල්කටාව, බොම්බාය, මදුරාසිය ආදී ඉන්දියාවේ බොහෝ පළාත් ඉංග්‍රීසීන්ට අයත්ව තිබුණේය. යට කී වර්ෂයේ දී මදුරාසියේ ඉංග්‍රීසි ආණ්ඩුකාර තැන ලංකාවේ විසූ ලන්දේසීන්ට විරුද්ධව යුද්ධ කිරීමට කීර්ති ශ්‍රී රාජසිංහ රජුට ආධාර දීමට කැමැත්ත දන්වා, ඒ ගැන කරුණු පරීක්ෂා කිරීමට ෆයිබස් නම් තානාපතියකු මහනුවරට පිටත්කොට යැවී ය. තානාපතියා අවුත් රජු සමග සාකච්ඡා කොට, ගිවිසුමක් ද, පිළියෙල කරගෙන ආපසු ගිය නමුත්, මදුරාසියේ ඉංග්‍රීසි ආණ්ඩුවෙන් සිංහල රජුට කිසිත් ආධාරයක් නොලැබුණි.

එහෙත් 1782 දී මදුරාසියේ ආණ්ඩුකාරයා වූ මැකාර්ට්නි සාමි ලංකාවේ ලන්දේසීන්ට අයත් මුහුදුබඩ පළාත් අල්ලා ගන්නට අදහස් කොට ඉංග්‍රීසි නාවික හමුදාවක් හා පාබළ හමුදාවක් ලක්දිවට එවීය. ඒ සේනාව තිරිකුණාමලේ කොටුව අල්වා ගත්හ. මේ අවස්ථාවේ ඉංග්‍රීසීන් සිංහල රජු හා ගිවිසුමක් ඇති කරගන්නට උත්සාහ කළ නමුත් එය ව්‍යර්ථ විය. කලින් කරගත් ගිවිසුමට අනුව ක්‍රියා නො කිරීම නිසා සිංහල රජ ඉංග්‍රීසීන් ගැන කලකිරී සිටියේ ය. 1783 දී යුරෝපයේ යුද්ධ සමාදානයක් නිසා තිරිකුණාමලේ කොටුව ආපසු ඕලන්දකාරයන්ට ම අයත්විය.

නැවතත් යුරෝපයේ ඇති වූ යුද්ධ කෝලාහල නිසා 1795 දී යළිත් ඉංග්‍රීසීන් හා ලන්දේසීන් අතරේ විරුද්ධකම් ඇති විය. මේ වර්ෂයේ දී මදුරාසියේ ඉංග්‍රීසි ආණ්ඩුකාරයා වූ හෝබර්ට් සාමි ලංකාවට යුද්ධ සේනාවක් එවා තිරිකුණාමලේ කොටුව අල්වා ගත්තේය. ඊට මාසයකට පසු ඉංග්‍රීසීහු යාපනය අල්ලා ගත්හ.

ඊළඟ මාසයේ මීගමුව ද ඉංග්‍රීසීන්ට යටත් විය. 1796 පෙබරවාරි 16 දා ඉංග්‍රීසීන් විසින් කොළඹ කොටුව යටත් කරන ලදී. මෙතෙකින් ලක්දිව ඕලන්ද බලය අවසන් විය.

ලංකාවේ ලන්දේසීන්ට අයත්ව පැවැති සියලු ම මුහුදුබඩ පළාත් 1796 පටන් ඉංග්‍රීසීහු පාලනය කරන්නට පටන් ගත්හ. ඔවුහු ද ඊට කලින් ආණ්ඩු කළ පෘතුගීසීන් හා ලන්දේසීන් මෙන් ම බුද්ධාගම හා සිංහල ශිෂ්ටාචාරය දුර්වල කිරීමටත් ක්‍රිස්තියානිය හා බටහිර ශිෂ්ටාචාරය පැතිරවීමටත් සිංහල රාජ්‍යය ගැන රටවැසියන් තුළ කලකිරීමක් ඇති කිරීමටත් ඉංග්‍රීසි ආණ්ඩුව මෙරට තහවුරු කිරීමටත් නොඑක් උපාය යෙදූහ. සිංහලයන් අතර ම නොඑක් වාද භේද ඇති කොට ඒ මගින් මුළු දිවයින යටත් කරගන්නට ඔවුහු මාන බැලූහ. සිංහලයන් හා ඉංග්‍රීසීන් අතර නොඑක් විට සතුරුකම් ඇති විය. 1803 දී ඉංග්‍රීසීහු සිංහල රජුට විරුද්ධව යුද්ධයක් ප්‍රකාශ කළෝය. මෙතැන් පටන් ඔවුහු සිංහල රාජ්‍යය යටත් කිරීමට ඔවුන්ගේ මුළු ශක්තිය යෙදූහ.

සිංහල ජාතියේත් ලංකා බුද්ධ ශාසනයේත් නිදහස 1815 මාර්තු 2 වැනි දා මහනුවර දී ඉංග්‍රීසීන්ට යටත් විය. අපේ ඉතිහාසයේ අතිශයින් ම ශෝකජනක වූ මේ දුක්මුසු අන්තිම මොහොතේ දී පවා ප්‍රෞඪ සිංහල වර්ගයාගේත් නිර්මල බුද්ධශාසනයේත් ගෞරවය ආරක්ෂා කර ගන්නා ලද්දේ භික්ෂූන් වහන්සේ නමක් විසිනි. එදා මහනුවර මඟුල් මඩුවේ දී සිංහල ඉංග්‍රීසි දෙපක්ෂය විසින් ම ගිවිසුම අත්සන් කොට පිළිගන්නා තුරු ඉංග්‍රීසි කොඩිය මහනුවර එසවීමට නීත්‍යානුකූල බලයක් ඉංග්‍රීසීන්ට නොතිබුණේය. නිසැකව ම තව ස්වල්ප වේලාවකින් තමන්ගේ කොඩිය ඔසවන්නට ඉඩ ලැබෙන බැව් දුටු එක්තරා ඉංග්‍රීසි සොල්දාදුවෙක් ජයග්‍රහණයෙන් උද්දාමව, නීතිය කුමක් වුවත්, ගිවිසුම අත්සන් කොට නිමවන්නටත් පළමු නොඉවසිල්ලෙන් ඉංග්‍රීසි කොඩිය එසෙව්වේය. අවුරුදු දෙදහස් හාරසියයක් නිදහස්ව නිවහල්ව ජීවත් වූ ශ්‍රේෂ්ඨ සිංහල වර්ගයාටත් ඒ සිංහල වර්ගයාගේ ආගමටත් කරන ලද මේ අවමානයට විරුද්ධව නැඟී සිටීමට තරම් ආත්ම ගෞරවයක් හා ධෛර්යයක් ඇති එක ද ගිහි සිංහලයෙක් එදා ඒ මහා සභාවෙහි නොවීය.

එහෙත් සිංහල ජාතියේත් බුද්ධශාසනයේත් නිදහස පිළිබඳ අන්තිම හුස්ම හෙළන සංවේගජනක මේ අවමංගල මහ සභාවට එදා පැමිණ සිටි වාරියපොළ විනයාචාර්ය දීපංකර හුදුහුම්පොළ

රජමහා විහාරේ අනුනායක ස්ථවිරයන් වහන්සේ[1] ජාත්‍යභිමානයෙන් හා ආගමාලයෙන් උත්සුකව පිරිස පීරාගෙන ඉදිරියට අවුත්, සොල්දාදුවා ඉවත්කොට ඉංග්‍රීසි කොඩිය බිමට ඇද දමා පයින් පාගාගෙන, "ගිවිසුම අවසන් වනතුරු ඉංග්‍රීසි කොඩිය මෙහි එසවීමට අවසර නැතැ"යි අභීතස්වරයෙන් ගර්ජනා කළහ. මුන්වහන්සේගේ මේ වීරක්‍රියාව සිහිකිරීම පවා අද දක්වාත් සිංහලයන් තුළ ධෛර්යය හා නිර්භීතකමත්, ජාතිකගර්වය හා ආත්මගෞරවයත් උපදවන දිව්‍යමන්ත්‍රයකි.[2]

මේ අන්දමින් මුල පටන් අග දක්වා ම සිංහල ජාතියේ සංස්කෘතිය හා සභ්‍යත්වයත්, සාහිත්‍යය හා කලාශිල්පත්, ආරක්‍ෂාව හා අභිවෘධියත් භික්ෂූන්ගේ මූලිකත්වයෙන් ම ඇති වූ බැව් පැහැදිලිව ම පෙනෙනවා ඇත. ජාතිය හා ආගම විපතට පත් හැම අවස්ථාවක ම භික්ෂූහු ඉදිරිපත් වී ඒවා ආරක්‍ෂා කරගත්හ. උන්වහන්සේලා තුළ පැවැති මේ පරාර්ථකාමී උදාර චරිතය නිසා ම රටවැසියෝ උන්වහන්සේලාගේ වචනයට මහත් භක්තියෙන් හා ආදරයෙන් අවනත වූහ.

---

1. දැනට මහනුවර හුදුහුම්පොළ විහාරයේ සුරක්ෂිතව තිබෙන ඔප්පුවක වාරියපොළ අනුනායක හාමුදුරුවන්ගේ සම්පූර්ණ නම සඳහන් වන්නේ මෙසේය.
2. භික්ෂූහු රජුන්ටවත් අස්ථානයේ ගරු නො කොළෝය. කිසිවකුටත් භය නොවූහ. වරක් මහාවිහාරයේ කැමැත්තට පටහැණිව ක්‍රියාකිරීම නිසා දෙවන දාඨෝපතිස්ස රජුට (ක්‍රි.ව. 650-658) විරුද්ධ වූ භික්ෂූහු ඔහුට පත්තනික්කුජ්ජන කර්මය කළෝය. (මහාවංස, xlv 31). භික්ෂූන් විසින් ගිහියකුට කළ හැකි බලවත් ම නින්දාවත් දඬුවමත් මේ පත්තනික්කුජ්ජන කර්මයයි. ඒ පුද්ගලයාගෙන් සංඝයා සිවුපසය බලාපොරොත්තු නොවන බැව් එයින් ප්‍රකාශ කරනු ලැබේ.
   යම්කිසි ගිහියකුට පත්තනික්කුජ්ජන කර්මය කළ යුතු නම්, භික්ෂූන් විසින් පිණ්ඩපාතයේ යන්නාක් මෙන් පාත්‍රය උඩුකුරු කොට ගෙන ඒ ගිහියාගේ ගෙයි දොරකඩ ගොස් පාත්‍රය යටිකුරු කළ යුතු බැව් මහාවංසයෙන් (xlv 34) හෙළිවෙයි. එහෙත් චූල්ලවග්ග පාළියේ (පි. 217 පටන්) දැක්වෙන පරිදි නම්, පත්තනික්කුජ්ජන කර්මය කළයුත්තේ සංඝයා රැස්වී කර්ම වාක්‍යයක් කීමෙනි. කර්ම වාක්‍යය කියා විනයානුකුලව පත්තනික්කුජ්ජන කර්මය සිද්ධකිරීමෙන් පසු, එය ලෝකයාට ප්‍රත්‍යක්ෂව පෙනෙන පරිදි අනුරාධපුර කාලයේ දී ක්‍රියාවේ යෙදූ අයුරු මහාවංසයෙන් ප්‍රකාශවන බැව් සිතීමට ඉඩ තිබේ.
   කරුණු අටක් නිසා ගිහියකුට පත්තනික්කුජ්ජන කර්මය කළයුතු බැව් චුල්ලවග්ග පාළියේ සඳහන් වෙයි. එනම්, 1. භික්ෂූන්ට අලාභ පිණිස උත්සාහ කිරීම, 2. භික්ෂූන්ට අනර්ථ පිණිස උත්සාහ කිරීම, 3. භික්ෂූන්ගේ වාසය නැතිකිරීමට උත්සාහ කිරීම, 4. භික්ෂූන්ට ආක්‍රොශ පරිභව කිරීම, 5. භික්ෂූන් භේදකිරීම, 6. බුදුන්ට අගුණ කීම, 7. ධර්මයට අගුණ කීම, 8. සංඝයාට අගුණකීම.

# 14

# නිදහස් සටන: කැරලි කෝලාහල

ඉංග්‍රීසීන්ට යටත්ව විසීම සිංහලයෝ පිළිකුල් කළෝය. විශේෂයෙන් ම භික්ෂූහු විදේශීය අබෞද්ධ ආණ්ඩුවක් යටතෙහි ජීවත්වීම පිළිකුල් කළෝය. එහෙයින් සිය ජාතියත් ආගමත් බේරාගැනීමේ උදාර චේතනාවෙන් ඉංග්‍රීසීන්ට විරුද්ධව ජාතිහිතෛෂී සිංහලයෝ නොඑක් වර කැරලි කෝලාහල ගැසූහ. ආගමික නිදහස සඳහා හටගත් මේ කැරලි කෝලාහල සිරිත් වශයෙන් ම භික්ෂූන්ගේ මූලිකත්වයෙන් පටන්ගන්නා ලදී. විශේෂයෙන් මුළු උඩරට පැතිරගිය 1818 මහා කැරැල්ල භික්ෂූන්ගේ මූලිකත්වයෙන් ම ආරම්භ වූවකි. "භික්ෂූහු බ්‍රිතාන්‍ය පාලනයට විරුද්ධ වූහ. එහෙයින් 1818 කැරැල්ල සංවිධානය කිරීමේ දී ඔවුහු ප්‍රමුඛ ස්ථානයක් ගත්තෝය" යි ඇල්. ඒ. මිල්ස් මහතා විසින් ලියන ලද "බ්‍රිතාන්‍ය පාලනය යටතේ ලංකාව" නම් පොතේ සඳහන් වෙයි.[1]

ඉංග්‍රීසීන් ලක්දිවින් පනරපා හැරීමේ බලාපොරොත්තුවෙන් 1834 දී පටන්ගත් කැරැල්ල ද භික්ෂූන්ගේ සහයෝගයෙන් ආරම්භ වූවකි. 1843 දී චන්ද්‍රජෝති නම් ස්ථවිරයන් වහන්සේ නමකගේ ප්‍රධානත්වයෙන් තවත් කැරැල්ලක් ඇති විය.[2]

1848 දී ඉංග්‍රීසීන්ට විරුද්ධව කැරැල්ලක් නැවතත් හටගත්තේය. මේ කැරැල්ල භික්ෂූන්ගේ මූලිකත්වයෙන් පටන් ගන්නා ලද බැව් ජෝන් ඇස්. කෝල්පෙපර් විසින් 1848 දී කොළඹ මහලේකම්ට ලියන ලද ලියුමක සඳහන් වෙයි.[3] මේ කැරැල්ලේ දී දඹුලු පළාතේ

---

1. L. A. Mills; *Ceylon Under British Rule*, pp. 124-125.
2. *A History of Ceylon for Schools* by Farther S.G. Pereras, S. J. (1943) Part II, p. 112.
3. *A History of the Ceylon Police*, vol I, (Colombo) p. 180.

මූලිකයා හැටියට දඹුලු විහාරයේ විසූ ගිරාතේගම චන්ද්‍රජෝති නම් නායක ස්ථවිරයන් වහන්සේ නමක් ක්‍රියාකළ බැව් ඒ පළාතේ වැඩිහිටි ගිහිපැවිදි අයගෙන් අද දක්වාත් අසන්නට ලැබේ. දඹුලු පළාතේ තවත් භික්ෂූන් අට නමක් ද මේ කැරැල්ලේ දී සිරභාරයට ගන්නා ලදහ.[4]

කුඩාපොළ හාමුදුරුවෝ නමින් ප්‍රසිද්ධ ස්ථවිරයන් වහන්සේ නමකගෙන් එක්තරා කැරලිකාරයකු ගැන ආණ්ඩුව විසින් තොරතුරු විමසන ලදී. එහෙත් උන්වහන්සේ මේ ගැන ඔත්තු දීමට අපොහොසත් වූහ. මෙනිසා උන්වහන්සේට විරුද්ධව නඩු පවරා, වෙඩිතබා මැරීමට තීන්දු කරන ලදී. කුඩාපොළ හාමුදුරුවන්ට විරුද්ධව මෙබඳු තීන්දුවක් දීමට තබා චෝදනාවක් කිරීමටවත් සාක්ෂි නැතැයි රාජනීතිඥ එච්. සී. සෙල්බි මහතා පෙන්වා දී නඩුතීන්දුව වෙනස් කිරීමට වෛකවුන්ට් ටොරින්ටන් ආණ්ඩුකාර තැනගෙන් ඉල්ලා සිටියේය. එහෙත් ඒ කිසිදු යුක්තියක් ගැන නොසැලකූ වෛකවුන්ට් ටොරින්ටන් ආණ්ඩුකාර තැන කුඩාපොළ හාමුදුරුවන් සිවුරුපිටින් ම වෙඩි තබ්බවා මැරවීය. මෙපමණක් නොව, මේ ආණ්ඩුකාරයා ඉතා දරුණු ලෙස

4. ගිරාතේගම චන්ද්‍රජෝති ස්ථවිරයන් වහන්සේ ප්‍රධාන භික්ෂූන් නව නම පිරිත් සජ්ඣායනා කොට දෙවියන්ට පින් දී ඉංග්‍රීසීන්ට විරුද්ධව මේ කැරැල්ල ආරම්භ කළහ. ටික දවසකට පසු භික්ෂූන් වහන්සේලා ඉංග්‍රීසි ආණ්ඩුව යටතේ සේවය කළ ජා සොල්දාදුවන්ට අසුවූහ. පසුදා උදය ජා සොල්දාදුවෝ, මාංචු දමා ගෙනෙනු ලැබූ මේ භික්ෂූන් එක්තරා ස්ථානයක දී දිය පිරුණු වෙලකට බස්වා, සමීපයේ කඩයකින් කඩයප්පන් ගෙනවුත් උදය කෑම පිණිස භික්ෂූන් වහන්සේලා අතට දුන්හ. එහෙත් භික්ෂූහු ඒවා පිළිනොගෙන "අපේ සිරිත් විරිත්වලට විරුද්ධව අපි මෙහෙම කෑම කන ජාතියක් නො වෙමුය"යි කීහ. භික්ෂූන්ගේ සිරිත් විරිත් නොදත් ජා සොල්දාදුවෝ විස්තර විමසූහ. "මූණකට සෝදාගන්ට ඉඩ හැර සුදුසු පරිදි ඉඳගන්ට සලස්වා කෑම දුන්නොත් පිළිගන්නට පුළුවන. එහෙම නැතිව අපේ ජීවිතය ගියත් මේ විදියේ නොනිසි අන්දමට ආහාර ගන්නේ නැතැයි" යි උන්වහන්සේලා කීහ. "මාංචු ගලවා ඒවාට ඉඩ දුන්නොත් තමුන්නාන්සේලා පැනලා යාවි" යි සොල්දාදුවෝ කීහ. "අපි එහෙම බයේ පැනලා යන ජාතියක් නොවෙමුය"යි භික්ෂූහු පිළිතුරු දුන්හ. සොල්දාදුවෝ භික්ෂූන්ගේ මාංචු ගලවා, මුහුණ කට සෝදාගන්ට ඉඩ හැර, කඩයට කැඳවාගෙන ගොස් ඉඳගන්ට සලස්වා, උදය ආහාර නිසිපරිදි පිළියෙල කරවා දුන්හ. නඩු විසඳන තුරු මේ භික්ෂූන්ට කච්චේරියක සිරභාරයේ සිටින්නට සිදුවිය. නිකම් ම කාලය ගතකිරීම අපහසු නිසා, "පිරිත් ටිකක්වත් කියමුදැ"යි එක භික්ෂුවක් යෝජනා කළේ ය. "ඔය පිරිත කියල තමයි අපි මේ කරදරේ වැටුණේ" කියා ඒ පිරිසේ සිටි ටිකක් මුක්කන් ගතිය ඇති භික්ෂුවක් සරදමට කී බැව් අද දක්වාත් මුඛපරම්පරාගත කතාවේ පවතියි.

තවත් සියගණන් මිනිසුන් වෙඩිතබා මැරවූයේය. මොහුගේ මේ දරුණු ක්‍රියා නිසා එකල විසූ අග්‍ර විනිශ්චයකාරයා රාජකාරියෙන් අස්වන බැව් කියා තර්ජනය කෙළේය. වෛකවුන්ට් ටොරින්ටන් ආණ්ඩුකාරයා කොතරම් සැහැසි ලෙසත් අයුතු ලෙසත් ක්‍රියා කෙළේ ද කිවහොත්, ඔහු ලක්දිව විසීම අන්තරායදායක බැව් තේරුම්ගත් එංගලන්තයේ ආණ්ඩුව වැඩිකල් යන්නට මත්තෙන් ඔහු ආණ්ඩුකාරකමෙන් අස්කොට ආපසු ගෙන්වා ගත්තේය.[5]

මෙසේ පුරාණ කාලයෙහි මෙන්ම 19 වැනි ශත වර්ෂයේදීත් සිංහල ගිහිපැවිදි වීරයෝ තමන්ගේ ජාතියත් ආගමත් පරසතුරන්ගෙන් බේරා ගන්නට අන්තිම මොහොත දක්වා දිවි පුදා ක්‍රියා කළෝය. උත්සාහය සඵල වුවත් නො වුවත්, ආත්ම පරිත්‍යාගයෙන් හා පිරිසිදු ජාත්‍යාලයෙන් සිය රට ජාතිය ආගම උදෙසා සටන් කළ ඒ ගිහිපැවිදි ශ්‍රේෂ්ඨ පුරුෂයන්ගේ අමරණීය නාමයට සිංහල ජාතිය සදහට ම කෘතඥ වන්නේ ය. පූජා පවත්වන්නේය.[6]

---

5. *A History of Ceylon for Schools* by Farther S. G. Perera, S. J. (1943) Part II, p. 144 ff

6. එහෙත් යගිරල පඤ්ඤානන්ද නායක ස්ථවිරයන් වහන්සේ විසින් මහාවංසයේ තුන්වන භාගය හැටියට ලියා නම්කරන ලද පොතේ මේ ජාතික වීරයන් ගැන කියා තිබෙන්නේ කෙසේ ද? ඔවුන් "උඩඟුවූ", " මිලේච්ඡවූ", "මුළා සිහි ඇත්තාවූ", "කාලකණ්ණිවූ", "රාජතේජස නොදන්නාවූ", "දුවිචවූ", "කෲරවූ", "අකෘතඥවූ", "දුෂ්ට සිත් ඇති රාජද්‍රෝහීන්", "දූෂිත සිත් ඇති මූඪ ලාංකිකයන්", හැටියටය. (101 වැනි පරිච්ඡේදයේ 81, 88, 91, 99, 102-104 යන ගාථා සහ 103 පරිච්ඡේදයේ 37 ගාථාව බලනු)

එය මෙසේ වතුදු, අපේ ජාතික වීරයන් මරාදමා ජාතික නිදහස සඳහා හටගත් සියලු ව්‍යාපාරයන් මර්දනය කළ, බුද්ධාගමත් බෞද්ධ සංස්කෘතියත් විනාශ කොට ක්‍රිස්තියානියත් බටහිර සභ්‍යත්වයත් පැතිරවීමට නොඑක් ප්‍රයෝග කළ විල්සන් රොබට් බ්‍රවුන්රිග් ආදී ඉංග්‍රීසි කාරයන් ගැන වර්ණනා කොට තිබෙන්නේ "නුවණැති", "කරුණාකරවූ", "විචක්ෂණ වූ", (මහජනයාගේ) අභිවෘද්ධිය සලසන්නාවූ", "උතුම්වූ", "ශ්‍රේෂ්ඨවූ", "කුලවත්වූ", "කාරුණිකවූ", "ලංකාද්වීපය ප්‍රසාදකවූ", උත්තමයන් හැටියටය. (පරි. 101, ගා. 131, 132, පරි. 102 ගා. 1-2, පරි. 103, ගා. 27 බලනු)

"ලංකාද්වීපප්‍රසාදක" යනු පැරණි පොත්වල මිහිඳු මහරහතන් වහන්සේට විශේෂණ වශයෙන් යොදන ලද පදයකි. එය මෙහිදී ලංකාවට විපත්ති කළ අබෞද්ධ දරුණු ඉංග්‍රීසිකාරයන්ට ආවැඩීමට යොදා තිබේ.

# 15

# භික්ෂූන්ගේ බලය: ගිහි පැවිදි සම්බන්ධය

ලංකාව ඉංග්‍රීසීන්ට යටත් වීමෙන් පසු ජාතික නිදහස සඳහා නො එක්වර හටගත් කැරලිකෝලාහල ගැන පරීක්ෂාකර බැලීමේ දී ඉංග්‍රීසීන්ට එක්තරා වැදගත් රහසක් සොයාගත හැකිවිය. එනම්, සිංහලයන්ගේ එක්සත්කමත් සමගියත් රඳා පවත්නේ ගිහිපැවිදි සම්බන්ධය පිට බවත්, ඉංග්‍රීසි ආණ්ඩුවට විරුද්ධව ජාතික නිදහස සඳහා කැරලි ගැසීමේ මූලිකයන් භික්ෂූන් බවත්, ලංකාව නිරවුල්ව ආණ්ඩු කිරීමට නම් ගිහිපැවිදි සම්බන්ධය විනාශ කළ යුතු බවත්ය.

"මහනුවර රාජ්‍යයේ බලය මේ පළාත්වල පවතින්නේ බුද්ධාගම නිසාය" යි 1805 පෙබරවාරි 27 වැනිදා පේද්‍රික් නෝත් ආණ්ඩුකාර තැන විසින් එංගලන්තයේ කැම්ඩන් සාමිට යවන ලද ලියුමක සඳහන් වෙයි.[1] "භික්ෂූන්ගේ බලය ඉතා විශාලය. නොඑක් කරුණුවල දී එය මුදලිවරුන්ගේ බලයටත් වඩා විශාලය" යි 1807 ජනවාරි මාසයේ දී මේට්ලන්ඩ් ආණ්ඩුකාර තැන විසින් මාතර පළාතේ ඒජන්තව විසූ ඊඩන් මහතා වෙත යවන ලද ලියුමක ලියා තිබේ.[2] 19 වන ශතවර්ෂයේ දී ලක්දිව පැවති ගිහිපැවිදි සම්බන්ධයත් භික්ෂූන්ගේ බලයත් ගැන ඒ කාලයේ විහාර දේවාලයගම් කොමසාරිස්වරුන් විසින් ලියන ලද එක්තරා වාර්තාවකින් මනා අවබෝධයක් ඇති කරගත හැක.

---

1. The influence of Candy in these Settlements is founded on Buddhism
   යට කී පරිදි, මේ කාලයේ ඉංග්‍රීසිකාරයෝ මුහුදුබඩ පළාත් ආණ්ඩු කළෝය. එහෙත් ඒ පළාත්වල සිංහල මිනිස්සු ඉංග්‍රීසි ආණ්ඩුවට විරුද්ධව මහනුවර සිංහල ආණ්ඩුවට පක්ෂපාතව විසූහ. මීට ප්‍රධාන හේතුව වූයේ බුද්ධාගමයි.
2. The influence of the Priests is very great, even greater in many instances than that of the Modeliars themselves.

විහාර දේවාලගම්වල විසූ මිනිස්සු සිරිත් වශයෙන් ම භික්ෂූන්ට අවනත වූහ. ආගම අතින් පැවති සම්බන්ධය නිසා තවදුරටත් අවනත වූහ. මේ හැර භික්ෂූන් කෙරෙහි ගිහියන්ගේ ආදරය සහ ගෞරවය වැඩිවීමට තවත් කරුණු කීපයක් හේතු විය. ගමේ පන්සල ගම්දරුවන්ගේ ඉගෙනීමට තිබුණු පාසල විය. උසස් ගම්ප්‍රධානීන්ගේ දරුවෝ පවා එහි ඉගෙනීම ලැබූහ. බොහෝ විට භික්ෂූහු වෙදකම ගැන ද එක්තරා ප්‍රමාණයක දැනුමක් ඇත්තෝ වූහ. වෙදකම දත් භික්ෂූහු සිරිත් වශයෙන්ම පින් පිණිස වුවමනා අයට වෛද්‍යෝපදේශ දුන්හ. එහෙත් ගිහි වෙදුන් එසේ කෙළේ ඉතා කලාතුරකිනි. පළාතේ දියුණුව සඳහා ආරම්භ කළ ඕනෑම ව්‍යාපාරයක දී එය සඵල කරගැනීමට මුදලින් ද වෙනත් අතින් ද ආධාර දීමෙන් භික්ෂූහු මූලිකව ක්‍රියා කළෝය. තමන්ගේ විහාර දේවාලය ගම්වල වසන මිනිසුන්ට පමණක් නොව සියලු දෙනාටම භික්ෂූහු ස්වභාවයෙන්ම කරුණාවන්ත වූහ. මහජනයා අතර පැවැති උන්වහන්සේලාගේ බලය සමාජයේ දියුණුව සඳහා ප්‍රයෝජනවත් ලෙස යොදන ලදී.[3]

19 වැනි ශතවර්ෂයේ දී උඩරට පැවැති සමාජයේ භික්ෂූන්ගේ තත්ත්වය ගැන රොබට් පර්සිවල් මහතා විසින් ලියනලද පොතක හොඳ විස්තරයක් සඳහන් වෙයි.[4]

"බෞද්ධ භික්ෂූහු (Priests of Buddou) ලක්දිව අනිත් සියල්ලන්ටම වඩා උසස් කොට ගණන් ගනු ලැබෙත්. ඔවුන්ට තෙරුන්නාන්සේ (Tirinanxes) යයි කියති. ඔවුන් ඉතා උසස් තත්ත්වයකින් ගෞරව ලබන, මහනුවර රාජසභාවේ කටයුතු පිළිබඳ ප්‍රධාන කාර්ය සංවිධානය ද ඔවුන්ට ම අයත් වෙයි. ඔවුන් ගැන බලපැවැත්වීමට රජුට අයිතියක් නැත. ගෞරව පිරිනමා ඔවුන්ගේ හොඳහිත දිනාගැනීමට රජතුමා උත්සාහ කරයි. ඔවුන් විසින් ද මේ සැලකිලි ගැන නොඑක් අවස්ථාවල දී කෘතඥතාව දක්වා තිබේ. රජ්ජුරුවන්ගේ ම රටේ ඇති වන වියවුල් සංසිඳවීමෙන් ද,

* පුරාණ කාලයේ හැම පන්සලක් ම ආරාමයක් ම නොමිලේ උගන්වන නිදහස් පාඨශාලාවක් විය. අනුරාධපුර මහාවිහාරය වැනි මූලස්ථානයන් විශ්වවිද්‍යාලයන් වශයෙන් පැවති බැව් පෙනේ.

3. Coomaraswamy; *Mediaeval Sinhalese Art*, p. 45. IV උප ග්‍රන්ථය බලනු.

4. *An Account of the Island of Ceylon* by Robert Percival, London 1803, p. 201. IV උප ග්‍රන්ථය බලනු.

ලන්දේසීන්ට විරුද්ධව කළ යුද්ධවලදී රජුට ආධාරදීමට රටවැසියන් පෙළඹවීමෙන් ද ඔවුන් විසින් ඇත්ත වශයෙන් ම රජුට ආධාර කොට තිබේ.

"තෙරුන්නාන්සේලා ගැන කොතරම් ගෞරවයක් පවතී ද කිවහොත් ඔවුහු ශුද්ධ වස්තු ලෙස ගණන් ගනු ලැබෙත්. ඔවුන් රජුගේ ජීවිතය නැති කිරීමට හෝ වෙන අන්දමකින් දඬුවම් කිරීමට, ඒකාධිපති වුවත්, මහනුවර රජුට බලයක් නැත. ඔවුහු ම ඔවුන්ගේ නායකයන් තෝරා ගනිති. සියලු ම ආගමික වියවුල් සමාදාන කිරීමට මහානායක ස්ථවිරයන්ට බලය තිබේ. සංඝසභාවට සුදුසු අය රජු විසින් රදලවරුන් අතරෙන් තෝරා ගනු ලැබෙත්, එහෙයින් ආගමික ශුද්ධ ජීවිතය නැතත් ඔවුහු අධිපතිකම හා බලය ඇත්තෝය."

# 16

# බ්‍රිතාන්‍ය උපක්‍රම : ගිහිපැවිදි භේදය ඇති කිරීම

ලංකාව නිරවුල්ව ආණ්ඩුකරගෙන යෑමට නම් ගිහිපැවිදි සම්බන්ධය නැති කළ යුතු බවත්, ඒ සඳහා භික්ෂූන් සමාජයෙන් හා මහජන සේවයෙන් ඈත් කොට ඔවුන්ගේ බලය විනාශ කළ යුතු බවත් ඉංග්‍රීසීහු පැහැදිලිව ම තේරුම් ගත්හ.[1] මේ අදහස මුදුන්පත් කරගැනීමට ඔවුන් අතර රහසින් ගනුදෙනු කරගත් ලියකියමන්වලින් අද හෙළිවී තිබේ.[2]

මහජනයා අතර බලපැවැත්වූ ප්‍රධාන පන්තියේ සමහර ස්ථවිරයන් වහන්සේලාට ගරුනම්බු සහ තිලතල දීමෙන් ආණ්ඩුවට පක්ෂපාත කරගැනීමත්, ඒ මගින් ම ප්‍රධාන භික්ෂූන් වහන්සේලා අතර ම ඊර්ෂ්‍යා උපදවා ඔවුනොවුන් භේද කරවීම පමණක් නොව,

---

1. ලක්දිව භික්ෂූන්ගේ දේශපාලන බලය නැතිකිරීමට ඉංග්‍රීසීන් උත්සාහ කළාක් මෙන් ම අශෝක රජුගේ මරණයෙන් පසු පුෂ්‍යමිත්‍රගේ රාජ්‍ය කාලයේදී දඹදිව භික්ෂූන්ගේ දේශපාලන බලය මැඩලීමට බ්‍රාහ්මණයෝ උත්සාහ කළෝය.
(*Glimpses of World History* by Nehru, 3rd ed. 1945 p. 78)
2. ලක්දිව මුහුදුබඩ පළාත් ඉංග්‍රීසීන්ට යටත් වූ කාලයේ පටන් ම සිංහල ජාතියත්, බුද්ධාගමත්, බෞද්ධ සංස්කෘතියත් නැති කිරීම සඳහා ඉංග්‍රීසීන් විසින් යොදන ලද කූට ප්‍රයෝග බොහෝ ය. මේ ගැන ඒ කාලයේ ලංකාවේ නිලධාරීන් අතරත්, ලංකාණ්ඩුව සහ එංගලන්ත ආණ්ඩුව අතරත් ගනුදෙනු වූ රහස් ලියුම් මහත් රාශියකි. ලන්ඩන් නුවර බ්‍රිතාන්‍ය කෞතුකාගාරයට අයත් මහා පුස්තකාලයෙහි අද දක්වාත් සුරක්ෂිතව තිබෙන මේ ලියකියවිලි ශාස්ත්‍රීය පර්යේෂණයන්හි යෙදෙන්නවුන්ට විශේෂ අවසර පිට බැලීමට ඉඩ තිබේ. මේ ලියුම්වලින් කීපයක් පරිවර්තනය කොට මෙහි යොදා ඇත.

භික්ෂූන් ගැන ගිහි ප්‍රධානීන් අතර ඊර්ෂ්‍යා උපදවා ගිහිපැවිදි භේදයක් ඇති කිරීමත් මින් එක් මාර්ගයකි.

කරතොට සහ බෝවල යන නම්වලින් ප්‍රසිද්ධ බලසම්පන්න ස්ථවිරයන් වහන්සේලා දෙනමක් එකල මාතර වැඩවිසූහ. බෝවල ස්ථවිරයන් වහන්සේට මහජනයා අතර විශාල බලයක් තිබුණේය. උන්වහන්සේගේ බලය ඉංග්‍රීසි ආණ්ඩුවට බාධාවක්ව පැවති බැව් දැනගත් මේට්ලන්ඩ් නම් ඉංග්‍රීසි ආණ්ඩුකාර තැන විසින් කරතොට ස්ථවිරයන් වහන්සේගේ මාර්ගයෙන් බෝවල ස්ථවිරයන් වහන්සේගේ බලය බිඳ දැමීමට උත්සාහ කරන ලදී. කරතොට ස්ථවිරයන් වහන්සේට නායකකමක් පවරා ඉංග්‍රීසි ආණ්ඩුවට පක්ෂපාත කරවා ගැනීමටත්, මුදලිවරුන්ට සහ වෙනත් ගිහිපැවිදි ප්‍රභූන්ට විරුද්ධව ක්‍රියාකරවීමටත් උපක්‍රම යොදන ලදී.

1807 ජනවාරි මාසයේ දී මේට්ලන්ඩ් ආණ්ඩුකාර තැන විසින් මාතර පළාතේ ඒජන්තව විසූ ඊඩන් මහතා වෙත යවනලද ලියුමකින් ඉංග්‍රීසි ආණ්ඩුවේ මේ දක්ෂ කපටි ක්‍රියා මාර්ගය හොඳ හැටි පැහැදිලි වෙයි. ඒ දීර්ඝ ලියුමෙන් මෙහිදී ප්‍රයෝජනවත් කොටස් පමණක් උපුටා පහත දක්වනු ලැබේ.[3]

"…..මේ හැර ඔබ අතේ තවත් යන්ත්‍රයක් (engine) තිබේ. එහෙත් එය ඉතා ප්‍රවේසමිනුත්, ප්‍රඥා සහගතවත්, ඒ සියල්ලට ම වඩා රහසිනුත් පාවිච්චි කළ යුත්තකි."

"එය නම් මාතර පළාතේ සිංහල මිනිසුන්ගේ ආගම සහ අවිචාර විශ්වාසයයි. මේ පිළිබඳව ප්‍රමාණවත් විස්තරයක් කිරීම අවශ්‍යය."

"ඔබගේ පළාතේ භික්ෂූන් පිළිබඳව හෝ ඔවුන්ගේ ඉඩකඩම් හා ආගම චාරිත්‍රවිධි පිළිබඳව හෝ හටගන්නා සියලු ම නඩු විසඳීම පිණිස බෞද්ධ භික්ෂූන්ගේ කොමිටියක් (A Committee of Budhoo Priests) පත්කිරීමට මගේ අදහස තිබේ. මේ අන්දමේ කොමිටියක් පත්කිරීමේ පරමාර්ථය නම්, පළමුකොට ම, මිනිසුන්ගේ ආගමික විශ්වාසයන්ට හා චාරිත්‍රවලට මහත් ගෞරවයක් හා සැලකිල්ලක් දක්වන බැව් ඔවුන්ට අවබෝධ කරවීමයි: දෙවනුව, අපේ ආණ්ඩුව සහ භික්ෂූන් අතර මිත්‍රත්වයක් ඇතිකොට, ඊළඟට රටවැසියන් අතර ආණ්ඩුවේ බලය තහවුරු කිරීමට භික්ෂූන් තුළ උනන්දුවක්

3. IV උප ග්‍රන්ථය බලනු.

ඇති කිරීමයි. අප විසින් හරිහැටි කරුණු වටහා නොගැනීම නිසා, මුදලිවරුන් සහ ප්‍රධාන භික්ෂූන් අතර මේ තාක් පවතින්නට ඉඩ හැර තිබෙන බලසම්පන්න අන්‍යෝන්‍ය සම්බන්ධය ඒ මගින් කඩා දැමීමයි. මුදලිවරුන් සහ ප්‍රධාන භික්ෂූන් අතර පවත්නා මේ සම්බන්ධය බ්‍රිතාන්‍ය අපේක්ෂාවන්ට මහත් බාධාවක් මෙන් ම මහනුවර රජුට ලොකු වාසියකි.[4]*

"මා සිත්හි පවත්නා මේ අදහස ක්‍රියාවේ යෙදවීමට ඔබට හැකිවන පිණිස, භික්ෂූන්ගේ සංස්ථාවන් පිළිබඳවත්, ඔවුනතර ප්‍රධානීන්ගේ චරිත පිළිබඳවත්, ඔවුන් සහ මුදලිවරුන් අතර පවත්නා කුමන්ත්‍රණයන් පිළිබඳවත්, මේවාට ප්‍රතිකර්ම පිණිස ඔබ විසින් කළ යුතු දේ පිළිබඳවත්, සුළු විස්තරයක් කරන්නෙමි.......

"භික්ෂූන්ගේ බලය ඉතා විශාලය, නොඑක් කරුණුවලදී එය මුදලිවරුන්ගේ බලයටත් වඩා විශාලය. ප්‍රතිසංස්කෘත ආගමට (Reformed Religion)[5] අයත් නොවන කිසි ම ස්වදේශියකු විසින් මුදලිකමක් නොදැරිය යුතු යයි ඕලන්දක්කාරයන් විසින් පනවන ලද රෙකුලාසියකට අනුව මුදලිවරුන් ක්‍රිස්තියානීන් හැටියට පෙනී සිටිතත්, ඒ සියල්ලෝ ම බුදුන් අදහන්නෝය (Worshippers of Budhoo). ක්‍රිස්තියානිය ගැන කිසිත් සැලකිල්ලක් නැත......

"මූකිරිගල පන්සලේ කටයුතු කරන භික්ෂූන්ට රටේ විශාල බලයක් තිබේ. ඔය පළාතේ ඕලන්ද ආණ්ඩුවට නිතර ම එහි ප්‍රතිඵල විඳින්නට සිදුවිය. මෙය (භික්ෂූන්ගේ බලය) වනාහී මහනුවර රජ නිතර ම තමාට හිතවත්ව තබා ගැනීමට උත්සාහ කරන දේශපාලන යන්ත්‍රයකි. (Political engine). එසේ ම මෙය

---

4. නඩු විසඳීමට බලය ඇතිව භික්ෂූන්ගේ කොමිටි පත්කරන්නට අදහස් කෙළේ මොන අදහසින් දැයි මෙයින් පැහැදිලිව ම පෙනේ. අදත් දුර දිග නොපෙනෙන සමහර ගිහිපැවිදි නායකවරු ඉංග්‍රීසි ආණ්ඩුවේ සම්බන්ධයත් ආධාරයත් ඇතිව භික්ෂූන් පාලනය කිරීමට සහ භික්ෂූන්ගේ නඩු විසඳීමට කොමිටි පත්කරන්නට උත්සාහ කරති. සිංහල ජාතියත් බුද්ධශාසනයත් තවදුරටත් වහල්කොට තබාගැනීමට ඉංග්‍රීසි ආණ්ඩුවට තමන් ආධාර දෙන බැව් ඔවුහු තුමූ ම නොදනිති.

* කළු අකුරු අප විසින් යොදන ලදී.

5. ක්‍රිස්තියානි ආගමට අයත් නිකායකි. මේ ආගමට අයත් නොවන කිසි ම ස්වදේශිකයකුට මුදලිකමක් නොදිය යුතු යැයි ඕලන්ද ආණ්ඩු කාලයේ රෙකුලාසියක් තිබුණේය. මේ නිසා ප්‍රධාන පංතියේ බොහෝ බෞද්ධයෝ නිලතල ලබාගැනීමේ ආශාවෙන් ක්‍රිස්තියානිය වැලඳ ගත්හ.

හොඳින් කටයුතු කොට අපේ වාසියට හරවා ගත යුත්තකි.[6] එනිසා ඒ පන්සලේ භික්ෂූන්ගේ විශ්වාසයත් මිත්‍රත්වයත් දිනා ගැනීමට ඔබට පුළුවන් සියල්ල ම කළ යුතුයි.

"මෙය කිරීමට තිබෙන ඉතාම හොඳ පිළිවෙළ නම්, ඒ ස්ථානයට ඔබ ම ගොස්, භික්ෂූන්ට ඔවුන්ගේ ආගමික කටයුතු කරගෙන යෑමට ඉඩ හැරීම පමණක් නොව ඊට ආධාර කිරීමටත්, ඉගෙනීමෙන් සහ හැසිරීමෙන් උසස් තත්ත්වයකට පැමිණ සිටින සියලු ම භික්ෂූන්ට ඔවුන්ගේ අදහස්වලට අතිශයින් ම ගැළපෙන පරිදි සුදුසු ගෞරව පිරිනැමීමටත් ආණ්ඩුව අධිෂ්ඨාන කරගෙන සිටින බැව් පැහැදිලිව ම භික්ෂූන්ට තෝරාදීමයි.[7] ඔවුන් විසින් කළ යුතු සියලු ම ඉල්ලීම් ඔබගේ මාර්ගයෙන් කෙළින්ම ආණ්ඩුවෙන් ඉල්විය යුතු බවත්, දැන් පවත්නා ආණ්ඩුව තිබෙන තුරු මහමුදලි හෝ වෙන මුදලි කෙනකු විසින් භික්ෂූන්ට කිසිත් යහපතක් හෝ අයහපතක් නො කළ හැකි බවත් පැහැදිලිව ම ඔවුන්ට අවබෝධ කරවිය යුතුයි.[8]...

"කරතොට තෙරුන්වහන්සේගේ (Caratotte Tiroon Wahansa) විශාල බලාපොරොත්තුවලින් එකක් නම් තමාගේ පළාතේ භික්ෂූන් අතර සෑහෙන පමණ බලයක් පැවැත්විය හැකි තනතුරක් ආණ්ඩුවෙන් ලබා ගැනීමයි. ගාලු මාතර දෙපළාතේ නායක තනතුර ලබාගැනීමට ඔහු ඉතා ආශාවෙන් සිටියේය. එබඳු තනතුරක් පත්කිරීමට මගේ අදහස තිබෙන බව ඔහු ඇසූ වහා ම.......

"ආණ්ඩුවට ආධාර දීමටත්, මුදලිවරුන් හා කොහෙත් ම සම්බන්ධයක් නැතිව ක්‍රියා කිරීමටත් කරතොට කැමැති බැව් ඔබට

6. භික්ෂූන්ගේ බලය ඉංග්‍රීසි ආණ්ඩුවේ ප්‍රයෝජනය සඳහා යොදා ගන්නට උත්සාහ කළ හැටි තේරුම් ගත යුතුයි.
7. ඉගෙනීමෙන් යහපත් හැසිරීමෙන් තත්ත්වයකට පැමිණි භික්ෂූන්ට ස්වභාවයෙන් ම රටේ ගෞරවයත් හා බලයක් ඇතිවෙයි. උන්වහන්සේලාට ආණ්ඩුව මගින් ගෞරව පිරිනමන්නට මෙතරම් උනන්දුවක් දැක්වූයේ, මහජනයා අතර බලයක් ඇතිව සිටි එබඳු භික්ෂූන් ඉංග්‍රීසි ආණ්ඩුවට අවනත කරගැනීම පිණිස බැව් පැහැදිලිය.
8. මෙසේ අවබෝධ කරවීමෙන් භික්ෂූන් හා මුදලිවරුන් අතර පැවති සම්බන්ධය නැතිවීමටත්, අසමගියක් ඇතිවීමටත් මාර්ගය සැලසේ.

හැගුණු වහා ම, ඔහු නායක තනතුරට පත්කිරීමට බොහෝ ඉඩ තිබෙන බැව් ඔහුට පෙන්වා දිය යුතුයි.[9]*

"එහෙත් භික්ෂූන් සමග කටයුතු කිරීමේ දී හැම අවස්ථාවක ම ඉතා ම ප්‍රවේශමෙන් සහ රහසින් ක්‍රියා කළ යුතු බැව් නැවතත් ඉතා තදින් ඔබට කියනු කැමැත්තෙමි...."

රටේ බලය ඇතිව සිටි භික්ෂූන්ට නායක තනතුරු ආදී ගරුනම්බු දීමෙන් සතුටු කරගන්නට උත්සාහ කෙළේත්, එසේම සංඝයාගේ නඩු විසඳීම් ආදියට භික්ෂූන්ගේ කොමිටියක් පත් කිරීමට අදහස් කෙළේත්, භික්ෂූන් රවටා ඔවුන් ආණ්ඩුවට අවනත කර ගැනීමටත්, ප්‍රධාන ගිහිපැවිදි දෙපක්ෂය අතර භේදයක් ඇති කිරීමටත් බැව් ඉහත සඳහන් ලියුමෙන් පැහැදිලිව ම පෙනෙනවා ඇත.

යටකී මේට්ලන්ඩ් ආණ්ඩුකාර තැන විසින් ම 1806 සැප්තැම්බර් 20 වැනි දා එංගලන්තයේ විලියම් වින්ඩ්හැම් මහතා වෙත යවන ලද ලියුමකින් භික්ෂූන් ඉංග්‍රීසි ආණ්ඩුවට අවනත කරගැනීම පිණිසත්, සිංහල රාජ්‍යය ගැන භික්ෂූන් තුළ ඇල්ම විනාශ කර දැමීම පිණිසත් එක්තරා ව්‍යවස්ථාවක් පනවන්නට බලාපොරොත්තු වන බැව් දැක්වෙයි. එහි මෙසේ සඳහන් වෙයි:

> ...දැන් මම ව්‍යවස්ථාවක් පැනවීමට උත්සාහ කරමි. දැනට එය බෞද්ධ භික්ෂූන් (Budhoo Priests) වෙත යවා තිබේ. ඔවුහු එය තදින් ම අනුමත කරති. තව කලක් යන තුරු මහනුවර රජු භික්ෂූන්ට තනතුරු පැවරීම කරගෙන ගියත්, මේ ව්‍යවස්ථාව මගින් අන්තිමේ දී මහනුවර රජුට වඩා බලයක් අපට ලැබෙනවා ඇත....."[10]

---

9. නායක ඇම දෙන්නට අදහස් කෙළේ කුමටදැයි දැන් හොඳට ම පැහැදිලිය. ඉංග්‍රීසි ආණ්ඩුවෙන් නයිට්කම් ආදි නම්බුනාම දෙන්නේත් මේ අදහසින් බැව් කවුරුත් දනිති.

* කළු අකුරු අප විසින් යොදන ලදී.

10. ........."And now I am endeavouring to frame a Regulation which I have submitted to the Budhoo Priests, and which they highly approve of ; that will ultimately give us a preponderance over the King of Candy....."
මුහුදුබඩ පළාත්වල ඉංග්‍රීසි ආණ්ඩුව පවතිද්දී ම, භික්ෂූන්ට තනතුරු දීම ආදිය මහනුවර විහාර දෙකිනුත්, උඩරට සිංහල ආණ්ඩුව මගිනුත් කරන ලදී. මේ සම්බන්ධය කඩාදැමීම ඉංග්‍රීසීන්ගේ බලාපොරොත්තුව විය.

මේ ව්‍යවස්ථාව පනවන්නට අදහස් කෙළේ බුද්ධාගමට හෝ සිංහල ජාතියට ඇති ආදරයක් සැලකිල්ලක් නිසා නොවන බවත්, සිංහල ආණ්ඩුවට භික්ෂූන් තුළ පැවැති පක්ෂපාතකම නැතිකොට, එකල මුහුදුබඩ පළාත්වල පැවැති ඉංග්‍රීසි ආණ්ඩුවට අවනත කරවා ගැන්මට බවත් මේ කීමෙන් හොඳහැටි පෙනෙනවා ඇත.

ලක්දිව ඉංග්‍රීසී ආණ්ඩුව පැවැත්වීමට භික්ෂූන්ගේ සහයෝගය ඉතා ම අවශ්‍යව තිබුණු බැවින්, උන්වහන්සේලාගේ ප්‍රසාදය දිනා ගැනීමට ඉංග්‍රීසීහු නොඑක් උපක්‍රම කළෝ ය. භික්ෂූන්ගේ ප්‍රසාදය දිනා ගැනීම ලොකු ජයග්‍රහණයක් ලෙස ඔවුහු සැලකූහ. මහනුවර ගිවිසුම අත්සන් කොට මාසයකට පසු, 1815 අප්‍රේල් 1 වැනිදා බ්‍රවුන්රිග් ආණ්ඩුකාර තැන විසින් එකල එංගලන්තයේ විදේශභාර මහලේකම් තැන්පත් බැතර්ස්ට්සාමි වෙත යවන ලද ලියුමක මෙසේ සඳහන් වෙයිඃ

> "මාර්තු මාසයේ 10 වැනිදා[11] පැවැත්වූ රැස්වීමේ වාර්තාවෙන් පෙනෙන පරිදි, මහනුවර මහාවිහාර දෙකේ සංඝයා රජමාලිගාවේ පිළිගැනීම් ශාලාවට එදා (10 වැනිදා) පැමිණීම ඉතා වැදගත් සිද්ධියකිඃ එසේම එය ගිවිසුමේ සතුටුදායක බවට සමීප සම්බන්ධකම් ඇති සිද්ධියකි. මේ කොටසේ විස්තර ගැන යම්තම් නමුත් සිත් යොමු කළොත්, අප විසින් සංඝයා සතුටු කිරීම පිට කොතරම් දෙයක් රඳා පවතී දැයි හෙළිවෙනවා ඇත. සංඝයාගේ අවිචාර විශ්වාසවලට දක්වන හැම සැලකිල්ලක් ම මහජනයාගේ හා ජනප්‍රධානීන්ගේ විශ්වාසය දෙසට තබන නියම පියවරකි."[12]

මෙතරම් උත්සාහ කොටත් භික්ෂූන් ඉංග්‍රීසී ආණ්ඩුවට අවනත කරවා ගැනීම අපහසු විය. "විදේශීය අබෞද්ධ ආණ්ඩුවක් වූ ඉංග්‍රීසි පාලනයට විරුද්ධව උන්වහන්සේලා ඉඩ ලැබුණු හැමවිට ම ක්‍රියාකළෝය. ඉංග්‍රීසි ආණ්ඩුව කෙරෙහි කිසිත් ඇල්මක් නොදැක්වූහ.

11. ගිවිසුමෙන් දවස් 8 කට පසු.

12. The attendance of the Priests of the two great Temples of Kandy at the Hall of Audiences in the Palace on the 10th of March as stated in the Bulletin of the Proceedings of that day was an event of much interrest and closely connected with the satisfactory issue of the Negotiations. A very slight attention to the particulars of this part of the Conference will discover how much depended on our being able to satisfy the Priesthood, and that every concession to their prejudices was a material step towards the confidence of the Chiefs and People."

එනිසා මහනුවර විහාර දෙකින් නායකකම් ලබන මහාස්ථවිරවරුන් ඉංග්‍රීසි ආණ්ඩුවට පක්ෂපාතව සිටීමේ පොරොන්දුවකට සන්හස්පත්‍ර මාර්ගයෙන් බන්දවා ගැනීමට පිළියෙල කරන ලදී. මෙය ඉතා හොඳින් තේරුම් ගතයුතු සිද්ධියකි.

එක්තරා කැරලිකාරයකු ගැන ආණ්ඩුවට ඔත්තු නො කීම නිසා වෙකවුන්ට් ටොරින්ටන් ආණ්ඩුකාර තැන විසින් කුඩාපොළ හාමුදුරුවන් සිවුරු පිටින් ම අයුතු ලෙස වෙඩි තබ්බවා මරන ලද බැව් කියවන්නාට මතක ඇත. මේ ආණ්ඩුකාරයා භික්ෂූන් මර්දනය කිරීමටත් බුද්ධාගම නැති කිරීමටත් ඉතා දරුණු ලෙස ක්‍රියා කළ කෙනෙකි. භික්ෂූන් ආණ්ඩුවට "සුපක්ෂව සුවචව" තබාගැනීමත්, ආණ්ඩුවට විරුද්ධව ක්‍රියා කරන්නවුන් ගැන භික්ෂූන්ගේ මාර්ගයෙන් ඔත්තු අසාගැනීමත් ඉංග්‍රීසීන්ට ඉතා ම අවශ්‍ය විය. එනිසා මල්වතු අස්ගිරි විහාර දෙකෙන් නායකකම් ලබන ස්ථවිරවරුන් ආණ්ඩුවට "සුපක්ෂව, සුවචව" සිටින හැටියටත්, ඉංග්‍රීසි ආණ්ඩුවට විරුද්ධව ක්‍රියා කරන්නවුන් ගැන ආණ්ඩුවට ඔත්තු දෙන හැටියටත් පොරොන්දුවකට බන්දවා ගැනීම, භික්ෂූන් ආණ්ඩුවට අවනත කරගැනීමට ඉතා හොඳ මාර්ගය බැව් වෙකවුන්ට් ටොරින්ටන් ආණ්ඩුකාරයාට පෙනී ගියේය. එහෙයින් එම ආණ්ඩුකාරයාගෙන් ලැබී තිබෙන බලය කරණකොට ගෙන නායකකම පවරන බවත්, ඒ නායකකම ලබන ස්ථවිරයන් ආණ්ඩුවට සුපක්ෂව සුවචව වෙසෙමින් ආණ්ඩුවට විරුද්ධව කරන කියන රාජද්‍රෝහිකම් ගැන සොයා බලා ආණ්ඩුවට දැන්විය යුතු බවත් සඳහන් සන්හස් පත්‍රයක් මගින් නායකකම පැවරීමට පිළියෙල කරන ලදී. මහනුවර මල්වතු විහාරයේ නායකකම් පවරන ඔප්පුව යයි නම් කරන ලද සන්නස් පත්‍රයෙන් ම වාක්‍යයන් උපුටා දැක්වීම මේ කාරණය තවත් පැහැදිලිව තේරුම් ගැනීමට උපකාර වෙනවා ඇත. එහි මෙසේ සඳහන් වෙයි.

> ".....ක්‍රිස්තු වර්ෂයෙන් එක්දාස් අටසිය හතළිස් හතක් (1847) වූ ජූලි මස විසිදෙවෙනි (22) දින දී බුද්ධාගමේ පුරාණ පටන් පැවත ගෙන ආවා වූ සෑම බලපුළුවන්කම් ම ස්ථිරව පවත්වා ගැනීමට ආණ්ඩුවෙන් කිසි ම තහනමක් නැතැයි කියා ආණ්ඩුවට බැඳී තිබුණ ආගම සම්බන්ධ බලය නොහොත් මේ වෙනුවට තිබුණ මැදහත්කම මෙම සෙංකඩගල මහනුවර

රජවාසලදී නෛකශ්‍රීන් විරාජමාන වෛකවුන්ට් ටොරින්ටන් ගරුතර ලංකාණ්ඩුකාර තුමාණන් විසින් අපට භාර දෙන ලදින් එම බලය කරණ කොට ගෙන[13]...."

මේ වාක්‍යයෙන් හොඳට ම පැහැදිලි වන්නේ මහනුවර නායකකම් පැවරීම බුද්ධාගමට අනුව හෝ සංඝ සභාවේ බලයෙන් නොව, කුඩාපොළ හාමුදුරුවන් සිවුරුපිටින් ම වෙඩිතබ්බවා මැරවූ අබෞද්ධ වෛකවුන්ට් ටොරින්ටන් ආණ්ඩුකාරයා විසින් දෙන ලද බලය කරණ කොටගෙන සිදුකරන බවයි.

අලුතෙන් නායකකම ලබාගත් ස්ථවිරයන්ට මහානායක ස්ථවිරයන් වහන්සේගෙන් ලැබෙන අවවාදය ද මේ ඔප්පුවේ ම සඳහන් වෙයි. එය පටන්ගන්නේ මෙසේ ය.

"...එම නිසා මේ නායක ස්ථවිර තැන උතුම් වූ ඉංග්‍රීසි ආණ්ඩුවට සහ අප මහාසංඝ සභාවට ද සුපක්ෂව සුවචව...."

සංඝසභාවට පමණක් නොව "උතුම් වූ ඉංග්‍රීසි ආණ්ඩුවට" ද "සුපක්ෂව සුවචව" සිටිය යුතු බැව් සැලකිය යුතුයි. තවදුරටත් එහි මෙසේ සඳහන් වෙයිඃ

".....එම පළාත්වැසි අපේ විහාර පාර්ශ්වයට ඇතුළත් සංඝයා අතුරෙන් කොයියම් කෙනෙකුන් නමුත් උතුම් වූ ඉංග්‍රීසි ආණ්ඩුවට සහ අපේ ආගම චාරිත්‍රවලටත් විරුද්ධව කරණ කියන සේ අසන්නට යෙදෙන රාජද්‍රෝහීකම් ද වංචාවූ නපුරු වූ සමාගම්වීම් ද සම්පූර්ණයෙන් සොයා බලා එවැන්නක් දැනගත් විට පුළුවන් කඩිනමින් ආණ්ඩුවට සහ අපට ද නිසි ආකාර දන්වා දෙන්ටත් ඕනෑය."

මහනුවරින් නායකකම් ලබන මහා ස්ථවිරවරුන් තමන්ගේ ජාතියට විරුද්ධව ඉංග්‍රීසි ආණ්ඩුවට ඔත්තු කීමට ඔප්පුවකින් බැඳී සිටින බැව් මෙයින් හොඳ හැටි පැහැදිලි වෙනවා ඇත.

නායකකම් පවරන මේ ඔප්පුව (සන්හස් පත්‍රය) ලියන ලද්දේ 1847 දී බැව් පෙනේ. මහනුවරින් නායකකම් ලබන්නවුන්ට අදත් දෙන්නේ මේ සහතික පත්‍රය ම ය. එසේ නායකකම් ලබන්නෝ

13. මෙසේ ආණ්ඩුව බුද්ධාගමේ කටයුතුවලට සම්බන්ධ නොවී වෙන් වූයේ බුද්ධාගමට හානිකරන අදහසින් බව පසුව පෙනෙනවා ඇත.

අදත් තමන්ගේ ජාතියට විරුද්ධව "උතුම් වූ ඉංග්‍රීසි ආණ්ඩුවට" ඔත්තු දීමට මේ ඔප්පුවෙන් බැඳී සිටිති.[14]

මේ නිසා ඉංග්‍රීසි ආණ්ඩුව විසින් බෞද්ධ භික්ෂූන්ටත් බුද්ධශාසනයටත් කරන ලද නින්දාවත් අපහාසයත්, මහනුවර සංඝසභාව විසින් තමන්ටත් බුද්ධශාසනයටත් කරගන්නා ලද නින්දාවත් අපහාසයත් කොතරම් බරපතළ දැයි බොහෝ දෙනෙකුට නො වැටහෙනවා ඇත.

නීතිය ක්‍රියාවේ යෙදවීම පිළිබඳ කටයුතුවලින් ඉතා ම නින්දිත පහත් කටයුත්ත අලුගෝසුකම බැව් කවුරුත් දනිති. එසේ ම දේශපාලන කටයුතුවලින් ඉතා ම නින්දිත පහත් කටයුත්ත ඔත්තු කීමයි. ඔත්තු කියන්නා ස්වකීයයන්ගේ මෙන් ම අන්‍යයන්ගේ ද පිළිකුලට භාජන වෙයි. කුඩාපොළ හාමුදුරුවන් සිවුරුපිටින් ම වෙඩිතබ්බවා මැරවූ වෛකවුන්ට් ටොරින්ටන් ආණ්ඩුකාරයාගෙන් ලැබී තිබෙන බලය කරණකොට ගෙන පවරනු ලබන මේ නායකකම නිසා අපෙන් ගරුබුහුමන් වැඳුම් පිදුම් ලබන නායක ස්ථවිරයන් වහන්සේලා, ස්වකීය ජාතියට විරුද්ධව ඉංග්‍රීසි ආණ්ඩුවේ ඔත්තුකාරයන් වීම තරම් පහත් නිවට නින්දිත පිරිහීමක් අප අතර තවත් ඇතිවිය හැකි ද?[15]

---

14. මීට උදාහරණයක් වශයෙන් ඉතා වැදගත් සිද්ධියක් සිහිවෙයි. 1947 ජනවාරි 6 වැනි සඳුදාට ලැබූ දුරුතු පුරපසළොස්වක් දා කැලණියේ රජමහා විහාරයට රැස්වූ සංඝයා විසින් ලංකාවේ නිදහස පිළිබඳ ඓතිහාසික දේශපාලන ප්‍රකාශයක් කරන ලදී. (III උප ග්‍රන්ථය බලනු) මෙයින් ටික දිනකට පසු මහනුවර මල්වතු අස්ගිරි විහාර දෙකේ මහා නායක ස්ථවිරයන් වහන්සේලා දෙනම ලංකාණ්ඩුකාරයාට ලියුමක් යවමින්, කැලණියේ ප්‍රකාශයට තමන්ගේ කිසි ම සම්බන්ධයක් නැති බවත්, ඉංග්‍රීසි ආණ්ඩුවට තමන්ගේ පක්ෂපාතකම පෙර මෙන් ම පවත්නා බවත් ප්‍රකාශ කර සිටියාහ.
මෙසේ ම 1947 ජනවාරි මාසයේ මුල දී ආණ්ඩුකාරයා දළදා වහන්සේ බලන්නට දළදා මාළිගාවට ගිය අවස්ථාවේ දී මල්වතු අස්ගිරි විහාර දෙකේ මහානායක ස්ථවිරයන් වහන්සේලා බ්‍රිතාන්‍ය කිරීටයට තමන්ගේ ඇති පක්ෂපාතකම ප්‍රකාශ කර සිටියාහ.
පසුගියදා මල්වත්තේ මහානායක හාමුදුරුවන් අබෞද්ධ ආණ්ඩුකාරයා ඉදිරියට ගොස් මේ සහතික පත්‍රය ලබාගත් අවස්ථාවේ දී, මහ රජ්ජුරුවන්ටත් ඉංග්‍රීසි ආණ්ඩුවටත් පක්ෂපාතව සිටීම ගැන නායක හාමුදුරුවන්ට ආණ්ඩුකාරයා ස්තුති කෙළේය.

15. දේශපාලන කටයුතුවලට භික්ෂූන් සහභාගි නො විය යුතු යැයි දේශනා කරන නායක ස්ථවිරයන් වහන්සේලා, තමන් දැන හෝ නො දැන දේශපාලනයේ ඉතා ම පහත් ක්‍රියාව වූ, ඔත්තුකීමට බැඳී සිටින බැව් කල්පනා නොකරති.

අපේ භික්ෂූන් මේ කනගාටුදායක තත්ත්වයට වැටුණේ ඉංග්‍රීසි ආණ්ඩුවේ ප්‍රයෝගයන් නිසා බැව් ඉතිහාසයෙන් ඔප්පු වෙයි. සමහර විට මේ සහතික පත්‍රය ටොරින්ටන් ආණ්ඩුකාරයාගේ අදහසත් නියමයත් පරිදි ලියන ලද්දක් විය හැක.

තමන්ගේ ආගමටත් ජාතියටත් ද්‍රෝහීව විදේශීය අබෞද්ධ ආණ්ඩුවකට ඔත්තු කියන්නට අවවාද කරන දුෂ්ටවාක්‍යයන්ගෙන් දූෂිත වූ මේ ඔප්පුව හෙවත් නායකකම් පැවරීමේ සන්හස් පත්‍රය අවුරුදු සියයක් මුළුල්ලේ මහනුවර මල්වතු අස්ගිරි විහාර දෙකේ සංඝ සභා මගින් දීගෙන එනු ලැබේ. සමහර විට මෙය මේ තාක් උන්වහන්සේලා වැඩිදුර කල්පනා නොකොට, තේරුම් නොගෙන, කළ ක්‍රියාවක් විය හැක. එහෙත් දැන්වත් ඒ සන්හස් පත්‍රයේ සඳහන් වන ආගමට ජාතියට ද්‍රෝහී වූ වාක්‍යයන් ඉවත්කොට, බුද්ධශාසනයේත් සිංහල ජාතියේත් ගෞරවය රැකෙන පරිදි සකස් කළහොත්, එය ජාතික ආගමික නිදහස දෙසට තබන ඓතිහාසික පියවරක් වෙනවා ඇත. එසේ නැතහොත් උන්වහන්සේලා අනාගතයේ දී ඉතා දරුණු දෝෂාරෝපනයකට භාජන වෙනවා ඇත.

* [illegible]

presidential Election – 2015 [illegible]

[illegible]

*SWRD Bandaranaike – Somarama thero

*JR

*Premadasa

*Chadrica

# 17

# බ්‍රිතාන්‍ය උපක්‍රම : ආරාම පාලනය අවුල් කිරීම

මෙසේ ප්‍රධාන පන්තියේ ස්ථවිරයන් වහන්සේලාට ගරුනම්බු දී රවටාගෙන ආණ්ඩුවට පක්ෂපාත කර ගන්නට උත්සාහ කරන අතර ම, බෞද්ධ කටයුතු අවුල් කර දැමීමට ඉංග්‍රීසීන් විසින් තවත් ප්‍රයෝගයක් කරන ලදී. එනම්, විහාරදේවාලගම් පාලනයෙන් ආණ්ඩුව සම්පූර්ණයෙන් ඉවත් වීමයි.

පුරාණ සිංහල රජකාලයේ දී විහාරදේවාලගම් පාලනය බෞද්ධ ආණ්ඩුව විසින් ක්‍රමානුකූලව පිහිටුවන ලද විශාල දෙපාර්තමේන්තු මගින් කරන ලද බවත්, එනිසා එකල බෞද්ධ කටයුතු ඉතා හොඳින් නිරවුල්ව පැවති බවත් යට කියන ලදී.

මේ පැරණි චාරිත්‍රය පරිදි, 1815 මහනුවර ගිවිසුමේ 5 වැනි වගන්තියට අනුව, බුද්ධාගම හා විහාර පන්සල් ආරක්ෂා කිරීම ඉංග්‍රීසි ආණ්ඩුවේ යුතුකමක් විය. ඉංග්‍රීසි ආණ්ඩුව බුද්ධාගමේ කටයුතුවලට සම්බන්ධ වී සිටීම ගැන මිෂනාරිවරු තදින් ම විරුද්ධ වූහ. එසේ ම ඉංග්‍රීසි ආණ්ඩුව ඒ කටයුතුවලින් සම්පූර්ණයෙන් ඉවත් විය. ඇල්. ඒ. මිල්ස් මහතා විසින් ලියන ලද "බ්‍රිතාන්‍ය පාලනය යටතේ ලංකාව" නම් පොතේ මේ පිළිබඳව මෙසේ සඳහන් වෙයි.[1]

"ප්‍රතිමා වන්දනාව"[2] සමග බ්‍රිතාන්‍ය ආණ්ඩුව සම්බන්ධකම් පැවැත්වීම ගැන ලක්දිව මිෂනාරීන්ගේ සහ මහා බ්‍රිතාන්‍යයේ ඔවුන්ගේ බලවත් ආධාරකාරයන්ගේත් විරුද්ධත්වය නිසා, (එක්දාස්

---

1. L. A. Mills: *Ceylon Under British Rule,* pp. 126-128. IV උප ග්‍රන්ථය බලනු.
2. "ප්‍රතිමා වන්දනාව" යනුවෙන් අදහස් කරනු ලබන්නේ බුද්ධාගමයි.

අටසිය) හතලිස් ගණනේ දී බෞද්ධ ප්‍රශ්නය පිළිබඳ අභිනව අවස්ථාවක් මතු විය. ආණ්ඩුකාරයා විසින් භික්ෂූන් පත් කිරීම ගැන මිෂනාරිවරු විශේෂයෙන් ම විරුද්ධ වූහ. ආගමේත් ආණ්ඩුවේත් සම්බන්ධය සම්පූර්ණයෙන් ම නතර කරන ලෙස ඔවුහු ඉල්වා සිටියෝය. ආගම භක්තියෙන් මෙහෙයවනු ලැබූ මැකැන්සි ආණ්ඩුකාර තැන 1840 දී ප්‍රධාන විහාරස්ථානවල අධිපතීන් පත්කිරීමට සහතික පත්‍ර අත්සන් කිරීම ප්‍රතික්ෂේප කෙළේය. එසේ අත්සන් කළොත්, එය "කෙලින් ම බුද්ධාගමට ධෛර්යයක් වන බැවිනි."[3]

"ක්‍රිස්තියානි මිෂනාරීන් විසින් පහදවා ගනු ලැබූ විදේශ භාර මහලේකම් තැන්පත් ස්ටැන්ලි සාමි බුද්ධාගම හා සියලු සම්බන්ධකම් නතර කරන ලෙස 1884 නොවැම්බර් මාසයේ දී ආණ්ඩුකාරයාට නියම කෙළේය."

"1847 දී ටොරින්ටන් ආණ්ඩුකාර තැන බුදුන්ගේ දන්තධාතුව භික්ෂූන් භාරයට පවරා ඉවත්ව, දළදා මාලිගාවේ පුද පූජා වෙනුවෙන් වියදම් සඳහා ගෙවූ පවුන් 300 යේ වාර්ෂික ආධාරය ද නතරකොට, බුද්ධාගම සමග ආණ්ඩුවේ ඇති සියලුම සම්බන්ධකම් නතර කරන්නට කරගත් තීරණය වෙනස් නොකළ හැකි බැව් සංඝයාට දැන්වීය.[4]

මිෂනාරීන්ගේත් ඉංග්‍රීසි ආණ්ඩුවේත් අදහස සඵලවිය. 1840 දී මැකැන්සි ආණ්ඩුකාර තැන බුද්ධාගම සමග ආණ්ඩුවේ පැවති සම්බන්ධය නතර කළ තැන් පටන් බෞද්ධ විහාරදේවාලයගම් පාලනය අවුලෙන් අවුලට ම පත්විය. එදා පටන් විහාරගම්වල වසන මිනිස්සු විහාරයට අයිති කොටස නොගෙවා අත්හැරියෝය.

---

3. බුද්ධාගමට ධෛර්ය දීම නතර කරන ලද නමුත්, ඒ වර්ෂයේ ම ක්‍රිස්තියානිය පැතිරවීම සඳහා ලක්දිව දියෝකිසි කොමිටිය පිහිටුවන ලද බැව් සැලකිය යුතුයි.
4. ආණ්ඩුවට බැඳී තිබුණු ආගම සම්බන්ධ බලය නොහොත් මේ වෙනුවට තිබුණ මැදහත්කම මෙම සෙංකඩගල මහනුවර රජවාසල දී නෛකශ්‍රීන් විරාජමාන වෛකවුන්ට් ටොරින්ටන් ගරුතර ලංකාණ්ඩුකාරතුමාණන් විසින්... අපට.. භාර දෙනලදින් ඒ බලය කරණකොට ගෙන"යි මහනුවරින් නායකකම් පවරන ඔප්පුවේ සඳහන් වෙයි. "බලය භාරදෙන ලදැ"යි කීවේ මහනුවර ගිවිසුමේ පොරොන්දුවටත් විරුද්ධව ඉංග්‍රීසි ආණ්ඩුව බුද්ධාගමේ කටයුතුවලින් ඉවත් වී භික්ෂූන්ට ඉඩහැරීමයි. මෙසේ ඉඩදුන්නේ, බුද්ධාගමට හොඳක් කරන අදහසින් නොව, මිෂනාරීන්ගේ ඉල්ලීම පරිදි, බෞද්ධ කටයුතු අවුල් වන්නට ඉඩහැර බුද්ධාගමත් සංඝයාත් විනාශවීමට මං සලසන අදහසින් බැව් ඔවුන්ගේ ම ලියකියමන්වලින් සහ ක්‍රියාකලාපයෙන් ඔප්පුවෙයි.

නීත්‍යනුකූලව ගිහි භාරකාරයන් පත්කිරීමට හෝ අස්කිරීමට බලයක් නොතිබුණු බැවින්, ඒ ගිහි භාරකාරයෝ විහාරවලට අයිති ධනය අයුතු ලෙස වංචාවෙන් පැහැරගෙන භුක්ති විඳින්නට පටන් ගත්හ. තමන් විහාරාධිපති බව නීත්‍යනුකූලව ඔප්පු කරන තුරු භික්ෂූන් වහන්සේ නමකගේ පැමිණිල්ලක් භාර ගැනීමට උසාවිය අකැමැති විය. විහාරාධිපති බව ඔප්පු කිරීම තවත් කරදර සහිත බරපතළ කාරණයක් විය.[5] විහාරදේවාලයගම්වල ආදායම එකතු කිරීමට සහ පාලනයට නීත්‍යනුකූල ක්‍රමයක් නොවූ බැවින් බෞද්ධ කටයුතු අවුල් වියවුල් විය. එක් අතකින් ගිහි භාරකාරයෝත් විහාරගම්වල වසන මිනිස්සුත් විහාරාරාම සතු ධනය අයුතු ලෙස පැහැරගත්හ. අනික් අතින් භික්ෂූන් වහන්සේලා තමන් කැමැති පරිදි විහාර සතු ධනය නොනිසි ලෙස පාවිච්චි කරන්නට පටන්ගත්හ. එයින් නෑදෑයන් පෝෂණය කිරීමටත් සමහර විට පවුල් රැකීමටත් පටන් ගත්හ. මහනුවර ගිවිසුම කාලයේ දී භික්ෂූන්ගේ චරිතයත් ගෞරවයත් සතුටුදායක උසස් තත්ත්වයක පැවති බැව් කියා තිබේ. එහෙත් විහාරදේවාලයගම් පාලනය අවුල්වීමෙන් පසු භික්ෂූන්ගේ චරිතය කිලුටු වන්නට පටන් ගත්තේය. එසේ ම ගිහිපැවිදි දෙපක්ෂයේ සමාදානයට ද සම්බන්ධයට ද මෙයින් බරපතළ ලෙස හානි සිදුවිය. එහෙයින් ම බෞද්ධයන්ගේ බලය සහ බෞද්ධ කටයුතු ද පිරිහෙන්නට පටන්ගත්තේය.

5. 1840 දී මැකැන්සි ආණ්ඩුකාර තැන විසින් විහාරාධිපතීන් කිරීමට සහතික පත්‍ර අත්සන් කිරීම නතර කරන ලද බැව් සැලකිය යුතුයි. එතැන් පටන් විහාරාධිපතිකම් ද අවුල් විය.

# 18

# බ්‍රිතාන්‍ය උපක්‍රම: බුද්ධාගම නැති කිරීමට කුමන්ත්‍රණ: ක්‍රිස්තියානි අධ්‍යාපනය

මෙසේ ප්‍රධාන පන්තියේ ස්ථවිරයන් වහන්සේලා ආණ්ඩුවට පක්ෂපාත කරගැනීමත්, විහාර දේවාලයගම් පාලනය අවුල් කර දැමීමත් කරගෙන යන අතර ම, සිංහල ජාතියත් බුද්ධශාසනයත් නැතිකිරීමට ඉංග්‍රීසි ආණ්ඩුව තවත් ප්‍රතිපත්තියක් අනුගමනය කෙළේය.

සිංහල රාජ්‍යය පැවැති කාලයේ ලක්දිව සම්පූර්ණ අධ්‍යාපනය රාජකුමාරයාගේ පටන් ගොවිදරුවා දක්වා සියල්ලන්ගේ අධ්‍යාපනය - පන්සල් මගින් නොමිලේ කෙරුණු බවත්, එනිසා ගිහිපැවිදි දෙපක්ෂය අතර වෙන් කළ නොහැකි ස්ථිර සම්බන්ධයක් පැවැති බවත්, එහෙයින් ම රටේ, ජාතියේ, ආගමේ ආරක්ෂාවත් දියුණුවත් සැලසුණු බවත් කියවන්නාට මතක ඇත. එසේ ම හැම අවස්ථාවක ම අබෞද්ධ විදේශීය පාලනයට විරුද්ධව සිංහලයන්ට නැගී සිටිය හැකි වූයේ ද මේ බලය නිසා ම ය.

ලක්දිව බ්‍රිතාන්‍ය පාලනය නිරවුල්ව ස්ථිරව පවත්වාගෙන යැමට නම්, මූලික දේශපාලන ප්‍රතිපත්තියක් හැටියට, මේ බෞද්ධ බලය විනාශ කොට ක්‍රිස්තියානි බලය පැතිරවීම අවශ්‍ය විය. මේ රහස තේරුම්ගත් ඉංග්‍රීසි පාලකයෝ බෞද්ධ කටයුතු හැකිතාක් දුර්වල කරන අතර ම ක්‍රිස්තියානිය පැතිරවීම සඳහා ආණ්ඩුව මගින් පඩි ගෙවා යුරෝපයෙන් ක්‍රිස්තියානි පාදිලිවරුන් ගෙන්වා[1],

1. මුල්කාලයේ දී, සිවිල් නිලධාරීන්ට මෙන්, යුරෝපයෙන් ගෙන්වන ලද පාදලිවරුන්ටත් ආණ්ඩුව මගින් පඩි ගෙවන ලදී. 1825 සිවිල් ලැයිස්තුවේ

ක්‍රිස්තියානි පාසැල් විවෘත කොට, ක්‍රිස්තියානියත් සමග බටහිර සභ්‍යත්වය රටේ පතුරුවා හැර, සිංහල බෞද්ධ සභ්‍යත්වය පිළිකුල් කටයුතු පහත් දෙයක් හැටියට පෙන්වා බෞද්ධ දරුවන් ක්‍රිස්තියානියට හරවාගෙන, ඒ මගින් ගිහිපැවිදි සම්බන්ධය කඩා දමා ජාතික සමගියත් බලයත් විනාශ කිරීමට කටයුතු පිළියෙල කළෝය.

1805 පෙබරවාරි මස 27 වැනිදා ෆ්‍රෙඩ්රික් නෝර්ත් ආණ්ඩුකාර තැන විසින් එංගලන්තයේ කැම්ඩන් සාමි වෙත යවන ලද ලියුමක ලක්දිවට පැමිණි ක්‍රිස්තියානි පූජකවරුන් තිදෙනකු ගැන සඳහන් වෙයි. **මේ පාදිලිවරුන්ගේ මෙහෙය ආගමික වශයෙන් පමණක් නොව, දේශපාලන වශයෙන් ද ඉතා ම වටිනා බැව් ඒ ලියුමේ කියා තිබේ.**

1809 මාර්තු මස 11 වැනිදා මේට්ලන්ඩ් ආණ්ඩුකාර තැන විසින් එංගලන්තයේ කාස්ල්රේ සාමි වෙත යවන ලද ලියුමක මෙසේ සඳහන් වෙයි:

"නොඑක් ක්‍රිස්තියානි නිකායවලට හැම අවස්ථාවේ ම ආණ්ඩුවේ ආරක්ෂාව නිතර ම ලබා දුනිමි. අන්‍යයන්ට වූකලී ආණ්ඩුවේ අවහිරයක් නැතිව තමන්ගේ ආගම් ඇදහීමට නිකම් නමට පමණක් ආරක්ෂාව දුනිමි."[2]

බෛබලය සිංහලයට පරිවර්තනය කිරීම සඳහා ආණ්ඩුවෙන් රික්ස් ඩොලර් 2000ක් ක්‍රිස්තියානි සමාගමකට ණයට දුන් බැව් 1821 මාර්තු මස 3 වැනිදා බාර්න්ස් ආණ්ඩුකාර තැන විසින් බැතර්ස්ට් සාමි වෙත යවන ලද ලියුමක සඳහන් වෙයි. පසුව මේ මුදල ආපසු නොගෙන, පරිත්‍යාගයක් හැටියට සලකන ලද බැව් ඒ ලියුමේ ම අධෝලිපියක් කියයි.

---

පාදිලිවරුන්ට නියමිත පඩි ගණන් දක්වා තිබේ. මෙසේ ආණ්ඩුව මගින් පාදිලිවරුන්ට පඩි ගෙවන ලද්දේ ඉංග්‍රීසි ආණ්ඩුව පවත්වාගෙන යෑමට අතිශයින්ම ඔවුන් ආධාර වූ බැවිනි.

2. To the various sects of Christians I have ever extended the Protection of the Govemment on every instance. To the others I have extended merely that species of Protection which admitted of their following without the Interference of Govemment their own Faith."

බෞද්ධයන්ට දුන් ආරක්ෂාව නිකම් නමට පමණක් බැව් මෙයින් පැහැදිලි වෙයි.

1815 මාර්තු මස 2 වැනි දින මහනුවරදී අත්සන් කරනලද ඉංග්‍රීසි -සිංහල ගිවිසුමේ 5 වැනි වගන්තිය මෙසේයි:

"මෙකී රටවල්වල මුලාදෑනි සහ වැසියන් විසිනුත් අදහන්නා වූ බුද්ධශාසනය ද දෙවාලගම ද කඩකළ නොහැකිව පවත්වන්නට ඕනෑවා සහ එහි කටයුතු ද සංඝයා වහන්සේලා ද විහාරස්ථාන ද දේවාල ද පවත්වන්නට සහ ආරක්ෂා කරන්ටත් ඕනෑය."

මෙහි අදහස ඉතා පැහැදිලිය. බුද්ධාගමත්, සංඝයා වහන්සේලාත්, සිද්ධස්ථානත් ආරක්ෂා කිරීමට ඉංග්‍රීසි ආණ්ඩුව මෙයින් පොරොන්දු වෙයි. මේ පොරොන්දුවට ඉංග්‍රීසි ආණ්ඩුව වෙනුවෙන් සර් රොබට් බ්‍රවුන්රිග් ආණ්ඩුකාර තැන අත්සන් කෙළේය.

මේ වගන්තිය පිළිබඳව විදේශභාර මහලේකම් හා බ්‍රවුන්රිග් ආණ්ඩුකාර තැන ගනුදෙනු වූ ලියුම් බොහෝය. ඉහත සඳහන් පොරොන්දුවට විරුද්ධව බුද්ධාගම නැති කිරීමටත් ක්‍රිස්තියානිය පැතිරවීමටත් ඉංග්‍රීසි ආණ්ඩුව රහසින් දැරූ උත්සාහය කොතරම් විශාල දැයි ඒ ලියුම්වලින් හෙළිවෙයි. කියවන්නාගේ දැනගැනීම සඳහා එයින් කොටස් කීපයක් උපුටා මෙහි පහත දක්වනු ලැබේ.

මහනුවර ගිවිසුමෙන් 13 දිනකට පසු, එනම් 1815 මාර්තු 15 වැනිදා එම ගිවිසුමට අත්සන් තැබූ සර් රොබට් බ්‍රවුන්රිග් ආණ්ඩුකාර තැන විසින් එංගලන්තයේ විදේශභාර මහලේකම් තැන්පත් බැතර්ස්ට් සාමිවෙත එම ගිවිසුම විස්තර කිරීම් වශයෙන් යවන ලද ලියුමක මෙසේ සඳහන් වෙයි.[3]

"පස්වන වගන්තිය, මගේ කැමැත්ත පැවැති ප්‍රමාණයට වඩා, බුදුන්ගේ මිථ්‍යා විශ්වාසය[4] තහවුරු කරයි. එසේ වුවත් දැනට සියලු ම පන්තිවල වැසියන් තුළ ඒ ගැන අප්‍රමාණ ගෞරවයක් පවත්නා බැවින් ද, මතු කාලයේ එහි (බුදුන්ගේ මිථ්‍යා විශ්වාසය පිළිබඳ) ආරක්ෂාව ගැන ඔවුන් තුළ බලවත් සැකයක් හා බියක් පවත්නා බැවින් ද, ඒ ගැන කිසි ම

3. IV උපග්‍රන්ථය බලනු.
4. The Superstition of Boodhoo. බුද්ධාගම ආගමක් වශයෙන් සැලකීමට එකල ඉංග්‍රීසිකාරයෝ කැමැති නො වූහ. එය බුදුන්ගේ මිථ්‍යා විශ්වාසය හැටියට සලකන ලදී.

සැකයක් ඇති නොවන ලෙස ගිවිසුමෙහි වචන යෙදීමෙන් ඒ පිළිබඳව පැවැති සියලු නොසන්සුන්කම් සන්සිඳවීම අවශ්‍ය බැව් මට පෙනීගියේය."

විදේශභාර මහලේකම් තැන ගිවිසුමේ පස්වන වගන්තිය ගැන ආණ්ඩුකාරයාට දොස් පවරා නැවත නැවතත් ලීවේය. ආණ්ඩුකාරයා ද තමාගේ නිදහසට නොඑක් කරුණු පෙන්වා සිටියේය. 1816 ජුනි මස 1 වැනිදා බ්‍රවුන්රිග් මහතා විසින් බැතර්ස්ට් සාමි වෙත මේ පිළිබඳව යවන ලද තවත් ලියුමකින් කොටස් කීපයක් පහත දක්වනු ලැබේ.[5]

"ඔබ විසින් ගිවිසුම පිළිබඳව දන්වා එවා තිබෙන ඉතා වැදගත් කරුණු අතුරෙන් ප්‍රධාන වශයෙන් ම මා සිත් යොමු වූයේ බුදුන්ගේ මිථ්‍යා විශ්වාසය සම්බන්ධයෙන් 5 වන වගන්තියේ යොදන ලද, "කඩකළ නොහැකි" යන වචනය දුටුහැටියේ පළමුවෙන් ම ඔබ සිත පහළ වූ සැකය ගැනයි. **ක්‍රිස්තියානිය මෙරටෙහි පතුරුවන්නට යයි නැවත නැවතත් තදින් ම නියම කොට මාවෙත එවනු ලබන අණපනත්*** අන්තර්ගත ලියවිලි ගැන මා නොසලකනවාය යන හැඟීම, මාගේ ක්‍රියාවක් නිසා, ස්වල්ප වේලාවකට නමුත් ඔබ තුළ පහළ වී නම්, ඒ ගැන මම අතිශයින් ම ශෝක වෙමි.

"ශුභාරංචිය[6] මේ රටේ ව්‍යාප්ත කිරීමට මා උදාසීන නොවන බව ද, මහරජතුමන්ගේ අධිරාජ්‍යයට මවිසින් එකතු කරන ලද මෙරටට ක්‍රිස්තු ධර්මය ගෙන ඒමට බාධා වන පරිදි යමක් දැන දැන මා නොකරන බව ද මවිසින් මෙරට පාලනය කර තිබෙන අයුරින් වැටහෙනවා ඇතැයි බලාපොරොත්තු වෙමි."

"**කඩ කළ නොහැකි**" යන වචනයෙන් බුද්ධාගම විනාශ නො කළ යුතුය, ඊට අවහිර නො කළ යුතුය යන්නට වඩා යමක් මා අදහස් නො කළ බැව් මම තමුන්නාන්සේට ස්ථිරවම කියමි."

"**ක්‍රමක්‍රමයෙන් (මහජනයාට) නොදැනෙන පරිද්දෙන් ක්‍රිස්තුධර්මය මේ පළාතේ ව්‍යාප්ත කළහොත්** දැනට මේ **රටේ පැතිරී පවත්නා මිථ්‍යාදෘෂ්ටිය හා අඥානකම නමැති**

5. IV උපග්‍රන්ථය බලනු.
* කළු අකුරු අප විසින් යොදන ලදී.
6. ක්‍රිස්තු ධර්මයයි.

**අන්ධකාරය[7] වැඩිකල් යන්නට මත්තෙන් පහවී යනවා ඇතැයි සිතා ගැනීමට එතරම් දූරදර්ශී ඥානයක් නුවුවමනාය."***

"උඩරට පළාත්වල මෙය කිරීමට කාලය තවම නො පැමිණි බැව් අවංකව කියමි. **එහෙත් මෙම ප්‍රාර්ථනාව මස්තකප්‍රාප්ත වූ බැව් කවදා නමුත් අසන්නට ලැබුණොත් මා කොතරම් දුර බැහැරක සිටියත් එය මේ ජීවිතයේ දී මට ලැබිය හැකි ඉතා ම විශාල ප්‍රීතිය බැව් සඳහන් කරමි."***

මේ හැර බ්‍රවුන්රිග් ආණ්ඩුකාර තැන විසින් බුද්ධාගම නැති කිරීමටත් ක්‍රිස්තියානිය පැතිරවීමටත් කරන ලද කටයුතු රාශියක් ඒ මහතා විසින් ම 1816 ජූනි මස 13 දින එංගලන්තයේ විලියම් විල්බර්ෆෝස් මහත්මයා වෙත යවන ලද ලියුමක විස්තර සහිතව සඳහන් වෙයි. ගිවිසුමේ 5 වන වගන්තිය ද මේ ලියුමේ සාකච්ඡාවට භාජන වී තිබේ. එයින් අවශ්‍ය කොටස් කීපයක් පහත දැක්වෙයි.[8]

"ප්‍රිය මහතාණෙනි, උඩරට පළාත් බ්‍රිතාන්‍ය අධිරාජ්‍යයට එකතු කිරීම් සඳහා පිළියෙල කරන ලද ගිවිසුමේ වගන්තියක් ගැන ඔබවිසින් මාගේ මිත්‍ර සර් හෙන්රි කැල්වර්ට් මහතාට යවන ලද ලියුමක් ඒ මහතාගෙන් ඉතා ළඟ දී මට ලැබුණේය.

"ඔබ විසින් විස්තර කර තිබෙන පරිදි එම ගිවිසුමට ඉතා බලවත් වැරදි තේරුමක් දී තිබෙන බැව් ද, මෙම දිවයින පාලනය කිරීමේ දී මවිසින් අනුගමනය කරන ලද ප්‍රතිපත්තිවලට ඉඳුරාම විරුද්ධ හැඟීමක් ගිවිසුමේ සඳහන්වූ එක ම වචනයක් හේතු කොට ගෙන ඇති වී තිබෙන බැව් ද ඇසීමෙන් මා තුළ හටගත් වේදනාව සහ දුක මට සඟවා ගත නොහැක.

..............................................

"අනිත් සියල්ලට ම වඩා මගේ විස්මයට කාරණය නම් "කඩකළ නොහැකි" යන වචනය ක්‍රිස්තියානි ආගමට විරුද්ධ වන පරිදි මෙහි දී යොදා තිබේ යයි සඳහන් වීමයි.

"සත්තකින් ම මේ වචනය තදය. එහෙත් බුද්ධ වන්දනාවට විපතක් නොකරන බවත් ඔවුන්ගේ ආගමික දේපළ සම්පූර්ණයෙන් රැකදෙන බවත් මිස, ඊට වැඩි යමක්

7. මෙයින් අදහස් කරනු ලබන්නේ බුද්ධාගමයි.
8. iv උපග්‍රන්ථය බලනු.
* කළු අකුරු අප විසින් යොදන ලදී.

මවිසින් එම වචනයෙන් අදහස් නොකරන ලදී. එසේ වුවත් එම වචනය නිසා කොතනක දී නමුත් වැරදි හැඟීමක් ඇති වී නම් ඒ වචනය යෙදීම ගැන මම අවංකව ම කනගාටු වෙමි.

"දැනට මා මෙහි පැමිණ අවුරුදු හතරකට වැඩිය. මේ කාලය තුළ මගේ ආණ්ඩුවේ ප්‍රධාන අදහස වූයේ **මිනිසුන්ගේ ආගමික හා සුචරිත දියුණුවත්[9] ක්‍රිස්තුධර්මය රටේ පැතිරවීමත් බැව් නිර්භයව කියනු කැමැත්තෙමි.***

.........................................

"මාගේ ආණ්ඩුව යටතෙහි වැස්ලියන්, ප්‍රේස්බිටීරියන් සහ බැප්ටිස්ට් යන කොටස්වලට අයත් දේවගැතිවරුන් එංගලන්ත සභාවේ නියම දේවගැතිවරුන් සමග එකතුවී අප ගැලවුම්කාරයාණන් වහන්සේගේ ශුභාරංචිය දේශනා කරනු දැක්ම මාගේ විශේෂ සන්තුෂ්ටියට කාරණයකි. අපගේ ශුද්ධවූ ආගම පැතිරවීමට අලුත් බිමක්, ලැබුණු විට, ක්‍රිස්තියානියට ඇතුළුවන්නට ඉඩ නොතබා එහි දොර මා වසනවා ඇතැයි සිතිය හැකි ද?.......

"ප්‍රිය මහතාණෙනි, එබඳු පුදුම ගිවිසුමකට මම කවදාවත් නො බැඳුණෙමි. මහනුවර ගිවිසුමේ මොන ම වගන්තියක්වත් ඊට බැඳුණු දෙපක්ෂයේ කිසිවකු විසිනුත් එසේ තේරුම් ගෙන නැත. 'Inviolable' යන වචනය, කඩකළ නොහැකි කියා සිංහලට පරිවර්තනය කොට තිබේ. මහනුවර වැස්සෝ එය එසේ පැහැදිලිව තේරුම් ගත්හ. ඔවුන්ගේ ආගම කඩා නො දැමීමට, එනම් විනාශ කර නොදැමීමට මා පොරොන්දු වූ බැව් ඔවුහු පිළිගත්හ.

"**ඉංග්‍රීසි ඉගැන්වීමට පාඨශාලාවක් මහනුවර විවෘත කිරීමට මා අදහස පවත්නා බැව් දැනට ම මවිසින් මහනුවර වැසියන්ට දන්වා තිබේ. ඔවුහු ඊට සම්පූර්ණ කැමැත්ත ප්‍රකාශ කර සිටිති. ක්‍රිස්තුධර්මය පැතිරවීමට දැන් තිබෙන ඉතා ම විශ්වාස මාර්ගය ස්වදේශීය තරුණයන්ට ඉගැන්වීම බැව් ඉන්දියාවේ තීක්ෂණ බුද්ධිමත් මිෂනාරිවරු කල්පනා කරති***

"මහනුවර පළාත්වලට යැමට යෝජනාවක් කිසි ම මිෂනාරී කෙනෙකුගෙන් තව ම මට අසන්නට ලැබී නැත.

---

9. ක්‍රිස්තියානි ආගම හා ඊට අනුව සුචරිතයත් මෙයින් අදහස් කරනු ලැබේ.
* කළු අකුරු අප විසින් යොදන ලදී.

ඇත්ත කියතොත්, මහනුවර පළාත තරම් මිෂනාරී ව්‍යාපාරයක් සාර්ථක නොවේ යයි සිතිය හැකි වෙන ස්ථානයක් දැනට මුළු ඉන්දියාවේ ම නොමැතියි.

අප රටවැසියන්[10] හා මහනුවර වැස්සන් අතර දැනට පවත්නා හොඳ සම්බන්ධකම නිසා, දීර්ඝ කාලයක් මුළුල්ලේ ම්ලේච්ඡ අඥානකමට ගොදුරුව පැවැති ඒ රටේ[11] **ආගමත් සුචරිතයක් දියුණුකිරීමට[12] වැඩිකල් යන්නට මත්තෙන් මාර්ගය සැලසෙනවා ඇතැයි බලාපොරොත්තු විය හැක.*** එහෙත් අපේ මිත්‍රත්වය ආරම්භ වීගෙන එන මේ අවස්ථාවේ හදිසියෙන් හෝ දුරදිග නොබලා හෝ යමක් කළොත් එයින් බලවත් පාඩු ඇතිවීමටත්, **රටවැසියන් ක්‍රිස්තියානියට හරවා ගැනීමේ ශ්‍රේෂ්ඨ ව්‍යාපාරයට*** බාධා පැමිණීමටත් ඉඩ තිබේ."

..................................

"මුල දී මගේ කටයුතු ප්‍රමාදවන්නාක් මෙන් පෙනුණත් ළඟදී මහා බ්‍රිතාන්‍යයට යටත් වූ වැසියන් අතර ක්‍රිස්තියානි ආගමේ ආශිර්වාදය පතුරුවා හරින්නට මගේ අවංක ආශාවේ කිසි ම අඩුකමක් නැති බැව් විශ්වාස කරන මෙන් ඔබගෙන් ඉල්ලා සිටිමි."

"ශුභාරංචිය පැතිරවීමට මා තුළ පවත්නා උනන්දුවේ අඩුවක් නැත. එහෙත් දැනට මෙහි පවත්නා විශේෂ තත්ත්වය නිසා, යම් කිසිවකට අඩිය තබන්නට ප්‍රථම ඒ ගැන බොහෝ දුර කල්පනා කර බැලීමට සිදුවී තිබේ. දැනට මහනුවර වැසියන්ගේ සාමාන්‍ය තත්ත්වය මිෂනාරි ව්‍යාපාරයකට හොඳ නැතත්, ඔවුන් අතර පවත්නා එක්තරා මිථ්‍යා විශ්වාසයක් නිසා බලාපොරොත්තු තබා ගත හැකි බැව් පෙනේ. **සිංහල රාජ්‍යයේ නිදහසත් බුද්ධාගමේ දියුණුවත් අතර සමීප සම්බන්ධයක් පවත්නේ යයි බහුලව ව්‍යාප්ත වූ විශ්වාසයක් තිබේ. විදේශියයන්ගෙන් සිදුවන විපත්වලින් සිංහල රාජ්‍යය රැකදීමෙහි බුදුන් යෙදී සිටිතැයි ඔවුහු විශ්වාස කරති. එහෙත් දැන් ඔවුහු යුරෝපීය රජෙකුට යටත්ව සිටිති. දැන් එම පොරොන්දුව කැඩුණේය. එහෙයින් බුදුන් කෙරෙහි පවත්නා විශ්වාසය ද අවසන් වෙයි.***

10. ඉංග්‍රීසීන්.
11. මෙයින් අදහස් කරන ලද්දේ මහනුවර පළාතයි.
12. ක්‍රිස්තියානි ආගමත් එම සුචරිතයත් අදහස් කරන ලදී.
* කළු අකුරු අප විසින් යොදන ලදී.

"මා ප්‍රිය මහතාණෙනි, බ්‍රිතාන්‍ය ආණ්ඩුව සහ මහනුවර වැසියන් අතර විශ්වාසය තහවුරු කරගෙන, දැනට වඩා හොඳ අධ්‍යාපන ක්‍රමයක් ඇතිකොට, සාර්ථක ලෙස ක්‍රිස්තියානිය පැතිරවීමෙන් පසු, බුද්ධාගම නමැති මිථ්‍යා විශ්වාසයේ ද ඊටත් වඩා වනචර පහත් යක්ෂ ප්‍රතිමා වන්දනාවේ ද පරිහානි කාලය මම සැබවින් ම ඉතා ආශාවෙන් බලාපොරොත්තු වෙමි.[13*]

බුද්ධාගම හා බෞද්ධ සංස්කෘතිය විනාශකර දැමීමටත්, ක්‍රිස්තියානිය හා බටහිර සභ්‍යත්වය පැතිරවීමටත් ඉංග්‍රීසි ආණ්ඩුව කොතරම් උත්සාහ කළාදැයි ඉහත සඳහන් කරුණුවලින් පෙනෙනවා ඇත. බුද්ධාගම ආරක්ෂා කිරීමට මහනුවර ගිවිසුමේ 5 වැනි වගන්තියෙන් වූ පොරොන්දුව රැවටිල්ලක් බව මේ කියවන්නාට දැන් වැටහෙනවා ඇත.

---

13. යට දැක්වූ ලියුම්වලින් පෙනෙන පරිදි බුද්ධාගම නැතිකිරීමට ක්‍රියාකළ සර්. රොබර්ට් බ්‍රවුන්රිග් ආණ්ඩුකාරයා ගැන යගිරල පඤ්ඤානන්ද නායක ස්ථවිරයන් වහන්සේගේ "මහාවංශයේ" මෙසේ සඳහන් වෙයි.
"දේශපාලන ධර්මයෙහි සමර්ථවූ, කරුණාකරවූ, විචක්ෂණ වූ (මහජනයාගේ) අභිවෘද්ධිය සලසන්නා වූ සර් රොබට් බ්‍රවුන්රිග් නම් වූ මේ ආණ්ඩුකාර තෙමේ මනරම් වූ ලක්දිව වෙසෙමින් අන්‍යදෘෂ්ටික වූයේ නමුදු බෞද්ධයකු මෙන් පැවත එකල බුද්ධශාසනය අරබයා කටයුතු යමක් වී නම් පැරණි ගිවිසුම් පත්‍රය සිහිකරමින් එය කරවීය." (පරි. 101, ගාථා 131-133)

* කළු අකුරු අප විසින් යොදන ලදී.

# 19

# ජාතික ආගමික පරිහානිය

මෙසේ ආණ්ඩුවේ ආධාර ඇතිව මිෂනාරිවරුන් ගෙන්වා ලක්දිව නොඑක් පළාත්වල පාඨශාලාවන් විවෘතකොට ඒ මගින් ක්‍රිස්තියානිය හා බටහිර සභ්‍යත්වය පතුරුවන්නටත්, බෞද්ධයන් ක්‍රිස්තියානියට හරවා ගන්නටත් පටන් ගන්නා ලදී. මුල් කාලයේ දී භික්ෂූන්ගෙන් සිදුවූ සියලු ම මහජන සේවය මිෂනාරීන් අතට පත්විය. එනිසා මිෂනාරීහු මහජනයා අතර බල පවත්වන්නට පටන් ගත්හ. ක්‍රිස්තියානි පාදිලිවරුන්ගේ පිහිට සොයන්නට පටන් ගත්හ. රැකීරක්ෂාදියක් ලබාගැනීමට වුවත් පාදිලිවරුන්ගේ ආධාර වුවමනා විය. පාදිලි කෙනෙකුගෙන් ලබන සහතිකය ආණ්ඩුවේ සැලකිල්ලට භාජන විය. එමෙන් ම ක්‍රිස්තියානිකාරයාට ආණ්ඩුව ගෞරව කෙළේය. බෞද්ධයාට උසස් සමාජයේ තත්ත්වයක් හෝ ස්ථානයක් නැතිවිය. එනිසා මෙලොව ප්‍රයෝජන තකා බොහෝ සිංහලයෝ ක්‍රිස්තියානිය වැලඳගත්හ. උසාවි කච්චේරි ආදි ප්‍රසිද්ධ ස්ථානවලදී බෞද්ධයන් හැටියට පෙනී සිටින්නට මැළි වූහ.

විදේශයෙන් පැමිණි මිෂනාරිවරු සිංහල බෞද්ධ සභ්‍යත්වය පහත් ලෙස සලකා පිළිකුල් කරන්නටත්, බටහිර ක්‍රිස්තියානි සභ්‍යත්වය උසස් කොට සලකා ප්‍රිය කරන්නටත් සිංහල දරුවන්ට ඉගැන්වූහ.[1] ක්‍රිස්තියානිය වැලඳ ගත් සිංහලයෝ ආර්ය සිංහල

---

1. මීට උදාහරණ වශයෙන් මේ ළඟදී වූ සිද්ධියක් සිහිවෙයි. 1947 මාර්තු 8 වැනිදා කොළඹ ගුඩ්ෂෙපර්ඩ් කොන්වන්ට්හි තැගි දීමේ උත්සවයක මුලසුන ගත් අතිගරු ආචාර්ය ජේ. ඇම්. මැසොන් කොළඹ ආච්බිෂොප් තුමා කතාකරමින් සිංහල සහ දෙමළ ළමයින්ගේ "විහිළු නම්" (Queer names) අත්හැර දමා කතෝලික සාන්තුවරියන්ගේ නම් පාවිච්චි කරන්නට ඉතා ඕනෑකමින් අවවාද කෙළේය. එතුමා "විහිළු නම් " යයි කීවේ අපේ ආර්ය නම්වලටය. පාවිච්චි කරන්නට නියම කෙළේ බටහිර සාන්තුවරියන්ගේ විදේශීය නම් ය. අපේ දේ පහත් කොටත් ඔවුන්ගේ දේ උසස් කොටත් සලකන්නට උගන්වන්නේ මෙසේ ය. (Sunday Observer, 9.3. 1947)



වාදිභසිංහ මොහොට්ටිවත්තේ
ගුණානන්ද හිමියෝ



ලක්දිව පළමු වන බෞද්ධ පාඨශාලාව
පිහිටුවා වදාළ දෙඩන්දුවේ පියරතන තිස්ස
නායක ස්ථවිරපාදයන් වහන්සේ

බෞද්ධ සිරිත් විරිත් පිළිකුල් කොට, සිංහල නම්ගම් ඇඳුම් පැළඳුම් හැරදමා, බටහිර ක්‍රිස්තියානි වෙස්ගන්නට පටන්ගත්හ. සිංහල ඉගෙනීම පිළිකුල් කොට අපේ සාහිත්‍යය නුවුමනා පුහු දෙයක් හැටියට ඉවත දැමූහ. අනුරාධපුරයට හෝ පොළොන්නරුවට වඩා රෝමය කැන්ටබරිය ගැන ආඩම්බර වූහ. ලංකාවට වඩා එංගලන්තය තමන්ගේ මාතෘභූමිය හැටියට සිතන්නට උත්සාහ ගත්හ.

මෙසේ තමන්ගේ දේ පිළිකුල් කරන්නටත් අනුන්ගේ දේ ප්‍රියකරන්නටත් පටන් ගත් තැන් පටන් සිංහල ජාතියේ පදනම වූ බෞද්ධ සංස්කෘතිය පරිහානියට වැටුණේය. යම්කිසි ජාතියකට හිමි සංස්කෘතිය නැති වුවහොත්, ඒ ජාතියට වහල්කමත් පිරිහීමත් මිස නිදහසක් හෝ දියුණුවක් බලාපොරොත්තු විය නොහැක.

ක්‍රිස්තියානි ආණ්ඩුව යටතෙහි මිෂනාරීන්ට බලය අත්වීම නිසා භික්ෂූන්ගේ තත්ත්වය පිරිහෙන්නට විය. අලුතෙන් මුහුණ පාන්නට සිදු වූ දේශපාලන, ආර්ථික හා සාමාජික වෙනස්වීම්වලට යෝග්‍ය පරිදි හැඩගැසෙන්නට නුපුළුවන් වූ බැවින් භික්ෂූන්ගෙන් සමාජයට ප්‍රයෝජන අඩුවිය. එසේ ම භික්ෂූන්ට කාලානුකූල ඉගෙනීමක් නැතිවිය. වැඩපිළිවෙළක් නැතිවිය. ඔවුන්ගේ වචනයට ගෞරවයක් නැතිවිය. භික්ෂූන්ගෙන් ගිහියන්ට ප්‍රයෝජනයක් නැතිවිය. ඉගෙන ගන්නට දෙයක් නැතිවිය. එනිසා ගිහියෝ විශේෂයෙන් ඉහළ පංතියේ ගිහියෝ - භික්ෂූන්ගේ ආශ්‍රයෙන් ඉවත්වූහ. භික්ෂූන්ගෙන් සමාජයට වැඩක් නැතිවූ බැවින් ගිහිපැවිදි සම්බන්ධය අඩුවිය. භික්ෂූන්ට සමාජයේ තත්ත්වයක් නැති විය. ස්ථානයක් නැති විය. ඒ සියල්ල ක්‍රිස්තියානි පාදිලිවරුන්ට අත් විය.

මෙසේ ඉගෙනීමෙන් ද චරිතයෙන් ද පිරිහුණු භික්ෂුව සාංඝිකදානයටත්, පිරිතටත්, පාංසුකූලයටත්, මතකබණටත් සීමා වී පන්සලේ අලස ජීවිතයක් ගත කරන්නට පටන් ගත්තේය. මේ පිරිහුණු කනගාටුදායක තත්ත්වයේ වෙසෙමිනුත්, යම්තම් නමුත් ගම්බද පළාත්වල සිංහල බෞද්ධ සංස්කෘතියේ නාමයෙන් යමක් ඉතිරි වී නම්, ඒ සියල්ල භික්ෂූන් විසින් ම ආරක්ෂා කරගන්නා ලදී. කොතරම් පිරිහුණත් කොතරම් විපතට වැටුණත්, උන්වහන්සේලා හැම කල්හි ම සිංහල බෞද්ධ සංස්කෘතිය උතුම් කොට සැලකූහ. අබෞද්ධ බටහිර සභ්‍යත්වය පිළිකුල් කළෝය.

පුරාණකාලයේ දී සිංහල ජාතියත් බුද්ධාගමත් දෙක එකට ගමන් කළ බවත්, ආගමෙන් තොරව ජාතික දියුණුවක් හෝ

ජාතියෙන් තොරව ආගමික දියුණුවක් හෝ පුරාණ සිංහලයන් පිළිනොගත් බවත් මේ කියවන්නාට මතක ඇත. එහෙත් බටහිරින් පැමිණි මිෂනාරීහු ජාතික වැඩත් ආගමික වැඩත් වෙන් වෙන් කොට සිතන්නට සිංහලයන්ට ඉගැන්වූහ. සිංහල බෞද්ධයන් ක්‍රිස්තියානි කරගැනීම සඳහා මේ ඉගැන්වීම අවශ්‍ය විය.

බුද්ධාගම සිංහල ජාතියට අයත් ශ්‍රේෂ්ඨ ම ධනය හැටියට පුරාණ සිංහලයෝ සැලකූහ. එනිසා සිංහලයෙක් නම්, ඔහු බෞද්ධයකු ම විය යුතු යයි ඔවුන්ගේ පිළිගැනීම විය. එහෙයින් සිංහල ජාතියට අයත් ශ්‍රේෂ්ඨ බෞද්ධ සංස්කෘතියක් පහළ විය. සිංහල ජාතියේ සමගියත් දියුණුවත් ඇතිවිය. එහෙත් සිංහල ජාතිය බුද්ධාගමෙන් වෙන්කොට සිතන්නට ඉගැන්වීමෙන් පසු සිංහලයන්ට ක්‍රිස්තියානි වීමට ලැජ්ජා භය අඩුවිය.

කොයිහැටි වෙතත් ක්‍රිස්තියානිය වැලඳගැන්ම සිංහලයකුට කැළලක් විය. ඔහු ගැන සිංහල සමාජයේ පිළිකුලක් ඇතිවිය.[2] මේ කැළල මකා ගැනීම සඳහා, පිළිකුල නැතිකර ගැනීම සඳහා, අමුතු බණක්, එනම් ආගම පුද්ගලික දෙයක් බවත්, ක්‍රිස්තියානි වුවත් සිංහලකමට කැලලක් නොවන බවත්, සිංහල ක්‍රිස්තියානිකාරයකුටත් ජාතියේ දියුණුවට වැඩ කළ හැකි බවත්, දේශපාලනයත් ආගමත් දෙකක් බවත්, ඒ දෙක එක් කිරීම වැරදි බවත් මේ රටේ මිෂනාරිවරුත්, ක්‍රිස්තියානිය වැලඳගත් සිංහලයෝත් දෙසන්නට පටන්ගත්හ. පාදිලිවරුන් ආශ්‍රයෙන් ඉගෙනගත් සිංහල බෞද්ධයෝ ද මේ දේශනාව පිළිගත්හ. අදත් පිළිගනිති.

2. ක්‍රිස්තියානිය වැලඳගත් ඉන්දියන්කාරයා නියම ඉන්දියන්කාරයකු හැටියට අදත් ඉන්දියාවේ පිළිගැනීමක් නැත.

# 20

# නව ප්‍රබෝධය

මෙසේ විදේශීය අබෞද්ධ ආණ්ඩුවක් යටතෙහි බුද්ධශාසනයත් සිංහල ජාතියත් අනාථව පවත්නා කල්හි 19 වැනි ශතවර්ෂයේ අවසාන භාගයේ දී නැවතත් ජාතියත් ආගමත් නඟාලීමට වීර චරිතාන්විත භික්ෂූන් වහන්සේලා කීපනමක් ඉදිරිපත් වූහ. දොඩන්දූවේ පියරතනතිස්ස නායක ස්ථවිරපාදයන් වහන්සේගේ උත්සාහයෙන් 1869 දී ලක්දිව පළමුවන බෞද්ධ පාඨශාලාව දොඩන්දූවේ ශෛලබිම්බාරාමය අසල ආරම්භ කරන ලදී.[1] 1873 දී හික්කඩුවේ ශ්‍රී සුමංගල නායකස්ථවිරපාදයන් වහන්සේ විසින් කොළඹ මාලිගාකන්දේ විද්‍යෝදය පිරිවෙන ද, 1875 දී රත්මලානේ ශ්‍රී ධම්මාලෝක මහාස්ථවිරපාදයන් වහන්සේ විසින් පෑලියගොඩ විද්‍යාලංකාර පිරිවෙන ද, ආරම්භ කරන ලදී. මේ පිරිවෙන් දෙක මගින් යළිත් සිංහල සාහිත්‍යයටත් බෞද්ධ සංස්කෘතියටත් ජීවනය ලැබුණේය.

මේ කාලයේ ම මිගෙට්ටුවත්තේ ගුණානන්ද, බත්තරමුල්ලේ ශ්‍රී සුභූති, කොරතොට සෝභිත යන ස්ථවිරයන් වහන්සේලා බුද්ධාගමේ ගෞරවයත් අයිතියත් රැකගැනීම පිණිස ක්‍රිස්තියානි බලයට විරුද්ධව ප්‍රබල ව්‍යාපාරයක යෙදුණාහ. මේ අතර 1880 කර්නල් ඕල්කොට්තුමා මෙහි පැමිණ බෞද්ධ අධ්‍යාපනය නඟා සිටුවීම සඳහා, සුමංගල, සුභූති, පියරතන, පොතුවිල, මිගෙට්ටුවත්තේ ආදි ස්ථවිරයන් වහන්සේලාගේ විශේෂාධාර ඇතිව, පරමවිඥානාර්ථ බෞද්ධ සමාගම ආරම්භකොට, ලක්දිව නොඑක් පළාත්වල බෞද්ධපාඨශාලා පිහිටුවන්නට පටන්ගත්තේය. 1886 දී එතුමා

---

1. කල්‍යාණි ශාසනවංශය, පි. 129. පසුකලක කොළඹ පරමවිඥානාර්ථ බෞද්ධ සමාගමට බාරදෙන ලද මේ පාඨශාලාව මේ තාක් පවත්නා බව සැලකිය යුතුයි.

විසින් ආරම්භ කරන ලද ආනන්ද කොලීජිය ප්‍රධාන බෞද්ධ ඉංග්‍රීසි විද්‍යාලය විය. මේ වැඩපිළිවෙළට ශ්‍රීමත් අනගාරික ධර්මපාල, බ්‍රහ්මචාරී වලිසිංහ හරිශ්චන්ද්‍ර ආදි තවත් ගිහිපැවිදි කීප පළක් ද එකතු වී ජීවිත පරිත්‍යාගයෙන් ක්‍රියාකළෝය.

විද්‍යෝදය, විද්‍යාලංකාර දෙපිරිවෙන්හි, ශාස්ත්‍රෝද්ග්‍රහණය කළ ස්ථවිරයන් වහන්සේලා ලක්දිව නොඑක් පළාත්වල තවතවත් පිරිවෙන් ආරම්භකොට ගිහිපැවිදි දෙපක්ෂය ම අතර ධර්මශාස්ත්‍රඥානය බෙදා හරින්ටත්, බෞද්ධ සංස්කෘතිය දියුණු කරන්ටත් පටන් ගත්හ. පරමවිඥානාර්ථ සමාගම හා ඒ අනුව ඇති වූ වෙනත් බෞද්ධ සමාගම්වල මූලිකත්වයෙන් ආරම්භ කරන ලද පාඨශාලා මගින් සිංහල බෞද්ධ දරුවන්ට මිෂනාරීන්ගෙන් මිදී ඉගෙනීම ලබාගත හැකිවිය. මෙසේ පිරිවෙන් සහ බෞද්ධ පාඨශාලා වැඩිවීම නිසා බෞද්ධ සංස්කෘතිය ගැනත් සිංහල භාෂාව හා සිරිත්විරිත් ගැනත් සැලකිල්ලක් ඇති වී අලුත් ජාතික ප්‍රබෝධයක් උදාවිය.

එසේ වුවත් උසස් ධනවත් පංතියේ සිංහලයෝ මිෂනාරීන්ගේ ආශ්‍රයෙන් හා බටහිර ක්‍රිස්තියානි පරිසරයෙන් වෙන් නොවූහ. ඔවුහු තම දරුවන් ක්‍රිස්තියානි පාසල්වලට ම යැවූහ. අදත් එසේම යවති. ඒ දරුවෝ සිංහල බෞද්ධ සංස්කෘතියෙන් තොරව, ක්‍රිස්තියානි පරිසරයක, බටහිර සිරිත්වලට අනුව ඇති දැඩි වූහ. බුද්ධාගම ගැන හෝ, බෞද්ධ සිරිත් විරිත් ගැන හෝ, සිංහල භාෂාව, සාහිත්‍යය හා ඉතිහාසය ගැන හෝ ඔවුනට දැනීමක් නැත. ඒ ගැන ඔවුන්ගේ සැලකීමක් නැත. ඔවුහු සිංහලද්වීපය ජන්ම භූමිකොට ඇතත්, ඉගෙනීමෙන් ද සිරිත් විරිත් හා අදහස්වලින්ද විදේශීයයන් ලෙස ක්‍රියා කරති. ඔවුන්ට භික්ෂූන් ගැන වැටහීමක් නැත. මිෂනාරීන්ගේ ඉගැන්වීම්වලට අනුව ඇති දැඩිවුණු ඔවුහු, භික්ෂූන් ජාතික සේවයෙන් ඉවත්ව, දන්, පිරිත්, පාංසුකූල ආදියට පමණක් කැපව, පන්සල්වලට වී සිටිය යුතු යයි විශ්වාස කරති. ආගමත් ජාතියත් දෙක එකට ගමන් කළ යුතු බැව් ඔවුහු නොදනිති.

ගත වූ ශතවර්ෂය තුළ පිරිවෙන් මගින් කරන ලද සේවය නිසා භික්ෂූන්ගේ ඉගෙනීම දියුණු විය. එහෙත් එය කාලෝචිත වූ සම්පූර්ණ ඉගෙනීමක් නොවීය. ප්‍රධාන වශයෙන් ම එය පුරාණ සාහිත්‍යයට සීමා විය. නවීන භාෂා ශාස්ත්‍රයන් ඉගැන්වීම පිරිවෙන්වලට නුවුමනා හැටියට සලකන ලදී. එසේ සලකන්නට සිදුවූයේ නවීන විෂයයන් උගන්වන්නට සමර්ථ ආචාර්යවරුන්



විද්‍යෝදය පිරිවෙන පිහිටුවාවදාළ
හික්කඩුවේ ශ්‍රී සුමංගල මාහිමියන් වහන්සේ

යොදා ගන්නට වුවමනා ආර්ථිකත්වයක් පිරිවෙන්වල නොතිබුණු නිසා බැව් සිතිය හැක. එබඳු කාලෝචිත අධ්‍යාපන ක්‍රමයක් ඇති කරන්නට වුවමනා ආධාරයක් ආණ්ඩුවෙන් ද ලබාගත නොහැකි විය. භික්ෂූන් පුරාණ සාහිත්‍යයට කැපවූ, පුරාණ ක්‍රමයට ම සිතන වර්තමාන ලෝකය ගැන, ජීවමාන ප්‍රශ්නයන් ගැන කිසිත් නොදත්, අතීතයට අයත් නිකම් පිරිසක් වීම ඉංග්‍රීසි ආණ්ඩුවට ලොකු වාසියකි. දුරදිග නොපෙනෙන බෞද්ධ ගිහිපැවිදි නායකයෝ ද භික්ෂූන් වහන්සේලාට ඉංග්‍රීසි ආදි නවීන භාෂාශාස්ත්‍රයන් ඉගැන්වීම ගැන විරුද්ධ වූහ. අදත් විරුද්ධ වෙති.[2]

පිරිවෙන්වල පැවති, එසේ ම මේතාක් පවත්නා, තත්වය නිසා භික්ෂූන්ට කාලෝචිත වූ වැඩට යෙදිය හැකි නවීන අධ්‍යාපනයක් ලබාගැනීම අපහසු විය. එහෙත් ඉගෙනීමටත්, ශාස්ත්‍රීය කටයුතුවලටත්, රටේ ආගමේ ජාතියේ දියුණුව සඳහා වැඩ කිරීමටත් ආශාවක් හා උනන්දුවක් ඇති ඇතැම් භික්ෂූන් වහන්සේලා නොඑක් ගැහැට විඳිමින්, නොඑක් බාධාවන්ට මුහුණ පාමින්, බරපතළ සටනක් කරන්නාක් මෙන්, වැඩට ගතහැකි අලුත් අධ්‍යාපනයක් ලබාගන්නට උත්සාහ කළෝය. දැනුදු උත්සාහ කරති.

දැනට පිරිවෙන් අධ්‍යාපනය එක්තරා ප්‍රමාණයකට සකස් වීගෙන යයි. එහෙත් පිරිවෙන්වලට සෑහෙන පමණ ආර්ථික තත්වයක් ඇතිවන තුරු එය කිසිසේත් ප්‍රයෝජනවත් ලෙස සකස් කළ නොහැක. මෑතක පටන් පිරිවෙන් අධ්‍යාපනය සමග ම විශ්වවිද්‍යාලයන්හි ද ඉගෙනීම ලබන භික්ෂූන්ගේ සංඛ්‍යාව වර්ෂයක් පාසා වැඩිවීගෙන යයි. සාමාන්‍යයෙන් මෙකල භික්ෂූහු ත්‍රිපිටකය, ව්‍යාකරණ, ඡන්දස් අලංකාර ගැන පමණක් නොව, අලුත් පත්‍ර සඟරා හා නවීන පොත්පත් කියවීමෙන් වර්තමාන ලෝකයේ නොඑක් ජීවමාන ප්‍රශ්නයන් ගැන, ජාත්‍යන්තර ප්‍රශ්නයක් ගැන එක්තරා ඉගෙනීමක් ලබති.

මෙසේ ඉගෙනීම ලැබූ, අතීතය ගැන දැනීමක් ඇති, වර්තමාන ප්‍රශ්නයන් ගැන හැඟීමක් ඇති, උද්‍යෝගවත් භික්ෂුව රට ජාතිය ආගම පිරිහෙද්දී, දානයටත් පිරිතටත් පාංසුකූලයටත්

2. පුරාණ කාලයේ දී එකලට නවීන වූ භාෂා ශාස්ත්‍ර සියල්ලක් ම වාගේ ආරාමවල උගන්වන ලදී. උගතුන් ලබාගත හැකිවූ විට ඔවුන්ට වැටුප් හෝ ගෙවා ඉගෙන ගත යුතු බැව් පැපිළියානේ ශිලාලේඛනයෙහි සඳහන් වෙයි. මේ කාලයේ වැටුප් දී ගුරුවරුන් පත්කර ගන්නට තරම් ආර්ථික තත්වයක් අද පිරිවෙන්වලට නැත.

ජීවිතය කැපකොට පන්සලට වී නිකරුණේ දවස් ගෙවන්නට කැමැති නොවෙයි. එබඳු භික්ෂූන් විශාල සංඛ්‍යාවක් සිය රටත් ජාතියත් ආගමත් යළිත් නිදහස් කොට ගෙන රැකගැනීමත් දියුණුකිරීමත් තමන්ගේ පරම්පරාගත උරුමය ලෙස සලකා, කාලයට යෝග්‍ය පරිදි, ජාත්‍යන්තර තත්ත්වයට ගැළපෙන පරිදි මහජනයා අතර වැඩ කිරීමට අද ඉදිරිපත්ව සිටිති. මෙය කිසිසේත් නොවැළැක්විය හැකි ඓතිහාසික සිද්ධීන්ට අනුව පහළවන අවස්ථාවකි.

# I උපග්‍රන්ථය

## දේශපාලනය නම් කුමක් ද?

භික්ෂූන් දේශපාලන කටයුතුවලට සහභාගී නොවිය යුතුය යන මතයක් මේ රටේ සමහරුන් අතර මෑතක දී පැතිර ගොස් තිබේ. දේශපාලනය ගැන හරි අවබෝධයක් හා ගෞරවයක් නැතිවීම මේ මතයට එක් හේතුවකි. සාමාන්‍ය මහජනයාට තබා පාර්ලිමේන්තුවේ සමහර මැතිඇමැතිවරුන්ටවත් මේ ගැන කිසිත් වැටහීමක් නැති බැව් දැක්ම සැබැවින් ම ඛේදජනකය. දේශපාලනය පිළිබඳව මේ රටේ නූගත්කම මෙතරම් හොඳට ප්‍රකට වූ වෙන අවස්ථාවක් මීට පෙර නොවීය.

ඉංග්‍රීසි Politics ශබ්දය මෙන්ම සිංහල දේශපාලන[1] ශබ්දය ද ව්‍යාප්ත ව්‍යවහාරය නිසා ව්‍යුත්පත්ති අර්ථය ඉක්මවා ගොස් විශාල විෂයයක් වැලඳගත් පාරිභාෂික ශබ්දයකි. කෝෂග්‍රන්ථයක් පෙරළා බැලීමෙන් අද මේ වචනයේ නියම අර්ථය තේරුම් ගත නොහැක. එහි අර්ථය එතරම් විශාල වී තිබේ. රටක ජාතියක යහපත් පාලනයට, පෝෂණයට, පැවැත්මට අදාළ වන හැම වැඩ පිළිවෙළක් ම අද දේශපාලනයට ඇතුළත් වෙයි. එය නොඑක් කොටස්වලින් යුත් උසස් ශාස්ත්‍රයකි.

දේශපාලනය නම් පිරිසිදු චරිතයෙන් යුත් සිල්වත් ගුණවත් උතුමන් විසින් අත නොගැසිය යුතු පහත් දෙයක් හැටියට,

---

1. බොහෝ දෙන දේශපාලන ශබ්දයට රුචියක් නොදක්වති. ඒ වෙනුවට ජන සේවය, සමාජ සේවය, ලෝකාර්ථචර්යාව ආදි කැමැති වචනයක් යෙදුවාට වරදක් නැත. වුවමනා කරන්නේ වචනය ගැන වාද කිරීම නොව අදහස තේරුම් ගැනීමයි. පුරාණ භාෂාවේ දේශපාලන ශබ්දයක් දක්නා නොලැබේ. එය මෑතක ඇතිවූ වචනයකි. එහෙත් එය වර්තමාන සිංහල ශබ්දකෝෂයෙන් ඉවත්කළ නොහැක.

අපරාධයක් දුශ්චරිතයක් හැටියට, කුට ප්‍රයෝගකාරයන්ට අයත් රක්ෂාවක් හැටියට ඇතැම් අය කල්පනා කරන බැව් මෑත දී පළවූ සමහර ලියකියමන්වලින් පෙනේ.[2]

ජොන්සන් දවස (ක්‍රි.ව. 1709-1784) විසූ ජෝන් විල්ක්ස් නමැත්තෙක් "නෝර්ත් බ්‍රිටන්" පත්‍රයෙහි ස්ත්‍රීන් පිළිබඳව අසභ්‍ය ලිපියක් පළකෙළේය. ඒ පුද්ගලයා නින්දාවට භාජන විය. නීතියෙන් දඬුවම් ලැබීය. බන්ධනාගාරයෙහි ද වැටුණේය. එහෙත් ජාත්‍යාලය ඉදිරිපත් කොට ඒ ගැන ම දේශනා කරමින් මන්ත්‍රී තරගවලට මුහුණ පෑ ජෝන් විල්ක්ස් පස්වරක් ම පාර්ලිමේන්තුවේ මන්ත්‍රීවරයකු හැටියට මහජන ඡන්දයෙන් පත්විය. ඇනුම්පද කීමෙහි ප්‍රසිද්ධියක් ඉසුලූ ජොන්සන් පඬිතුමා දිනක් මොහු පිළිබඳව ඇතිවූ කතාවක දී "ජාත්‍යාලය තක්කඩියකුගේ අන්තිම රක්ෂාස්ථානය"යි[3] විහිළු වශයෙන් ඇනුම් පදයක් කීවේය. මෙය ජාත්‍යාලය පිළිබඳ සත්‍ය විවරණයක් නොවේ. පුද්ගලයකුගේ චරිතයක් දෙස බලා කළ උපහාසයක් පමණකි.

මෙපරිද්දෙන් ම "දේශපාලනය තක්කඩියන්ගේ අන්තිම රක්ෂාස්ථානය" යි මේ රටේ ඇතැම් අය කියන්නේත් අද දේශපාලනයට බැස සිටින සමහරුන්ගේ චරිතයත් වැඩපිළිවෙළත් ගැන කලකිරීම නිසා විය හැක. මන්ත්‍රී තරගවලදී රා අරක්කු ආදී මත්පැන් දීම, ඡන්දය ගැනීමට අල්ලස් දීම, මැරවර දාමරිකයන් යොදා අහිංසක ඡන්දදායකයන්ට හිරිහැර කිරීම, මෙසේ අයුතු අපරාධ කොට මන්ත්‍රණ සභාවට ඇතුළු වූ සමහර මන්ත්‍රීන් එහිදී අල්ලස් ගැනීම, අගතියට ගොස් අයුතු කිරීම, නොහික්මුණු දාමරිකයන් මෙන් හැසිරීම ආදී අමනෝඥ ක්‍රියා නිසා "දේශපාලනය තක්කඩියන්ගේ අන්තිම රක්ෂාස්ථානය"යි කීමට සැබවින් ම අද අවකාශ ලැබී තිබේ. එසේ ම මන්ත්‍රී තරගවලදී දක්නට ලැබෙන දාමරික සැහැසිකම් නිසාත්, කලකෝලාහල නිසාත්, දේශපාලනය "පොරපිටියකැයි" බොහෝ නූගත් අය ලියති., කියති. එක්තරා

2. "දේශපාලනය නම් පරාර්ථචර්යාව නොවන බව දැන් කවුරුත් දනිති"යි යගිරල පඤ්ඤානන්ද නායක ස්ථවිරයන් වහන්සේ ප්‍රකාශ කරති. (සිළුමිණ - 1946 මැයි 16) දේශපාලනයේ ප්‍රධානාචාර්යවරයා හිට්ලර් බවත්, උප ප්‍රධානාචාර්යවරයා මුසලිනි බවත් මුන්වහන්සේගේ ම තවත් මතයකි. (දිනමිණ- 1946 මාර්තු 29)

3. "Patriotism is the last refuge of a scoundrel."

නායක ස්ථවිරයන් වහන්සේ නමකගේ අදහසේ හැටියට නම් දේශපාලනය සොරකමකි![4]

එහෙත් මේ අපකීර්තිය දැනට දේශපාලනයට බැස සිටින සමහරුන්ගේ අමනෝඥ වැඩපිළිවෙළ නිසා ඇතිවූවක් මිස දේශපාලනයෙහි වරදක් නොවේ. කොතරම් යහපත් දෙයක් නමුත් නරක මිනිසුන්ගේ ආශ්‍රය නිසා අපකීර්තියට භාජන වෙයි. මේ ගැන අද දේශපාලනයෙහි යෙදී සිටින්නවුන් වගකිය යුතුයි.

දේශපාලනය නම් මත්පැන් බීගෙන තමාගේ ඡන්දය රුපියලකට දෙකකට විකුණා ගැනීම යැයි සාමාන්‍ය නූගත් මිනිහා කල්පනා කරයි. සමහර නායක ස්වාමීන්වහන්සේලාත් පත්‍ර කර්තෘවරුනුත් පමණක් නොව ඇතැම් මන්ත්‍රීවරුන් ද දේශපාලනය හැටියට සලකන්නේ මන්ත්‍රීතරඟවලට ඉදිරිපත්වීමත් මන්ත්‍රණ සභාවට යෑමත් බැව් ඔවුන් විසින් කරනලද ප්‍රකාශවලින් පෙනේ. මෙතරම් නූගත් කියමනක් මෑතකාලයක අසන්නට ලැබී නැත. සැබැවින් ම එබඳු අදහස් ඇති මන්ත්‍රීන්ගේ දේශපාලන මෙහෙය ද මන්ත්‍රණ සභාවට ඇතුළුවීම පමණක් ම මිස මහජන සේවයක් නොවන බව නොරහසකි.

ලංකා දේශපාලන ව්‍යාපාරයේ ප්‍රථම, මධ්‍යම, අවසාන අවස්ථාන්තරයන් යයි සැලකිය යුත්තේ ගම්සභා, නගරසභා, රාජ්‍යමන්ත්‍රණ සභා බැව් මල්වත්තේ මහානායක ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ ප්‍රකාශනයක සඳහන් වෙයි.[5] එහෙත් විචක්ෂණ මහපඬිවරයකු හැටියට සමස්ත ලෝකයෙහි අසහාය කීර්තියක් උසුලන බර්නාඩ් ෂෝ මහතා කියන්නේ පාර්ලිමේන්තුවලට සහ නාගරික සභාවලට සම්පූර්ණ දේශපාලන විෂය ඇතුළත් නොවන බවයි.[6]

---

4. "දේශපාලන කටයුතුවලට සම්බන්ධ වුවහොත් දෙවන පාරාජිකා පත්තියෙන් පැමිණිය හැකි විපත්තියට (බරපතළ වරදට) පත්වන බව ඇත්තය"යි යගිරල පඤ්ඤානන්ද නායක ස්ථවිරයන් වහන්සේ පවසති. (සිළුමිණ - 1946 මැයි 19) දෙවන පාරාජිකාපත්තිය නම් සොරකම් කිරීමෙන් සිදුවන්නකි. දේශපාලනය සොරකමක් බවත්, දේශපාලන කටයුතු කරන්නන් හොරුන් බවත් මුන්වහන්සේගේ අදහස බැව් පෙනේ!
5. දිනමිණ - 1946 මාර්තු 7.
6. "But parliaments and municipalities do not cover the whole political field" *Everybody's Political What's What?* p. 353.

මහාත්මා ගාන්ධි ශ්‍රේෂ්ඨ දේශපාලනඥයකු හා දේශපාලකයකු හැටියට මුළු ලෝකයේම ප්‍රසිද්ධය. එහෙත් එතුමා මන්ත්‍රණ සභා ආදියට යෑමට ඉදිරිපත් නොවීය. එතුමා කෙළේ ඉන්දියාවට නිදහස ගැනීමටත් මහජනයාට යහපත සැලසීමටත් දිවා රෑ දෙක්හි ආත්මපරිත්‍යාගයෙන් ක්‍රියාකිරීම පමණකි. අපේ "දේශපාලන පඬිවරුන්ගේ" මතයේ හැටියට නම් ගාන්ධිතුමා දේශපාලන කටයුතු කළ කෙනකු හැටියට පිළිගත නොහැක.

බෞද්ධ ඉගැන්වීමේ හැටියට දේශපාලනය නම් දශරාජ-ධර්මයෙන්[7] යුක්තව කළයුතු ඉතා ශ්‍රේෂ්ඨ පරාර්ථ සේවයකි. එසේ ම දේශපාලනයෙහි යෙදෙන්නා සතර සංග්‍රහ වස්තුවෙන්[8] ද යුක්ත වියයුතුයි. බුද්ධාගමේ හැටියට දේශපාලනය ධාර්මික ක්‍රියාවක් මිස අධර්මයක් නොවේ. බෞද්ධයන් කරන හැම පින්කමක් ම අවසානයෙහි සිරිත් වශයෙන් කියන "දෙවො වස්සතු කාලෙන" යනාදි ගාථාවෙහි ආර්ථික, සාමාජික හා දේශපාලන ප්‍රාර්ථනා ගැබ්වී තිබේ.[9]

දේශපාලනය ජීවිතය පිළිබඳ ප්‍රශ්නයකි. ආගම ද ජීවිතය පිළිබඳ ප්‍රශ්නයකි. මේ දෙක වෙන් කළ නොහැක. ශරීරයට සිත යම්සේ ද, දේශපාලනයට ආගමත් එසේය. ආගම ධර්මයෙන් තොරවූ දේශපාලනය අධර්මයක් පාපයක් වෙයි. ආගම යනුවෙන්

---

7. දානය, ශීලය, පරිත්‍යාගය, අවංකකම, මෘදු ගතිය, තාපස ගතිය, ක්‍රෝධ නොකිරීම, අවිහිංසාව, ඉවසීම, අවිරුද්ධකම යනු දශරාජධර්මයි.
රට ආණ්ඩු කිරීමට මුල්වන්නේ පංචෙන්ද්‍රියයන් ජයගැනීම බැව් ද, දශරාජධර්මයෙන් රට ආණ්ඩු කළයුතු බැව් ද මහනුවර මල්වත්තේ සංඝ සභාවෙන් ෆල්ක් නම් ලංසි ආණ්ඩුකාර තැන වෙත යවන ලද ලිපියේ සඳහන් වෙයි. (ප්‍රභාෂෝදය -1930 අප්‍රේල්, පි. 15, 16)
8. දානය, ප්‍රිය වචනය, අර්ථචර්යාව, සමානාත්මතාව යනු සතර සංග්‍රහ වස්තුයි.
9. දෙවො වස්සතු කාලේන, සස්සසම්පත්ති හොතුච,
පීතො භවතු ලොකො ච, රාජා භවතු ධම්මිකො.

මේ සමග බෝධිචර්යාවතාරයෙහි X 39 ශ්ලෝකය සසඳනු,

දෙවො වර්ෂතු කාලේන, ශෂ්‍ය සම්පත්ති රස්තු ච,
ස්ඵීතො භවතු ලෝකශ්ච, රාජා භවතු ධාර්මිකඃ
මෙයින් කලට වැසිවැසීම ද, ගොවිතැන් සඵලවීම ද, ලෝකයාගේ වාසනාව ද, රජුගේ (ආණ්ඩුවේ) ධාර්මිකකම ද ප්‍රාර්ථනා කරනු ලැබේ.

අදහස් කරනු ලබන්නේ වැඳුම් පිදුම් ආදි බාහිර චාරිත්‍ර නොව කරුණා මෛත්‍රී ආදි ගුණධර්මයන්ගෙන් චරිතය දියුණුකිරීමයි. එබඳු උතුම් අදහස්වලින් ගුණධර්මවලින් තොරවූ, චරිත දියුණුවක් නැති අය විසින් කරනු ලබන දේශපාලනයෙන් ලෝකයාට අවැඩක් මිස වැඩක් විය නොහැක.

මේ බෞද්ධ අදහස්වලට අනුව ධර්මරාජ්‍යයක් අශෝක චක්‍රවර්තීන් විසින් ක්‍රි. පූර්ව තුන්වැනි ශතවර්ෂයේදී ඉන්දියාවේ පිහිටුවන ලදී. ඒ ධර්මරාජ්‍යය පිහිටුවූ අශෝක රජු රජුන් අතරෙහි ශ්‍රේෂ්ඨ ම පුද්ගලයා බවත්, වියවුලින් පිරුණු මනුෂ්‍ය ඉතිහාසයෙහි ඒ ධර්මරාජ්‍යය ශාන්ත සැනසීමක් බවත් ශ්‍රේෂ්ඨ ඉතිහාසඥයෙක් වූ එච්. ජී. වෙල්ස් තමාගේ ලෝක ඉතිහාසයෙහි සඳහන් කරයි.[10] එබඳු ධර්මරාජ්‍ය ලක්දිව ද වරින්වර පිහිටුවා තිබුණු බැව් මහාවංසයෙන් ඔප්පුවෙයි.

රටක් පාලනය කරන රජකුගේ යුතුකම රටවැසියන් පෙළීම නොව ඔවුන් රැකීම බැව් මනුස්මෘතියේ දක්වා තිබේ.[11]

දේශපාලනය ශීලයෙන් සුචරිතයෙන් ගුණධර්මයෙන් වෙන් නොකළ යුතු බවත්, එය ශ්‍රේෂ්ඨ ආගමික මෙහෙයක් හැටියට, ධර්මයක් හැටියට කළ යුතු බවත්, නරක චරිතයෙන් හා වංක අදහස්වලින් යුත් ආත්මාර්ථකාමී පුද්ගලයන්ගෙන් දැනට කිලුටුව පවත්නා දේශපාලනය උසස් චරිතයෙන් යුත් ගුණවන්ත සීලවන්ත උත්තමයන් විසින් පවිත්‍ර කළයුතු බවත් මහාත්මා ගාන්ධි හැම තැනම ලියූ කියූ බව ඉතා ප්‍රකටය. තමා දේශපාලන කටයුතුවලට බැස්සේ ආගම ධර්මය ගැන ඇති භක්තිය නිසා ම බැව් ද, ආගම දේශපාලනයෙන් වෙන් කළ යුතු යැයි කියන්නන් ආගම පමණක් නොව දේශපාලනයත් කුමක් දැයි නොදන්නා බව ද එතුමා කියයි. "දේශපාලනයත් ආගමත් දෙකම එක නොවේ ද?"[12] යි විලියම් බ්ලේක් කිවියා ප්‍රශ්න කරයි.

"මනුෂ්‍යයා ස්වභාවයෙන් ම දේශපාලනයට අයත් සතෙකැ"යි ඇරිස්ටෝට්ල් නම් ග්‍රීක් මහාපණ්ඩිතයා ප්‍රකාශ කෙළේ මෙයින් අවුරුදු 2300කටත් පූර්වයේ දී ය.[13]

---

10. *A Short History of the World* (London 1927), p. 117
11. මනු VII 2-3
12. "Are not politics and religion the same thing?"
13. "*Aristotle's Politics* 1.2. "Man is by nature a political animal"

සංවිධානය වූ සමාජයක ජීවත්වන, සිහිබුද්ධියෙන් යුත්, හොඳ නරක තේරෙන, වගකීමක් ඇති කිසි ම මනුෂ්‍යයකුට දේශපාලනයට සම්බන්ධ නොවී ජීවත්විය නොහැක. මනුෂ්‍ය සමාජයට වුවමනා ඉගෙනීම හා සච්චරිතය, අපරාධමර්දනය හා සුචරිතවර්ධනය, ආරෝග්‍යය හා සෞඛ්‍යාරක්ෂාව, කෘෂිකර්මය හා ග්‍රාමසංවර්ධනය, ආහාරපාන, නිවාසපහසු, ගමනාගමනය හා වෙළහෙළඳාම් ආදි සියගණන් ඕනෑඑපාකම් පිළිබඳ ලොකු කුඩා හැම ප්‍රශ්නයක්ම දේශපාලනයට අයත් වෙයි.

දුප්පත්කම පිළිබඳ ප්‍රශ්න, අධ්‍යාපන ප්‍රශ්න, කායික මානසික සහ සදාචාර නෛපුණ්‍ය පිළිබඳ ප්‍රශ්න යන මේවා පෞද්ගලිකම නොවන බවත්, මහජනයාටත් ආණ්ඩුවටත් අයත් ප්‍රශ්න බවත් සියල්ලෝම පිළිගනිති"යි ලන්ඩන් විශ්වවිද්‍යාලයේ සමාජශාස්ත්‍රය පිළිබඳ මහාචාර්ය හොබ් හවුස් මහතා කියයි.[14] මේ ප්‍රශ්නයන් ධාර්මික ලෙස යුක්තිසහගතව විසඳා වැඩිදෙනාට විශාල ම යහපත සැලසෙන පරිදි කටයුතු පිළියෙල කිරීම දේශපාලන කාර්යයි.

පුද්ගලයන් හා සමූහයන් අතර ඇති සම්බන්ධතාව ගැන ඉගෙනීම දේශපාලන ශාස්ත්‍රය බැව් ඩිලයිල් බර්න්ස් නම් දේශපාලන විශේෂඥයා ප්‍රකාශ කරයි.[15] මේ අදහස ම තවත් පහසු විදියකින් පැහැදිලි කරන එතුමා දේශපාලනය මෙසේ විග්‍රහ කරයි. "ඉතා ම සාමාන්‍ය අදහසට අනුව දේශපාලනය නම් ශිෂ්ට සමාජයෙහි මිනිසකු හා තවත් මිනිසකු අතර පවත්නා සම්බන්ධතාව පිළිබඳවූ දෙයකි."[16]

දේශපාලනය වනාහි සම්පූර්ණයෙන් ම සාමාජික ප්‍රශ්න පිළිබඳ ශාස්ත්‍රය බව බර්නාඩ් ෂෝ මහතාගේ කියමනකින් ඉතාම පැහැදිලිව ප්‍රකාශ වෙයි. එතුමා මෙසේ කියයි. "දේශපාලනය ජීවිතයෙන් පිටස්තර යම්කිසි දෙයක් හැටියට ඔවුහු සිතත්. එහෙත් දේශපාලනය

14. "On all side men are agreed that problems of poverty, problems of education, problems of physical, mental and moral efficiency are matters not merely of individual and private but equally of public and govemmental concern." ***Social Evolution and Political Theory*** (N Y 1922) p. 184.

15. *Political Ideals* (OUP 1915), P. 292. "Politics is the study of the relations existing between individuals and between groups."

16. *Ibid.* p. 295. "In the most general sense Politics is concerned with the relations of man to man in civilized society."

වූකලි සමාජ ජීවිතය පිළිබඳ ශාස්ත්‍රය නොවේ නම්, දේශපාලනය කියා කිසිවක් නැත."[17]

"රාජ්‍යයක් නම් මනුෂ්‍ය චරිතය නිසි පරිදි හරිගැස්වීමේ මාර්ගය" යි ලන්ඩන් විශ්වවිද්‍යාලයේ දේශපාලන විද්‍යාව පිළිබඳ මහාචාර්ය වූ ද, බ්‍රිතාන්‍ය කම්කරු පක්ෂයේ සභාපති වූ ද හැරල්ඩ් ලස්කි මහතා කියයි.[18]

දේශපාලනයේ පරමාර්ථය නම් විශාල ම පිරිසට උසස් ම යහපත සැලැස්වීම බැව් ප්‍රකාශ කරන ඇරිස්ටෝට්ල් පඬිතුමා මෙසේ කියයි. "හැම රාජ්‍යයක් ම එක්තරා ක්‍රමයක සමාජයකි. හැම සමාජයක් ම පිහිටුවා තිබෙන්නේ යම්කිසි යහපතක් කරන අදහසිනි. මක්නිසා ද? මනුෂ්‍ය වර්ගයා නිතර ම ක්‍රියා කරන්නේ තමන් හොඳ යයි සිතන දේ ලබා ගැනීම පිණිසයි. එහෙත්, යම් විදියකින් සියලු ම සමාජයෝ යම්කිසි යහපතක් කරන්නට බලාපොරොත්තු වෙත් නම්, ඒ සියලු ම සමාජයන්ට වඩා උසස් වූ, ඒ සියලු ම සමාජයන් ඇතුළත් වූ රාජ්‍යය හෙවත් දේශපාලන සමාජය ඒ හැමට ම වඩා උසස් ම යහපත වඩා විශාල අන්දමින් කරන්නට බලාපොරොත්තු වෙයි."[19]

"මෙසේ රාජ්‍යය වූකලී සාමාන්‍ය ජීවිතය සවලකිරීමට අදහස් කරන මිනිසුන්ගේ සමාගමකැ"යි[20] හැරල්ඩ් ලස්කි මහතා කියයි. මේ සමාගමෙත් වෙන සමාගම්වලත් ඇති වෙනස නම්, එහි සීමාව තුළ වෙසෙන්නන්ගේ සාමාජිකත්වය අනිවාර්යවීමත්, අවශ්‍ය විටක සාමාජිකයන්ගේ යුතුකම් බලයෙන් හෝ ඉටු කරවිය හැකි

17. *Every body's Political What's What?* p. 264. "They think of politics as something outside life, though politics are either the science of social life or nothing."

18. *An Introduction to Politics*, London, 1931, p. 15. "The State is thus a way of regulating human conduct."

19. "Every state is a community of some kind, and every community is established with a view to some good: for mankind always act in order to obtain that which they think good. But if all communities aim at some good, the stae or political community which is the highest of all, and which embraces all the rest, aims at good in a greater degree than any other, and at the highest good." Politica, I, 1.

20. "The state is thus a fellowship of men aiming at the enrichment of the common life." *A Grammer of Politics* by Laski (London 1925) p. 37.

වීමත් බව කියන ලස්කි මහතා තව දුරටත් මෙසේ විස්තර කරයි. "මේ සමාගමේ වටිනාකම විනිශ්චය කරනු ලබන්නේ එහි සාමාජිකයන් විසින් හොඳ යයි සැලකෙන දේ ඔවුන්ට ලබාදෙන ප්‍රමාණයේ හැටියටය. මේ සමාගමේ මුල් ඔවුන්ගේ හිතේ පපුවේ කා වැදී තිබේ."[21]

දේශපාලනය පිළිබඳ චින්තකයාගේ බලාපොරොත්තුව ශිෂ්ට ජීවිතය දියුණුකිරීම සහ පැවැත්වීම බවත්, දේශපාලන කරුණු මනුෂ්‍ය ජීවිතයේ බාහිරවූ ද ආධ්‍යාත්මික වූ ද දියුණුවටත් යහපතටත් අදාළ දේ බවත් ඩිලයිල් බර්න්ස් මහතා කියයි.[22]

දේශපාලනයෙහි අත්තිවාරම සමාජය නිසි පරිදි සකස් කිරීමට ඇති ආසාව බව ලන්ඩන් විශ්වවිද්‍යාලයේ අර්ථශාස්ත්‍රය පිළිබඳ ආචාර්යවූ ද, බ්‍රිතාන්‍ය ආණ්ඩුවේ ආර්ථික උපදේශක මණ්ඩලයේ සාමාජිකවූ ද, ජී. ඩී. කෝල් මහතා කියයි.

අද සමස්ත ලෝකයෙහි ම දේශපාලන විශේෂඥයන් හැටියට පිළිගනු ලබන මේ ශ්‍රේෂ්ඨ පඬිවරුන්ගේ විවරණයන් ගැනත්, පෙර විසූ උතුමන්ගේ අදහස් ගැනත් නුවණින් සලකා බලන විට දේශපාලනය "තක්කඩින්ගේ අන්තිම රක්ෂාස්ථානයක්" හෝ "පොරපිටියක්" හෝ "හොරකමක්" නොවන බවත්, පිරිසිදු චරිතයෙන් හා අවංක අදහසින් යුත් සිල්වත් ගුණවත් උතුමන් විසින් ලෝකයාගේ යහපත පිණිස කළයුතු ශ්‍රේෂ්ඨ මෙහෙයක් බවත් පැහැදිලිව ම පෙනෙනවා ඇත. කොටින් ම කියතොත් මහජනයාගේ මෙලෝ පරලෝ දෙක්හි ම යහපත පිණිස වුවමනා කරන ඉගෙනීම, සනීපාරක්ෂාව, චරිතවර්ධනය, ආර්ථිකත්වය ආදි දේවල් නිසි පරිදි දියුණුකිරීම දේශපාලනයයි.

ලෝකයාගේ යහපත සඳහා මෙබඳු උතුම් සේවයක යෙදීම භික්ෂූන්ට අකැප යයි සමහරුන් සිතන්නේ මක්නිසාදැයි සොයා බැලීම වටී.

---

21. "It is judged by what it offers to its members in terms of the things they deem to be good. Its roots are laid in their minds and hearts." *Ibid.* p. 37.

22. ".....the interest of the political thinker is the maitenance and development of civilized life......political facts are those which are involved in the betterment of human life, called the progress of civilization, matrerial, intellectical and emotional." *Political Ideals*, p. 294.



**ලංකා එක්සත් භික්ෂුමණ්ඩලයේ මෙහෙයීමෙන් 1946 ජූනි 29 සෙනසුරාද කොළඹ නගරශාලාවේ පවත්වන ලද මහා සංඝසභාව**



**ගෝල්ෆේස්හි මහා සභාවක භික්ෂූන්වහන්සේ නමක් (වල්පොළ රාහුල හිමි) කථාවක් පවත්වති.**

දේශපාලනය මෙන්ම බුද්ධාගමත් භික්ෂු ජීවිතයත් වරදවා තේරුම් ගැනීම මීට එක් හේතුවකි. මහජනයාගේ දියුණුව සඳහා කරන කිසිත් වැඩකට භික්ෂූන් සහභාගී නොවී, තමන්ගේ පාඩුවේ පසකට වී, අනුන්ගෙන් ලැබෙන සිවුපසය වළඳා, ලෝකයාට කුමක් වුවත් තමන්ගේ ගැලවීම කරගත යුතු යයි සමහරු කල්පනා කරති. මෙය සම්පූර්ණයෙන් ම බුද්ධාගමත් භික්ෂු ජීවිතයත් වරදවා තේරුම් ගැනීමකි. බුද්ධාගමේ උසස් අදහස් අමතක කිරීමකි.

භික්ෂුව, ලෝකයාට කුමක් වුවත් තමාගේ සැපත ගැන පමණක් සිතන, ආත්මාර්ථකාමී, බියගුලු, නිවට, පහත් පුද්ගලයෙක් නොවේ. නියම භික්ෂුව තමාගේ සැපතට වඩා අනුන්ගේ සැපත ගැන සලකන පරාර්ථකාමී වීරපුරුෂයෙකි. සුමේධ තාපසයන් මෙන් තමාගේ නිර්වාණය පවා අනුන් වෙනුවෙන් අත්හරින්නෙකි. බුද්ධාගමේ අත්තිවාරම පරාර්ථසේවයයි. අනුන්ට කුමක් වුවත් තමාගේ සැපය ගැන සිතන්නා භික්ෂුවක් තබා බෞද්ධයකු හැටියටවත් ගණන් ගතහැකි නොවේ.

යම් කිසි භික්ෂුවක් ශීලාදි ගුණධර්මයන්ගෙන් යුතුව, පවිත්‍ර චරිතයක් ඇතිව, භාවනාවෙන් වැඩූ සිතක් ඇතිව, පුද්ගලික ආශාවන්ගෙන් තොරව, ලෝකයාගේ මෙලෝ පරලෝ දෙක්හි යහපත සඳහා පරාර්ථකාමී පිරිසිදු චේතනාවෙන් දිවා රෑ දෙක්හි ක්‍රියාකරයි නම්, මෙය දේශපාලනය වුවත් වෙන කුමක් වුවත්, ආගමට විරුද්ධය කියා හෝ භික්ෂුවට අකැපය කියා හෝ සිතීම තරම් වැරදි අබෞද්ධ අදහසක් ඇතිවිය නොහැක. මීට වඩා ශ්‍රේෂ්ඨ ජීවිතයක් ලෝකයෙහි තවත් තිබේ ද?

දේශපාලන කටයුතුවල හෙවත් මහජන සේවයෙහි යෙදීමෙන් භික්ෂුවගේ සීලයට බාධා පැමිණෙතැයි සමහරු බියවෙති. එහෙත් ගුණධර්මයෙන් තොරවූ, භාවනාවෙන් සිත නොවැඩූ, පිරිසිදු චරිතයක් නැති භික්ෂුවට කිසිකලෙකත් සැබෑ මහජන සේවයක් කළ නොහැක. එසේ කළ හැකැයි සිතතොත් එය බලවත් මුළාවකි. මහජන සේවයෙහි යෙදෙන භික්ෂුවට වනගතව භාවනා කරන භික්ෂුවට වඩා උසස් උතුම් ශ්‍රේෂ්ඨ ගුණධර්ම ඒකාන්තයෙන් ම ඇතිවිය යුතුයි. එහෙත් වනගතව භාවනා කරන භික්ෂූන් අතර අපිරිසිදු චරිතයෙන් යුක්තවූවන් සිටින්නාක් මෙන් ම මහජන කටයුතුවල යෙදෙන භික්ෂූන් අතරත් අපිරිසිදු චරිතයෙන් යුක්ත වූවන් ඇතිවීම නොවැළැක්විය හැකි දෙයකි.

අද ජීවත්වන 30,000කට අධික විශාල භික්ෂු පිරිසක් භාවනා කරන්නට වනගත වෙනවා ඇතැයි කිසිසේත් සිතිය නොහැක. එසේ ම නම්, උන්වහන්සේලා අද ජීවත්වන්නාක් මෙන්, තමන්ටවත් අනුන්ටවත් එතරම් වැඩක් නැති ජාතියට බරක් වූ රටට බරක් වූ අලස ජීවිතයක් ගතකරන්ට ද? නැතහොත් තමන්ටත්, රටටත්, ජාතියටත්, ආගමටත් වැඩක් සිදුවන ක්‍රියාමාර්ගයක යෙදෙන්ට ද?

මෙය හුදු ආගමික ප්‍රශ්නයක් නොවේ. මෙය ආගමික වූ ද, ජාතික වූ ද, ආර්ථික වූ ද, සාමාජික වූ ද, ඉතා බරපතළ ප්‍රශ්නයකි.

භික්ෂූන් දේශපාලන කටයුතුවලට සහභාගී වෙනවාට විරුද්ධව සිටින තවත් පිරිසක් නම්, දැනට අයුතු ලෙස දේශපාලන බලය සහ රටේ වෙනත් බලතල අතට ගෙන සිටින ධනවත් බලවත් පක්ෂයයි. භික්ෂූන් නිදහස්ව රටේ වැඩට බැසීමෙන්, මේ පක්ෂය දූප්පත් මහජනයාට කරන අයුතු ප්‍රසිද්ධියේ ම හෙළිකිරීමෙන් මේ පින්වතුන්ගේ බලයට හානි පැමිණෙතැයි ඔවුහු බිය වෙති. මෙය ඉතා ස්වාභාවික භීතියකි.[23]

පසුගිය කාලයේ නොඑක් නිකායවල නායක ස්ථවිරයන් වහන්සේලාත්, විහාරාධිපති මහාස්ථවිරයන් වහන්සේලාත්, මන්ත්‍රීන් තේරීම්වල දී ප්‍රසිද්ධියේ ම ඉදිරියට අවුත් නොඑක් අන්දමින් යම් යම් අයට ආධාර කළ බව කවුරුනුත් දන්නා සත්‍යයකි. හැම දෙනා ම මෙය දේශපාලන කටයුත්තක් හැටියට භාරගත්හ. ඒ කාලයේ ඒවා නතර කිරීමට සාකච්ඡා සබා පැවැත්වීමක් හෝ පත්‍ර මාර්ගයෙන් උද්ඝෝෂණයක් හෝ නොකරන ලදී. එහෙත් අද භික්ෂූන් දේශපාලන කටයුතුවලට සහභාගී වෙනවාට විරුද්ධව එක්තරා පක්ෂයක් විසින් උද්ඝෝෂණයක් කරනු ලැබේ. මීට හේතුව කුමක් ද?

---

23. භික්ෂූන් දේශපාලන කටයුතුවලට සහභාගිවීමෙන් බුද්ධාගමේ පවිත්‍රත්වයට කැලල් වෙතැයි ක්‍රිස්තු භක්තික ඉංග්‍රීසි මහතුන්ට අයත් "ටෛම්ස්" පත්‍රය ද තදින්ම වැලපෙයි. (The Times of Ceylon Editorial, February 20 1946). මේ ක්‍රිස්තියානිකාර ඉංග්‍රීසි මහතුන් තුළ බුද්ධාගමේ පවිත්‍රත්වය රැකගැනීමට මෙතරම් බලවත් ශ්‍රද්ධාවක් ඇතිවූයේ මක්නිසාදැයි බ්‍රිතාන්‍යයන්ට ලංකාව යටත්වීමෙන් පසු සිදුවූ දේ ගැන මේ පොතේ සඳහන් කොටස කියවූ කාට වුවත් පහසුවෙන් තේරුම් ගතහැක.

ඒ කාලයේ නායක ස්ථවිරයන් වහන්සේලා ආදි භික්ෂූන් දේශපාලන කටයුතුවලට සහභාගීවූයේ දේශපාලනය ගැන වැටහීමක් ඇතිව හෝ දේශපාලන ප්‍රතිපත්තියක් අනුව නොව, යම් යම් ධනවත් බලවත් ප්‍රභූන්ගේ ඉල්ලීම අනුවය. එය සම්පූර්ණයෙන් ම ධනවතාට බලවතාට අවනත වීමක් පමණකි. එහෙත් අද හොඳ ඉගෙනීමක් ඇති, නොයෙක් ප්‍රශ්නයන් ගැන වැටහීමක් ඇති, රටට ජාතියට ආගමට භක්තියක් ඇති භික්ෂූන් වහන්සේලා අධිපතීන්ගේ වචනයට අවනත නොවී, නිදහස්ව පොදු මහජනයාගේ අයිතිවාසිකම් ගැන ඔවුන්ට කියා දීමට ඉදිරිපත් වී සිටිති. මේ ක්‍රියාව අද රටේ බලය අයුතු අන්දමින් අතට ගෙන සිටින ප්‍රභූපක්ෂයට අතිශයින් ම අන්තරායකර බැව් ඔවුහු දනිති. එහෙයින් ම භික්ෂූන් දේශපාලන කටයුතුවලින් ඉවත් කිරීම තමන්ගේ ආරක්ෂාව සඳහා කළ යුතු එකම ක්‍රියාව බැව් ද ඔවුහු දනිති.

ග්‍රාම ප්‍රතිසංස්කරණයත් දේශපාලනයට අයත් වුවත් ඒ කටයුතු භික්ෂූන් කරනවාට ධනවත් බලවත් පක්ෂය මේ තාක් විරුද්ධ නොවීය. ඊට හේතුව නම් මේ තාක් කරන ලද ග්‍රාමප්‍රතිසංස්කරණ වැඩ ධනවත් ප්‍රභූන්ගේත් ආණ්ඩුවේ නිලධාරීන්ගේත් අවසරය අවවාද පිට ඔවුන්ගේ අදහසට හා කැමැත්තට අනුව කිරීමයි. බලවතුන්ට විරුද්ධව දුප්පත් ගම්වැසියන්ගේ නියම අයිතිවාසිකම් රැක දීමක් මේ තාක් එයින් සිදු නොවීය. ඇත්ත වශයෙන් එයින් සිදුවූයේ අසරණ ගම්වැසියන් තවතවත් භයගන්වා නිවට තත්ත්වයකට දමා ධනවතුන්ට සහ නිලධාරීන්ට ඔවුන් හීලෑකර දීමකි. මෙයින් ජාතික දියුණුවටත් නිදහසටත් බාධා ඇති වන බැව් ඒ පින්වත්හු නොදනිති.

යම්කිසි දවසක දුප්පත් ගම්වැසියන් අයුතු ලෙස පාගා ගෙන සිටින බලවතුන්ට විරුද්ධව, ගම්වැසියන්ගේ නියම අයිතිවාසිකම් රැකදීම සඳහා හැබෑ ග්‍රාමප්‍රතිසංස්කරණයක් භික්ෂූන් ආරම්භ කළහොත්, අද දේශපාලන බලය අතට ගෙන සිටින්නවුන්ගේ ක්‍රියාමාර්ගයේ වරද නිසා ගම්වැසියන් මේ දුඃඛිත තත්ත්වයේ ජීවත්වන බව කියා සත්‍යය හෙළිකොට හැබෑ ග්‍රාම ප්‍රතිසංස්කරණයක් ආරම්භ කළහොත්, එදාට ග්‍රාමප්‍රතිසංස්කරණ වැඩ ද භික්ෂූන්ට

අකැප බවත්, ශාසනයට විපත්තියක් බවත් ප්‍රකාශකොට සාකච්ඡා සභා පැවැත්වීමටත් පත්‍රමාර්ගයෙන් උද්ඝෝෂණය කිරීමටත් පටන්ගන්නා බැව් නිසැකව ම ප්‍රකාශ කළහැක.

අපේ සමහර ධනවත් බෞද්ධ ප්‍රභූන් විරුද්ධ වන්නේ ඔවුන් දේශපාලනයයි කියන කටයුතුවල භික්ෂූන් යෙදෙනවාට පමණක් නොවේ. උන්වහන්සේලා අධ්‍යාපන කටයුතු, බෞද්ධ කටයුතු ආදි වෙනත් වැදගත් දේ කරනවාටත් ඒ පින්වතුන් අකැමැති බැව්, වචනයෙන් නොකීවත්, ක්‍රියාවෙන් පෙනීයයි.[24]

පරමවිඥානාර්ථ බෞද්ධ සමාගම බෞද්ධ අධ්‍යාපනය කරන බෞද්ධ සමිතියකි. එය භික්ෂූන්ගේ සහයෝගයෙන් පිහිටුවන ලද්දකි. එහෙත් අද භික්ෂූන්ට එහි කිසිත් අයිතියක් නැත. භික්ෂූන්ට එහි සාමාජිකකමක්වත් නැති බැව් ප්‍රසිද්ධය. එහි සියලු ම නිලතල ප්‍රභූපංතියේ ධනවත් ගිහියෝ ම උසුලති. බෞද්ධ සම්මේලනය දේශපාලනය පක්ෂයක් නොවේ. බුද්ධශාසනයේ දියුණුව සඳහා වැඩ කරන්නන්ට කථාකරන සමිතියකි. එහෙත් එහි නිලතල සියල්ල ගිහියෝ ම උසුලති. භික්ෂූන්ට එහි කිසිත් අයිතියක් නැත. තවත් බොහෝ සමිති සමාගම්වල තත්ත්වය ද මෙසේ ම ය.[25]

24. භික්ෂූන් නවීන අධ්‍යාපනයක් ලබනවාට පවා විරුද්ධ වන බෞද්ධයෝ සිටිති.

25. එහෙත් මේ සමිතිවල අනුශාසක ධුරයට වර්ෂයක් පාසා එක නමක් නොව, නායකස්ථවිරයන් වහන්සේලා කීපනමක් ම පත්කර ගනු ලැබෙත්. වර්ෂයකට වරක් සාංවත්සරික උත්සවයේ දී මෙයින් අනුශාසක ස්ථවිරයන් වහන්සේ නමක් වැඩමවා, හොඳ සුදු ඇතිරිල්ලක් පුටුවකට දමා, එහි වඩා හිඳුවා, සාමාජිකයෝ මහත් භක්තියෙන් උන්වහන්සේගෙන් පන්සිල් සමාදන් වී, ධර්මානුශාසනාවක් අසති. මුළු අවුරුද්දට ම උන්වහන්සේගේ අනුශාසකත්වය මෙයින් කෙළවර වෙයි. සමිතියේ වැදගත් ප්‍රශ්නවලදීවත් ආරාවුල් වියවුල්වලදීවත් සාමාජිකයෝ උන්වහන්සේගේ අනුශාසනා නොලබති. අහිංසක නායක හාමුදුරුවෝ ද ඒ අනුශාසකත්වයෙන් තෘප්තියට පත්වෙති. සමිතියක අනුශාසකත්වය වැඩකට නැති රැවටීමක් බව උන්වහන්සේ නොදනිති. නොහොත් නොසලකති.
භික්ෂූන් අනුශාසකයන් හැටියට සලකන බැව් බෞද්ධ ප්‍රභූහු නිතර ම කියති. එහෙත් කිසි ම වැදගත් ප්‍රශ්නයක දී අනුශාසනා නොලබති. පසුගියදා පරමවිඥානාර්ථ බෞද්ධ සමාගමේ වියවුල් ඇති වූ වේලේ අනුශාසකයන්ගේ අනුශාසනා ඇසීමක් හෝ පිළිපැදීමක් නොවීය. ලංකාවාසී ලක්ෂසංඛ්‍යාත ජනකායකගේ අනාගත සැපත හෝ විපත සලසන සොල්බරි ආණ්ඩුක්‍රමය ද, ඊට කලකට පසු "ඩොමිනියන් තත්ත්වය" ද මෙහි ගෙන ආ වේලේ, එය භාරගැනීම සුදුසු ද නැද්දැයි සංසයාගෙන් අනුශාසනා ලැබීමට ගරු කටයුතු ඩී. ඇස්. සේනානායක ඇමැතිතුමා ආදී බෞද්ධ ප්‍රභූහු කල්පනා නොකළෝ ය.

මීට එක් හේතුවක් නම්, දක්ෂ විචක්ෂණ උගත් භික්ෂූන් මේ කටයුතුවලට ඉදිරිපත් වී ක්‍රියා කළහොත්, එයින් ධනවත් බෞද්ධ ගිහි ප්‍රභූන්ගේ බලයටත් තත්ත්වයටත් හානියක් වේය යන අස්ථාන භීතියයි. තවත් හේතුවක් නම් ඔවුන් එම බෞද්ධ කටයුතුවල පුරෝගාමීව යෙදී සිටින්නේත් ඒ මගිනුත් තමන්ගේ දේශපාලන බලය තව තවත් තහවුරු කරගන්නා අදහසින් නිසා, ඒවා අත්හැරීමෙන් එම දේශපාලන බලය නැතිවේය යන භීතියයි. සාමාන්‍ය පෘථග්ජනයන් තුළ මෙබඳු භයක් ඇතිවීම පුදුමයක් නොවේ. එහෙත් භික්ෂූන්ට කිසිත් බලයක් වුවමනා නැත. වුවමනා කරන්නේ රටට ජාතියට ආගමට සේවයක් කිරීම පමණකි. යම් යම් අයගේ පුද්ගලික බලය රැකගැනීමේ බලාපොරොත්තුවෙන් ඊට වුවමනා අවස්ථාවටත් නිදහසටත් බාධා කරන්නට තැත් කිරීම බලවත් අපරාධයකි.

## II උපග්‍රන්ථය

# භික්ෂූන් හා දේශපාලනය

### විද්‍යාලංකාර පිරිවෙනේ ප්‍රකාශය

භික්ෂුසංඝයා කැමැති නම් ඛුද්දානුඛුද්දක විනයශික්ෂාපද වෙනස් කරගැනීමට බුදුරජාණන් වහන්සේගෙන් අවසර ලැබී තිබේ. එසේ නමුත් මේ දක්වා කිසි ම අවස්ථාවක ථෙරවාදී භික්ෂූන් විනය ශික්ෂාපද වෙනස්කළ බවක් ඉතිහාසයෙන් ඔප්පු නොවේ. එසේ ම එම ශික්ෂාපද දැනුදු වෙනස් කළ යුතු යයි අපි නොකියමු.

නමුත් බුද්ධකාලයෙහි පැවති ආර්ථික, සාමාජික, දේශපාලන තත්ත්වයට වඩා අද තත්ත්වය වෙනස්වී තිබෙන බවත්, එහෙයින්ම එකල පැවති භික්ෂුජීවිතයට වඩා අද භික්ෂුජීවිතය වෙනස්වී තිබෙන බවත් පිළිගත යුතුය.

එකල බොහෝ සෙයින් ම භික්ෂූන්ගේ පරමාර්ථය වූයේ එම ආත්මයේ දී ම නිවන්දැකීම යි. පසු කාලවල භික්ෂූන්ගේ පරමාර්ථය වූයේ මතු නිවන්දකින බලාපොරොත්තුවෙන් ශක්ති පමණින් ආත්මාර්ථ පරාර්ථ දෙක්හි යෙදීමයි.

මේ වෙනස්වීම නිසා මුලදී පැවති භික්ෂුජීවිතයට වඩා වෙනස්කම් රාශියක් ම පසු කාලවල භික්ෂු ජීවිතයෙහි ඇති වූ බව ඉතා පැහැදිලිව පෙනේ.

අද පවත්නා ආරාම පන්සල් ජීවිතය, පිරිවෙන් ජීවිතය, සිංහල සංස්කෘතාදි භාෂාශාස්ත්‍ර ඉගෙනීම හා ඉගැන්වීම, විභාග ගැනීම, පොත්පත් පත්‍ර සඟරා සකස්කිරීම, නායකපදවි දීම හා තිලතල දැරීම ආදි කුඩු මහත් කටයුතු ගැන සලකා බැලීමේ දී භික්ෂු ජීවිතය වෙනස්වී තිබෙන බවත් එම වෙනස්වීම නොවැළැක්විය හැකි දෙයක් බවත් පිළිගත යුතුය.

අද ලෝකයෙහි මනුෂ්‍යයන්ගේ යහපත පිණිස කරන හැම වැඩපිළිවෙළක් ම දේශපාලනයට අයත් යයි අපි විශ්වාස කරමු. ආගම දියුණුවට ක්‍රියා කිරීම භික්ෂුවට අයිති යුතුකමක් බව කවුරුත් පිළිගනිති. ආගම දියුණුව පවතින්නේ එය අදහන රටවැසියාගේ දියුණුව උඩ ම බව පැහැදිලිය. සිංහල මනුෂ්‍යයා, බුද්ධාගම්කාරයා යම් කලක දියුණු නම්, බුද්ධාගමේ දියුණුවත් එම කාලයේ ම බව ඉතිහාසයෙන් ඔප්පුවෙයි. එබැවින් භික්ෂු ජීවිතයට කැලැල් නොවන පරිද්දෙන් අපේ රටවැසියාගේ යහපතට හේතුවන යම් වැඩපිළිවෙළක් වේ නම් - එහි නම දේශපාලනය හෝ වේවා කුමක් හෝ වේවා - එහි යෙදීම භික්ෂූන්ට සුදුසු ම ය.

සිංහල භික්ෂූන් වහන්සේ මුල්කාලයේ පටන් ම සිංහල ජාතියේත්, සිංහල දේශයේත්, බුද්ධශාසනයේත් දියුණුව පිණිස පුරෝගාමීව ක්‍රියා කරමින් ම භික්ෂුජීවිතය ගතකළ බව අමතක කළ නොහැකිය.

අධ්‍යාපන කටයුතු, ග්‍රාමප්‍රතිසංස්කරණ කටයුතු, අපරාධ මර්දන කටයුතු, සහනදායක කටයුතු, අමද්‍යප කටයුතු, සාමාජික කටයුතු ආදියට මූලිකව සම්බන්ධව ක්‍රියා කරමින් අදත් භික්ෂූන් වහන්සේ දැන හෝ නොදැන දේශපාලන කටයුතුවල යෙදී සිටිත්. භික්ෂූන් මේ කටයුතුවල යෙදීම වරදකැයි අපි නොපිළිගනිමු.

රටවැසියාගේ දියුණුව සඳහා ක්‍රියා කිරීම මෙන් ම ඔවුන්ගේ දියුණුවට බාධකවන කරුණුවලට විරුද්ධව ක්‍රියාකිරීමත් භික්ෂූන්ට අයත් බව අපි පිළිගනිමු. උදාහරණයක් වශයෙන් කියතොත් අපේ රටවැසියාගේ පොදු දියුණුව සඳහා මේ ළඟදී ලැබුණු නිදහස් අධ්‍යාපනය විනාශ කරලීමට කරන හැම උත්සාහයකට ම විරුද්ධව ක්‍රියාකොට එය චිරස්ථායී කරගැනීම භික්ෂූන්ට අයත් පරම යුතුකමකි.

පෙර විසූ සිංහල ගිහි පැවිදි උතුමන් ජාතියේ දියුණුවත් ආගමේ දියුණුවත් දෙකක් හැටියට නොව එකක් හැටියට ම කල්පනා කළ බව ඉතිහාසයෙන් පෙනේ. ආගමත් ජාතියත් දෙකක් හැටියට වෙන්කොට සැලකීමට ලක්වැසියාට පුරුදු කරන ලද්දේ අන්‍යලබ්ධික බටහිර ආණ්ඩුකාර පක්ෂය විසිනි. එය මෙරට යටත්කොට තබාගෙන හිතුමනාප අන්දමින් පාලනය කිරීමේ පහසුව සඳහා ඔවුන් විසින් දූරදර්ශීව කරන ලද ව්‍යාපාරයකි.

අන්‍යාලබ්ධික විදේශීය ආණ්ඩුකාර පක්ෂය විසින් නොයෙක් උපක්‍රම බලයෙන් බොහෝ උත්සාහකොට ගිහිපැවිදි සම්බන්ධය ඇත් කරලීම පිණිස රටවැසියාගේ නොව තමන්ගේ ප්‍රයෝජන තකා කරගෙන ගිය එම ව්‍යාපාරය අනුගමනය කොට භික්ෂූන් සමාජයෙන් ඈත් කරලීමට උත්සාහ කිරීම කිසිසේත් ම නොකළ යුතු දෙයකි. එසේ ම එය තම රටට ජාතියට ආගමට කරන බරපතළ අපරාධයකි.

එහෙයින් අපේ භික්ෂූන් වහන්සේත් අපේ බෞද්ධ ප්‍රභූපක්ෂයත් සිහිබුද්ධියෙන් තොරව වැඩිදුර කල්පනා නොකොට ඉක්මන් වී ජාතිය හා ආගම පිරිහීමට මඟ පාදා නොගත යුතු බව ප්‍රකාශ කරම්හ.

මේ බවට,

පැලියගොඩ විද්‍යාලංකාර පරිවේණාධිපති ත්‍රිපිටක වාගීශ්වරාචාර්ය උපාධ්‍යාය ධූරන්ධර කිරිවත්තුඩුවේ ධර්මකීර්ති ශ්‍රී ප්‍රඥාසාරාභිධාන කොළඹ හලාවත දෙදිශාවේ ප්‍රධාන සංඝනායක ස්ථවිරයන් වහන්සේ වම්හ.

ශ්‍රී ප්‍රඥාසාර

13-2-46
විද්‍යාලංකාර පිරිවෙන.

---

මෙම ප්‍රකාශය 1946 පෙබරවාරි මස 13 වැනි බදාදා විද්‍යාලංකාර පිරිවෙන්හි ආචාර්ය මණ්ඩලය විසින් එකච්ඡන්දයෙන් සම්මත කරන ලදී.

# III උපග්‍රන්ථය

## කැලණි විහාරයේ දේශපාලන ප්‍රකාශය

### ස්වස්ති

### ශ්‍රී ලංකාද්වීපවාසී මහාසංඝයාගේ ප්‍රකාශයයි

මෙයින් පස්විසි ශතවර්ෂයකට පූර්වයෙහි අපගේ මුතුන්මිත්තන් විසින් මේ ශ්‍රී ලංකාද්වීපවාසී මහාජනයාගේ ජීවිතය හා නිදහස සුරක්ෂිත කරනු පිණිස ද, සෞභාග්‍ය සංවර්ධනයට අවශ්‍ය අයිතිය හා අවස්ථාව තහවුරු කරගැනීම පිණිස ද ස්වාධීන ස්වෛරී ස්වතන්ත්‍ර ජනසමාජයක් ස්ථාපිත කරන ලද්දේය. අපගේ සම්මා සම්බුද්ධ පියාණන් විසින් සුදේශිත සදාකාලික ආර්ය ධනයට භාණ්ඩාගාරික වූ අප මහාසංඝයා වහන්සේ ඉන් සියවස් කීපයකට මෑත දී පූර්වෝක්ත නිදහස් ජීවිතය හා සෞභග්‍යය පිළිබඳ ආරක්ෂක කුලදේවතාවෝ වූහ. එසේ ම ඒ සමාජය පිළිබඳ සුඛවිහරණය හා නිදහස් සැපත සාදාලීමෙහි නෙතෘවරයෝ ද වූහ.

මනුෂ්‍යජාතීන් මෙන් ම ශිෂ්ටාචාරයෝ ද සදාකාලික නොවෙති. ඔවුහු ඇතිවී දියුණුව පිරිහී නැතිවී යන සුලුය. මෙලොව කිසිවක් සදාකාලික නොවන්නේය. නගරයන්ට හා ජාතීන්ට වඩා ශ්‍රේෂ්ඨ වූ අගනා දේ ඇත්තේය. අපගේ මේ මාතෘභූමිය සියලු කල්හි ම ඒ උතුම් දේ ආරක්ෂා කළාය. හුදු ලෞකික වස්තු සම්භාරය පමණක් ම සැපයට හා සැනසීමට අසහාය හේතුව නොවේ. මනුෂ්‍ය වර්ගයාගේ උදාරත්වය ගෙනදෙන නියම සෞභාග්‍යයේ ලක්ෂණ ඇති කිරීමට පූර්වෝක්ත ලෞකික සම්පත් සමුදාය පමණක් සමර්ථ නොවේ.

"ලෝකයාගේ සාමයට බාධා කරන්නෝ" සාර්ධශතවර්ෂ සතරකට පෙර මෙහි පැමිණ මෙම ද්වීපවාසී ජනයාගේ ස්වතන්ත්‍ර ජීවිතය හා ස්වෛරීභාවය පිළිබඳ උරුමයට විරුද්ධව අභියෝග

කොට සියලු කල්හි ම මේ ශ්‍රී ලංකාද්විපවාසීන් මහඟු කොට සැලකූ දෙය නොව අනිකක් ම මෙහි පතුරුවන්නට තැත් කළෝය. ශ්‍රී ලංකාද්වීපයට ආවේණික වූ ආත්මධෛර්යයෙන් යුත් වීරපුරුෂයන්ගේ ඌනත්වයක් කිසිකලකත් මේ ධර්මද්වීපයෙහි විද්‍යමාන නොවීම අපගේ කීර්තිප්‍රභාවය වේ. අපේ ඒ ජාතිකවීරයන් පූර්වෝක්ත අභියෝගයට අභීතව අභිමුඛව ගමන්කළ හෙයින් විදේශිකයන්ට විරුද්ධ භීෂණ මහාසංග්‍රාම ශතසංවත්සර තුනක් මුළුල්ලේ අඛණ්ඩව පැවැතිණ.

ඉක්බිති රටවැසියන්ගෙන් එක්තරා පක්ෂයක් කිසිඳු ජාතික සම්මතියක් නැතිව ඒ විදේශීය ආක්‍රාමකයන්ගෙන් අන්තිමයාට රට පාවා දුන්නේය. එතැන් පටන් ඒ අන්තිම ආක්‍රාමකයාගේ බලපෑම හේතු කොටගෙන ලංකාවාසීන්ගේ ස්වෛරීභාවයත් සෞභාග්‍යයත් ක්‍රමයෙන් හායනපක්ෂයට පත්විය. එතෙකුදු වුවත් මෑත අතීතයෙහිදී හෝ ඈත අතීතයෙහි දී කිසියම් පිරිසක් විසින් කරන ලද ක්‍රියාවක් හෝ ක්‍රියාවන් ද ගිවිසගත් ගිවිසුමක් හෝ ගිවිසුම් ද ඇති වූ පමණින් ශිෂ්ටසමාජ වශයෙන් සංස්ථාපිත ජාතීන්ට හිමිවන අයිතිය පශ්චිම ජනතාවට අහිමිකළ නොහැක්කේ ම ය. ගතවූ එක්සිය එක්තිස් වසක් මුළුල්ලේ ස්වකීය උරුමයෙන් පරිබාහිර කරන ලදුව සිටි මහජනයා අද දින පරාධීනව බන්ධනගතව සිටීමට කිසිසේත් කැමති නොවේ.

එසේ හෙයින් මේ ද්වීපවාසී මහජනයාගේ ජීවිතය හා නිදහස පිළිබඳ ආරක්ෂකයන් වූ ද, ඒ ජනතාවගේ සමෘද්ධිය, සෞභාග්‍යය හා සන්තුෂ්ටිය සංවර්ධනයෙහි නෙතෘවරයන් වූ ද, ශ්‍රී ලංකාද්වීපවාසී මහාසංඝයා වන අප, තථාගත ශාස්තෘවරයාණන් වහනසේගේ ශ්‍රී පාදස්පර්ශයෙන් පවිත්‍ර වූ මෙම පරමවිශුද්ධ ශුද්ධභූමියෙහි රැස්වී, මේ දිවයින් වැසි මහජනයා වෙනුවෙන්, මෙයින් ප්‍රකාශකර සිටින ප්‍රකාශයේ වගහැටි නම්:

> අපේ මේ ලංකාද්වීපය ස්වාධීන ස්වෛරී, ස්වතන්ත්‍ර උරුමයට හිමිකම් ඇති රාජ්‍යයක් බව ද, අන්‍ය කිසිම බලයකට හෝ රාජ්‍යයකට හෝ කිරීටයකට යටත්ව පක්ෂපාතව නොසිටීමට තීරණය කරගත් බව ද, මෙරට හා අන්‍ය කවර රටක් සමග වුවත් පැවැත එන සියලු දේශපාලන සම්බන්ධකම් මෙයින් අවලංගු කළ යුතු බව ද, එසේම නිදහස් නිවහල් ස්වෛරී බලතල සහිත රාජ්‍යයක් වශයෙන් මේ ශ්‍රී

ලංකාද්වීපයට මෙතැන් පටන් ස්වකීය නිදහස හා නිවහල් සෛවරීබලය සුරක්ෂිත කරගැන්ම සඳහාත් අන්‍ය ජාතීන් සමග අවශ්‍ය සමගි සන්ධාන ආදියට බැඳීම සඳහාත් මුළු ස්වතන්ත්‍ර රාජ්‍යයන් විසින් කරගැනීමට උරුමවාසිකම් ඇත්තාවූ අන්‍ය සියලු කටයුතු කිරීම සඳහාත් බලය අප සතු විය යුතු බව ද මෙයින් ප්‍රකාශකර සිටුම්හ.

අපේ මේ ක්‍රියාවෙහි ඇත්තාවූ යුක්තියුක්ත භාවය සාධාරණව සලකා පිළිගන්නා ලෙසත්, මේ ප්‍රකාශයෙන් කියා සිටින උරුමවාසිකම් ගැන හෘදයසාක්ෂියට අනුව අනුබල දෙන ලෙසත් ශ්‍රී ලංකාද්වීපවාසී මහාසංඝයා වන අපි ලෝකවාසී යුක්තිගරුක සියලු ජාතීන්ගෙන් ම මෙයින් ඉල්වා සිටුම්හ. ලංකාවාසී සත්පුරුෂ ජනතාව වෙනුවෙන් මේ ප්‍රකාශය කළාවූ අප එම ප්‍රකාශයේ පරමාධ්‍යාශය යථාශක්තීන් සාර්ථක කරගැනුම් වස් සමගි සම්පන්නව ද, ධෛර්යසම්පන්නව ද, ප්‍රඥානුයාත වීර්යයෙන් ක්‍රියා කරන ලෙස අපේ මහජනයා වෙත මෙයින් නිවේදනය කරන අතර ම, ශ්‍රී ලංකාද්වීපවාසී මහාසංඝයා වන අපි ද ඒ විශිෂ්ටවූත් ශ්‍රේෂ්ඨවූත් අධිෂ්ඨානය මුදුන්පත් කරගැනීම පිණිස අප්‍රතිහත ධෛර්යයෙන් ලංකාවාසී මහජනයා හා සහයෝගයෙන් ක්‍රියාකිරීමට මෙයින් බැඳී ප්‍රතිඥාකර සිටුම්හ.

මෙම සම්මුතිය මෙසේ ප්‍රකාශ කරන්ට යෙදුණේ ශ්‍රී කල්‍යාණී රජමහා විහාරස්ථානයෙහි ඉදිකරන ලද අභිනව ගන්ධකුටියෙහි වැඩසිටින අප සම්මාසම්බුද්ධ ශාස්තෘවරයාණන් වහන්සේගේ අනුපම බුද්ධවිලාසය හඟුන්වන සලපිළිම වහන්සේගේ නේත්‍රප්‍රතිෂ්ඨාපන මංගල්‍යය සිදු වූ ශ්‍රී බුද්ධවර්ෂ දෙදහස් සාරසිය අනූවැන්නෙහි දුරුතු මස, අප බුදුරජාණන් වහන්සේගේ ප්‍රථම ලංකාගමනය සිහිකිරීම් වස් සාංවත්සරික මහෝත්සව විධි පවත්වන මංගල්‍යය දිනය වූ මේ උතුම් පුරපසළොස්වක් ලත් සඳු දිනදීයඃ

# IV උපග්‍රන්ථය
# ඉංග්‍රීසි ලියුම්

71 පිට

From *Mediaeval Sinhalese Art* by Ananda. K. Coomaraswamy p. 45:

"Besides the relation in which the priests stand to their tenants as landlords, and the religious influence of their possession, they have other holds on the affection of the people.Their *pansalas* are the schools for village children, and the sons of even the superior head men are very generally educated at them. They have also, frequently, some knowledge of medicine, and when this is the case they generally give the benefit of their advice gratuitously, which the *vedaralas* seldom do. Add to this that, as every revenue officer who has ever attempted to induce the natives to exert themselves for their own good knows, the priests are generally, when properly applied to, foremost with their money, if rich, or with their influence or both, in furthering every scheme, for local improvement; and from what has been stated, it will be evident that not only is it their interest to bekind and considerate to their tenants, but that they generally are so, and that their influence among the people is, in a social point of view, usefully employed."[quoted from S.T. Report 1872, p. 448].

71 පිට

From *An Account of the Island of Ceylon* by Robert Percival, London, 1803, p. 201:

The Priests of Buddou are in Ceylon accounted superior to all others. They are called Tirinanxes and are held in high estimation at the Court of Candy, where indeed they have the chief management of affairs. The king has no authority over them, but endeavours to gain their good will by respecting their immunities, and loading them with distinctions. They have on many occasions shown their gratitude for these attentions and have muterially assisted him both in repressing disturbances in his own dominions and by exciting the people to support him in his wars against the Dutch.................

"In such high veneration are the Tirinanxes held that their persons are accounted sacred, and the king of Candy, absolute as he is, has no power to take away their lives or any wise punish them even for conspiring against his own life. They choose their Superiors; and their Chief Priest or archbishop is vested with the power of settling all religious disputes. The body of Tirinanxes are elected by the king from among the nobles, and they are consequently men possessed of power and influence even independent of their sacred character."

74 පිට

Letter from Maitland to Mr. Eden, January, 1807:

"Independent however of the Policy I wish to observe with regard to the Modeliars and by a cautious adherence to which you will acquire a more thoro, knowledge of your district than has hitherto been obtained, you have too another Engine in your hands; but the management of which will require extreme caution, prudence and above all secrecy.

It applies to the religion and prejudices of the Cingalese in the district of Matara and will require Considerable explanation:

It is my intention to appoint a committee of Budhoo Priests to whom all cases which occur in your Province, relative either to the

Priests themselves, or their lands and their religious ceremonies, are to be referred to for decision; my object in forming this sort of Committee is first to convince the people that the greatest respect and attention shall be shown to their religious prejudices and customs; secondly to give the priests themselves a fellow- feeling with our Government, and of course an interest in supporting its authority among the inhabitants, and there by to break through the Powerful combination which has hitherto, from want of taking a proper view of the subject, been allowed to subsist between the Modeliars and the Principal Priests to the great detriment of the British Interest, and obvious advantage of the King of Kandy.

In order to enable you to promote the object which I have in view, I shall give you a short account of the institutions of the Priests, of the character of the men who take the lead amongst them, of the intrigues which are kept up between them and the Modeliars, and of the means which you must adopt to counteract them...........................

The influence of the Priests is very great, even greater in many instances than that of the Modeliars themselves, who altho' they pretend to be Christians in consequence of a Dutch regulation, that none but natives of the Reformed Religion should hold the office of Modeliar, are to a man, worshippers of Buddhoo, and totally indifferent to Christianity..................

The Priests who officiate in the temple (i.e. Mookirigala) have prodigious influence in the country, and the Dutch government frequently experienced the effects of it in your Province. It is a political engine which the King of Kandi is Constantly endeavouring to keep in his favour, and one which we ought by good management, to turn to our own advantage. You must therefore do every thing you can to cultivate the friendship, and gain the confidence of the Priests of that Temple.

Your best way of doing so will be going to the place it self and explaining to the Priests most distinctly that the Government is determind not only to tolerate but to support them in the execution of their religion and to bestow such honours, as are most congenial to their feelings upon all those who are distinguished by

the extent of their learning and the propriety of their conduct; let it also be clearly understood by them, that all applications they have to make must be made direct to Government thro' you and that neither the Maha nor any other Modeliar can do them any Benefit or any injury with the present govemment................................

One of the great objects of Caratotte Tiroon Wahansa is to be vested by Govermment with some office which will give him considerable power over the Priests of his province. He was very anxious to be appointed High Priest of Matara and Galle, as soon as he heard that I had some idea of introducing that sort of appointment......................

As soon as you perceive that Caratotte is willing to support Govermment and is completely independent of any of the Modeliars, you may hold out to him the great probability of his being appointed High Priest.

But I cannot impress upon you too strongly that you must observe the greatest caution and secrecy in every step which you take relative to the Priests: in proportion as you gain them to the interests of the Government, you will diminish the influence of the Modeliars and you must therefore expect that the Modeliars will exert themselves to receive you in every point which is likely to convince the Priests of the good intentions of the Government to wards them."

83 පිට

From *Ceylon Under British Rule* by L. A. Mills, pp. 126-128.

"A new phase of the Buddhist question developed in the 'forties, owing to the hostilities of the Ceylon missionaries and their powerful adherents in Great Britain to the British Govemment's connection with 'idolatory'. They objected especially to the appointment of Priests by the Governor, and demanded a complete severance of relation between church and state. Carried away by religious scruples, Governor Mackenzie in 1840 refused to sign the warrants appointing Priests to the chief Temples, because to do so was a 'direct encouragement' to Buddhism................................

In November, 1844, Lord Stanley, the Secretary of State for the Colonies, was won over by the missionaries and instructed the Governor to sever all connection with Buddhism.........................

In 1847 Governor Torrington resigned Buddha's Tooth to the custody of the priests, discontinued the annual allowance of L 300 made towards the cost of the temple rites, and informed the priesthood that the Government's decision to sever all connection with Buddhism was irrevocable."

88 පිට

From a letter form Brownrigg to Bathurst dated March 15, 1815, regarding Clause 5 of the Convention:

"The 5th confirms the Superstition of Boodhoo in a manner more Emphatical than would have been my choice. But as the Reverence felt towards it at present by all classes of the Inhabitants is unbounded and mixed with a strong shade of jealousy, and doubt about its future protection - and that in truth our secure possession of the Country hinged upon this point, I found it necessary to quiet all uneasiness respecting it, by an article of guarantee couched in the most unqualified terms."

89 පිට

Letter from Brownrigg to Bathurst, June 1st, 1816.

My Lord,

.........................

"Among the various points of great interest which occupy Your Lordship's remark on the Act of Convention, my earliest and most anxious attention is due to the doubt which arose on the first impression of the *term inviolable* used in the fifth Article as applicable to the superstition of Boodhoo. I greatly lament that anything under my sanction should have generated even a momentary idea, that I could Possibly have overlooked or neglected the strong and reiterated injunction, by which the dissemination of Christian Knowledge is recommended to my support, in the Instructions and Despatches under which I have the honour to represent His

Majesty's Government here. I venture to hope that the justice Your Lordship has done to the term in question, by construing it from the context, will relieve the Convention from the Odium which would rightly attach to it, if the emancipation of the Kandyan Kingdom and People, However otherwise laudable, were connected with any compromise of the interests of the Christian Faith.

Perhaps I might hope that my Administration of the Government of this Colony has not been of a character to found the supposition, that I should have been indifferent to the propagation of the Gospel, and still less calculated I trust to give countenance to that construction of a doubtful expression, which would impute to me the deliberate act of barring the introduction of Christianity into a country which I have been the humble instrument of annexing to His Majesty's Dominion.

The affirmative part of the clause namely 'that the Rites, Ministers and places of the Boodhoo worship are to be maintained and protected' embraces (as Your Lordship has justly construed it) the sum total of support engaged for on the part of the British Government and the negative term inviolable I can affirm to Your Lordship never to have had greater latitude of acceptation in my mind, than that the Budha Religion should not be abolished or obstructed.

I am so far from considering the Kandyan People as permanently debarred from the light of Christianity, that I think it requires no great share of foresight to predict, that the gloom of ignorance and Superstition which has hither to enveloped that unfortunate region, will at no diffusion of religious knowledge, so that a safe and promising trial may be made of a direct appeal to the reason of the people, for their own happiness, and the honour of that faith which in due time will be universal.

That this period is not yet arrived with respect to the Kandyan Provinces, I am obliged in candour to state: but must beg leave to add that the realization of such a hope, if I should be spared even to hear of it, at whatever distance I may be placed,

will impart to my mind a satisfaction beyond any other which I can expect this life to afford."

### 90 පිට

Letter from Brownrigg to William Wilberforce, June 13, 1816;

"Dear Sir,

I have very lately received in an Enclosure from my friend Sir Henry Calvert, a Letter of yours addressed to Him upon the Subject of an Article in the Convention, by which the Dominion of the kandyan Provinces was vested in the Sovereign of the British Empire.

I cannot disguise the pain and mortification I have felt, upon learning that such an erroneous interpretation as you describe should have deen given to that Treaty, and that from one single Word inferences should have been drawn in direct contradiction to the whole tenor of those principles upon which my Government of this Island has been invariably conducted.

I am however much gratified and consoled by the manner in which you have communicated this painful intelligence; for I see that you have yourself put the just and liberal construction upon my Words, and you offer me through the medium of your Correspondence the most effective method of removing a misconception so injurious to my Character.

I with pleasure avail myself of your desire I should see your Letter to Sir Henry Calvert, and consider it as an invitation to address my Answer directly to yourself.

I reflect also now with much satisfaction upon having even this Correspondence by a Letter which I did myself the honour to write to you on the 22nd of last July, upon the Subject of our Religious progress in the Island.

no part of the Statement you have heard has given me such astonishment as that in which it is said that what is termed the Anti-Christian sense of the Word "inviolable" has been attached to it in this Island.

The term was certainly strong, and although nothing more was meant by it than a complete security from any Kind of Violence to the Budha worship, and a full protection to their religious property; yet if it has been misunderstood anywhere, I sincerely regret that it was ever adopted.

But assuredly the last place in which I expected to hear of such a misconception was the Isaland of Ceylon.

I have been here now more than four years and I may venture to assert without fear of contradiction that the chief objects of my Government, have been the Religious and moral improvement of People, and the propagation of the Gospel............

It has been a matter of peculiar Satisfaction to me that I have seen under my Government, Wesleyans, Presbyterians and Baptists uniting with the regular Clergy of the Church of England, in Preaching the Gospele of our Saviour. Can it be supposed that when a New Field was open for propagating our Holy Religion, I should at once bar the Gate against the introduction of the Christian Faith, that in any part of this Island Christianity should alone be deprived of a right to toleration and that I Should stipulate not for protection of Budha but exclusion of Christ? Be assured, My Dear Sir, I have never entered into such a strange engagement, nor was any Article in the Kandyan Convention ever so understood by either of the contracting Parties. The word "inviolable" has been rendered into Cingalese by a Phrase Signifying literally 'not to be broken down' and so the kandyans clearly received the clause; they considered that I had covenanted not to break down i.e, to overturn their Religion. I have already informed them of my intention to establish a School for teaching English in Kandy, and they have given their decided approbation to the measure.

I believe at present the most sanguine Missionaries in India consider that instructing the Native Youth is the surest means of spreading the Gospel.

I have heard no proposal yet from any Missionary to go into the Kandyan Provinces, and to say the truth, I believe there is no

part of India where at present a Mission would in all likelihood be more unpromissing.....

The good understanding at present between our Countrymen and the Kandyans, will it is to be hoped at no distant period, lead to an opening for great Religious and Moral improvement, in a Country which has for ages been consigned to barbarous ignorance. But hasty or injudicious attempts at the Commencement of our friendly Connection, might do serious Mischief, and much retard the great Work of Conversion.

If ever there was a situation in which a political union with a new and strange people, demanded caution and discretion in adopting measures likely to offend their prejudices and Superstition, my present relation to the kandyan Nation assuredly requires circumspection and caution (prudence?).

If I appear at first slow in my efforts I entreat you to believe that I am not the less sincere in my desire to see the blessings of Christianiy diffused among the lately acquired subjects of Great Britain.

It is not that my zeal for the propagation of the Gospel has abated but the peculiar circumstances of the case compel me to deliberate upon the steps that I am to take. But if the general character of the Kandyans is at present unfavourable to missionary operations, there is one superstitious notion prevalent among them of promising nature. It is currently received that there existed a close connection between the independence of the Kandyan Kingdom and the reign of Buddhism. Budha it is believed engaged to protect their Monarchy against all foreign power or influence; but they are now become the subjects of an European Prince, the promise is violated and the reliance upon Budha is at an end.

I do indeed, My dear Sir, look forward with anxious hope to the time, when after a mutual Confidence has been cemented between the British Government and our Kandyan Subjects, a better system of Education, and an effectual Introduction of the Gospel, will produce the downfall of Buddhist Superstition, and of the still more vile and degrading Idolatry of Demon worship."

# V උපග්‍රන්ථය

## මහනුවර නායකකම් පවරන ඔප්පුව

ශ්‍රී ශාක්‍ය මුනීන්ද්‍ර සුගත තථාගත ශ්‍රී දංෂ්ට්‍රා ධාතුශ්‍රීන් විරාජමාන වූ ශ්‍රී සෙංඛණ්ඩ ශෛලාභිධාන ශ්‍රීවර්ධනපුර ප්‍රවරාභ්‍යන්තරයෙහි සුප්‍රතිෂ්ඨිත උපෝසථ පුෂ්පාරාම විහාරයෙහි මහා නායක ස්ථවිර ප්‍රමුඛ අනුනායක කාරක මහා සංඝසභාවේදීය.

ශ්‍රීමත් ශ්‍රීඝණ සුගත තථාගත ශ්‍රී සද්ධර්මවර චක්‍රවර්ති ස්වාමි වූ අප තිලෝගුරු සම්‍යක් සම්බුද්ධ සර්වඥ රාජෝත්තමයාණන් වහන්සේ පිරිනිවී දෙසිය සතිස්වන්නෙහි දඹදිව අග්‍ර රාජ්‍යාභිෂෙකලත් ධර්මාශෝක මහරජාණන් පුතනු වූ මහා ක්ෂිණාශ්‍රව මිහිඳු මාහිමියාණන් වහන්සේ මෙම ශ්‍රී ලංකාද්වීපයට වැඩ ලක්දිව රජ පැමිණි දෙවනපෑතිස් මහරජතුමන්ගේ සහායත්වයෙන් සුවිශුද්ධ බුද්ධශාසනය මෙම ලක්දිව ප්‍රතිෂ්ඨාපනය කළතැන් පටන් සර්වඥශාසනය අතිනිර්මලව පැවති එක්තරා මෑත භාගයෙහි ශාසන විනාශකාරී වූ සීතාවක රාජසිංහ රජු හා ප්‍රතිකාල් රජුන්ගේ අධාර්මික දූර්නීති ආදියෙන් බුදු සසුනේ පිරිහීගොස් ලංකාද්වීපයෙහි එක උපසම්පදා නමකුදු නැතිව දිවාකර විරහිත නභස්තලය මෙන් අදීප්‍යමානව තිබෙනා අතර විශුද්ධ බුද්ධාංකුර උත්තම බෝධිසත්ව චරිතාධ්‍යාංශයානුකූල දශදිගන්තර ව්‍යාප්ත කීර්ති ප්‍රබන්ධ බන්ධුර ක්ෂීරාණීව ප්‍රතිභාග වූ උතුම් කීර්ති ශ්‍රී රාජසිංහ භූපාලෝත්තමයාණන් ලක්දිව අග්‍ර රාජ්‍ය ශ්‍රී පදප්‍රාප්තව තමන්වහන්සේගේ කල්‍යාණ මිත්‍ර භාවෝපගත ශීලධෘතව්‍රතාල්පෙච්ඡතාදි නෛකගුණ රත්නරත්නාකරායමාන වූ උතුම් වැලිවිට අසරණසරණ සරණංකරාභිධාන සංඝරාජ ධුරන්ධරොත්තමයාණන් වහන්සේගේ සෙවණ භාජන පර්යුපාසන සම්භාෂණාදීන් හා සද්ධර්මශ්‍රවණාදීන්

ජනිත ශ්‍රද්ධා පූර්වාංගම චිත්තාරවින්ද ප්‍රබෝධව සුවිශුද්ධ බුද්ධශාසනය හොබවමැයි යන උදාරතර කරුණාධ්‍යාශයෙන් යුක්තව අපමණ මාහැඟි පඬුරු පාක්කුඩම් දඹදිව අයෝධ්‍යපුරාධීශ්වර පරම ධාර්මික මහාරාජෝත්තමයාණන් වෙත යවා ප්‍රවර උපාලි මහාස්ථවිර ප්‍රමුඛ අතිරේක දශවර්ගික මහා සංඝයා වහන්සේ මෙම සෙංඛණ්ඩ ශෛලාභිධාන ශ්‍රී වර්ධනපුර ප්‍රවරයට වැඩමවා පුෂ්පාරාම විහාරයෙහි අභිනව කරවන ලද මංගලෝ පෝෂථාගාරයෙහි දී බොහෝ කුලදරුවන් මහණ මහලු පැවිදිකරවා මෙම ලංකාද්වීපයෙහි සර්වඥ ශාසනාභිවෘධි වර්ධන කළතැන් පටන් නිර්මලව පැවතගෙන එන අතර ශ්‍රී සුගත වර්ෂයෙන් දෙදාස් තුන්සිය සතලිස් වැන්නෙහි (2340) ලංකා රාජ්‍ය ශ්‍රී පදප්‍රාප්ත ශ්‍රී වික්‍රම රාජසිහ භූපාලෝත්තමයාණන් සත්පුරුෂාමාත්‍ය සංසෙවනාදියෙන් දුරුව අසත් පුරුෂ බාලජන සංසර්ගයෙන් යුක්තව අධර්ම බහුලව වසන කල්හි ක්‍රිස්තු වර්ෂයෙන් එකදාස් අටසිය පසළොසක් (1815) වූ මාර්තු මස විසිදෙ (22) වැනි දිනදී උතුම්වූ ඉංග්‍රීසි කිරීටයට ලංකාරාජ්‍යය සහ බුද්ධාගමත් භාරවෙන්ට යෙදී පුරාණ සිරිත් චාරිත්‍රාදී සියල්ල ම නොකඩකොට මෙම බුද්ධ ශාසනය ඉංග්‍රීසි ආණ්ඩුව විසිනුත් හොඳාකාර පවත්වාගෙන අවුත් ක්‍රිස්තු වර්ෂයෙන් එක්දාස් අටසිය සතලිස් හතක් (1847) වූ ජූලි මස විසි දෙවෙනි (22) දින දී බුද්ධාගමේ පැවතගෙන ආවා වූ සෑම බලපුළුවන්කම් ම ස්ථිරව පවත්වා ගැනීමට ආණ්ඩුවෙන් කිසිම තහනමක් නැතැයි කියා ආණ්ඩුවට බැඳී තිබුණ ආගම සම්බන්ධ බලය නොහොත් මේ වෙනුවට තිබුණ මැදහත්කම මෙම සෙංකඩගල මහනුවර රජවාසලදී නෛකශ්‍රීන් විරාජමාන වෛකවුන්ට් ටොරින්ටන් ගරුතර ලංකාණ්ඩුතුමානන් විසින් අපට භාරදෙන ලදින් එම බලය කරණකොටගෙන ..............................................................

..................................................................................................

සංඝනායක පදවිය ....................................... ...............................

........................ ...................................................................ට

ලැබෙනා හැටියට ඒ පලාත්වාසී සංඝයාවහන්සේ මෙම කාරක මහා සංඝසභාවෙන් ඉල්ලා සිටින නිසාත් ...................... ................

තැන ප්‍රව්‍රජිතයන් විසින් පිළිපැද්ද යුතු ධර්මවිනය දැනගත් කමින්

ද සුපේෂල ශික්ෂාකාමී සත්පුරුෂ සාධාරණකමින් ද යුතු කල්ක්‍රියා ද මෙබඳු තනතුරක් දැරීමට යෝග්‍යව සිටිනා නිසාත් අපේ සභාසම්මතයෙන් යථෝක්ත ..................... ..................... ..................... ..................... ..................... ..................... අපේ කැමැත්ත තිබෙනාතුරු එම ධුරයේ කටයුතු සිද්ධකරණ ලෙස එම සංඝනායක පදවියට පත්කරන්ට යෙදුණා ඇත.

එම නිසා මේ නායක...... උතුම් වූ ඉංග්‍රීසි ආණ්ඩුවට සහ අප මහා සංඝසභාවට ද සුපක්ෂව සුවචව ඒ පළාතේ පුෂ්පාරාම විහාර පාර්ශ්වයට ඇතුළත් සෑම සංඝයාට ම ධර්ම විනයානුකූලව අවවාදානුශාසනය කරමින් අප්‍රතිපත්ති දුෂ්ප්‍රතිපත්තීන් යුක්ත යම් ශ්‍රමණ කෙනෙක් වී නම් එවැන්නන් දුෂ්ප්‍රතිපත්තියෙන් අත්හරවා යුතුවූ පිළිවෙතෙහි හසුරුවමින් ..................... ............. ..................... නොවෙනස්ව සමගියෙන් යුක්තව පවතින්ට ඕනෑවාත් ඇර එම පලාත්වැසි අපේ විහාර පාර්ශ්වයට ඇතුළත් සංඝයා අතුරෙන් කොයියම් කෙනකුන් නමුත් උතුම් වූ ඉංග්‍රීසි ආණ්ඩුවට සහ අපේ ආගම චාරිත්‍රවලටත් විරුද්ධව කරන කියන සේ අසන්ට යෙදෙන රාජද්‍රෝහිකම් ද වංචා වූ නපුරු වූ සමාගම්වීම් ද සම්පූර්ණයෙන් සොයා බලා එවැන්නක් දැනගත් විට පුළුවන් කඩිනමින් ආණ්ඩුවට සහ අපට ද නිසි ආකාර දන්වා දෙන්ටත් ඕනෑය.

තව ද මෙම නායකපදවියට ඇතුළත් පුෂ්පාරාම විහාර පාර්ශ්වයේ සෑම මහණුන්නාන්සේලා විසින් මෙම ............................. ..................... ................. ..................... ..................... නායක ..................... .....................ධර්ම විනයානුකූලව ලැබෙන සෑම අවවාද අනුශාසනාම හොඳින් පිළිගනිමින් මෙම නායක .................ට මේ නිසා පවත්වන්ට ඕනෑවූ පුරාණ සිරිත් චාරිත්‍රානුගත සෑම ගරු නම්බුද නොවරදවා පවත්වන ලෙසටත් මෙයින් බරපතළ ලෙස සංඝාඥා කරන්ට යෙදුණා ඇත.

මෙසේ නියම කොට මේ ඔප්පුව ලියවා අපේ අත්සන් පිහිටුවා ................................................................................................................... දෙන්ට යෙදුණේ අපගේ ස්වාමි වූ සර්වඥරාජෝත්තමයාණන් වහන්සේගේ වර්ෂ ප්‍රමාණයෙන් දෙදහස් හාරසිය .........................

පැමිණි මෙම වර්ෂයෙහි .................. මස ....................... තිථියලත් ............ දින නොහොත් ක්‍රිස්තු වර්ෂයෙන් එක්දාස් නවසිය ............ ක් වූ. ......................... මස................. වැනි දිනදීය.

ඒ වගත් මෙසේ මඃ-

මහනුවර උපෝසථ පුෂ්පාරාම විහාරයෙහි අනුනායක ස්ථවිර ප්‍රමුඛ කාරක මහා සංඝ සභාවේ කැමැත්ත ද ඇතුව අත්සන් කළේ මහනුවර උපෝසථ පුෂ්පාරාම විහාර පදවිය ලැබී කරවන.................................................... ස්‍යාමෝපාලි මහා නිකායේ මහානායක ස්ථවිරයන්වහන්සේ වම්හ.

* නායක තනතුරු සහ රජයේ - අන්‍යෝන්‍ය [illegible]
[illegible] ප්‍රධාන
[illegible] තනතුරු.

* [illegible] නායක තනතුරු [illegible]
සංඝ [illegible] colonial period [illegible]
[illegible] නායක තනතුරු [illegible]
[illegible].

* [illegible] මහනුවර නායක තනතුරු සහ
[illegible] රජයේ - [illegible]
[illegible]
[illegible] තනතුරක්ද?

* Creating particular ranks or positions amongst the Sangha led the ~~de~~ fragment of the Society of the bhikkhu

(?)

## සූචි

# INDEX